කොලුවා ගේ නම සන්තියාගෝ ය. තම බැටළු රංචුවත් දක්කාගෙන, අතහැර දමන ලද පල්ලිය වෙත ඔහු ළඟා වෙන විට ගොම්මන් අඳුර වැටෙමින් පැවතුණි. පල්ලියේ වහල බොහෝ කලකට ඉහත බිඳවැටී, වරෙක පූජා භාණ්ඩ තැබීම සඳහා වූ අල්තාරය පැවති ස්ථානයෙහි විසල් 'සිකමෝර්' පඳුරු වැවී තිබුණි.

රාත්‍රිය එහි ගත කිරීමට ඔහු තීරණය කළේය. නටබුන්ව ගිය ගේට්ටුව තුළින් සියලුම බැටළුවන් ඇතුලු වූ බවට වග බලා ගත් ඔහු රාත්‍රියේ දී උන් ඉබාගාතේ යාම වැළැක්වීම පිණිස, ලෑලි කීපයක් දමා ගේට්ටුවද හරස් කළේය. එම පලාතේ වෘකයන් නොසිටි නමුත්, යම් හෙයකින් රාත්‍රියේ දී එක සතෙකු හෝ අයාලේ ගියහොත් ඌ සොයා ගැනීමට ඊළඟ මුළු දවසම කැප කිරීමට කොලුවාට සිදුවනු ඇත.

තම කබායෙන් පොළොව පිස දැමූ ඔහු මේ දැන් කියවා අහවර කළ පොත කොට්ටයක් සේ තබාගෙන බිම වැතිරුණේය. ප්‍රමාණයෙන් වඩා ලොකු පොත් කියවීම ආරම්භ කළ යුතු යැයි ඔහු තමාටම කියා ගති. එවන් පොත් බොහෝ කාලයක් තිස්සේ කියවිය හැකිවා සේම වඩා සුවබර කොට්ටයක් ලෙසද භාවිතා කිරීමට පිළිවන.

ඔහු අවදි වෙන විටද අඳුර පහව ගොස් නොතිබුණි. දෙනෙත් ඉහළට යොමු කළ ඔහුට අඩක් වැනසුන වහලය අතරින් තාරකා දක්නට හැකි වුණි.

"තව ටිකක් වෙලා නිදාගන්නයි මට ඕනෑ කළේ" යි ඔහු කල්පනා කළේය. සතියකට පෙර දී මෙන්ම මෙම රාත්‍රියේදී ද එකම සිහිනය යළිත් වරක් ඔහුට පෙනුන අතර මේ වතාවේදීත් එහි නිමාවක් දකින්නට පෙර ඔහු අවදි වෙලාය.

නැගිටගත් ඔහු කෙවිට අතට ගෙන ඒ වන විටද නින්දේ පසු වූ බැටළුවන් අවදි කිරීමට පටන් ගති. ඔහුට එවිට පෙනුණේ එම සතුන්ගෙන් බොහෝමයක් ඔහු අවදි වෙනවාත් සමගම අවදි වෙන්නට පටන් ගෙන ඇති බවය. එය හරියට පසුගිය දෙවසරක කාලය මුළුල්ලේ කෑම හා වතුර සොයා, ගම්බද ප්‍රදේශයන් හරහා ඔහු විසින් දක්කා ගෙන යන ලද මේ බැටළුවන් හා ඔහුගේ ජීවිතය කිසියම් ගුප්ත බලයකින් බැඳී තිබෙන්නාක් මෙනි. "මුන් මට මොන තරමක් හුරුවෙලාද කිව්වොත් මගෙ වැඩ සටහන මොකක්ද කියලත් උන් දන්නවා," ඔහු මිමිණීය. ඒ පිළිබඳව මොහොතක් කල්පනා කළ ඔහු කාරණය අනික් අතටද, එනම්, තම කාල සටහනට උන් නොව, උන්ගේ කාල සටහනට අනුව තමා හැඩ ගැසී ඉන්නවා වෙන්නටද බැරි නැතැයි වටහා ගත්තේය.

එහෙත්, අවදි වීමට මදක් වැඩිපුර වෙලා ගත් සත්තුද ඒ අතර සිටියහ. සෑම සතෙකුටම නම කියා කතා කරමින් හා කෙවිටි කරමින් කොලුවා උන් අවදි කළේය. හැම විටම ඔහු විශ්වාස කළේ තමා කියන්නක් බැටළුවන්ට හොඳින් වැටහේය කියාය. තම සිතට බලපෑමක් ඇති කළ පොත් වලින් යම් යම් තෝරා ගත් කොටස් මේ සතුනට ඇහෙන්නට කියවූ හෝ, තණබිම් අතර දී එඬේරුන්ට දැනෙන්නා වූ හුදකලාව හා සන්තෘෂ්ඨිය ගැන උන්ට කියා දුන් සමහර අවස්ථාවන්ද තිබුණි. ඔවුන් විසින් පසුකරන ලද ගම්මාන වලදී දුටු දේවල් පිළිබඳවද ඔහු ඇතැම් විටෙක මේ සතුනට පැවසීය.

එහෙත් ගෙවුන දින කීපයේදී නම් ඔහු මේ සතුන් හා කතා කර තිබුණේ එකම එක දෙයක් ගැන පමණි. එනම්, තව සිවු දිනකින් ඔවුන් ළඟාවීමට නියමිතව ඇති ගමේ ඉන්නා වෙළෙන්දාගේ දියණිය පිළිබඳවය. ඔහු මීට පෙර ඒ ගමට ගොස් තිබුණේ එකම එක වතාවකදී පමණි. ඒ ද ගෙවුණු වසරේ දී ය. රෙදි පිළි වෙළඳ සැලක හිමිකරුවෙකු වූ ඔහු තමාව රැවටීමට නොහැකිවන සේ බැටළුවන් ගේ ලොම් කප්පාදුව හැම විටම තමා ඉදිරිපිටම කළ යුතු යැයි කොලුවාට දැඩිසේ කියා සිටියේය. මෙම වෙළඳ සැල පිළිබඳව යාලුවෙකුගෙන් අසා තිබූ හෙයින් කොලුවා තම බැටළු රංචුව එහි රැගෙන ගියේය.

"මට ලොම් ටිකක් විකුණාගන්න ඕනෑ." කොලුවා වෙළෙන්දාට කීය.

වෙළඳ සැල සෙනඟින් පිරී තිබුණෙන් සැන්දෑවෙන තුරු ඉඳින්නැයි වෙළෙන්දා එඬේරාගෙන් ඉල්ලා සිටියේය. එහෙයින් වෙළඳ සැලෙහි ඉදිරිපිට පඩිය මත හිඳගත් කොලුවා තම ඔලොගුවෙන් පොතක් එළියට ගති.

"එඬේරු කියවන්නත් දන්නවයි කියල මං දැනං උන්නෙ නෑනෙ." ඔහු පසුපසින් කෙල්ලකගේ හඬ මතුවුණි.

කාල වර්ණ කේශ කලාපය මුදා හැර සිටි කෙල්ල අන්දාලූසියා පළාතේ නියම ආදර්ශයක් වූ අතරම ඇගේ දෑස් ගෙන ආවේ මරක්කල ආක්‍රමණිකයන් පිළිබඳ නොපැහැදිලි හැඟීමකි.

"හොඳයි, සාමාන්‍යයෙන් මං පොත්වලට වඩා යමක් බැටළුවන්ගෙන් ඉගෙන ගන්නවා." ඔහු පිළිතුරු දුන්නේය. දෙදෙන අල්ලාප සල්ලාපයේ යෙදී හුන් දෙපැයක කාලය තුළ දී තමා වෙළෙන්දාගේ දියණිය බව හඳුන්වා දුන් ඇය සෑම දිනක්ම එක වාගේ ගෙවී යන ඒ ගමේ ජීවිතය පිළිබඳව

ඔහුට පවසා සිටියාය. එඬේරාද අන්දාලුසියාවේ ගම්බද ප්‍රදේශ ගැන හා ඔහු නතර වී හුන් අනිකුත් නගරවලට සම්බන්ධ විවිධ පුවත්ද ඇයට කියා දුන්නේය. බැටළුවන් සමඟින් කතාබහ කිරීම හා සසඳන කල මේ වනාහි ළමයාට නම් බොහෝ ප්‍රසන්න වෙනසක් වීය.

"කොහොමද ඔයා අකුරු කියවන්න ඉගෙන ගත්තෙ?" එක් අවස්ථාවකදී ඇය විමසා සිටියාය.

"ඉස්කෝලෙදි."

"හොඳයි, එහෙනං කියවන්නත් ඔච්චර දන්න එකේ ඇයි ඔයා නිකම්ම නිකම් එඬේරෙක් වුණේ?"

ඇගේ පැනයට ප්‍රතිචාර නොදක්වා ගැලවීම සඳහා අවසර ලැබෙන පරිදි ඔහු යමක් හෙමින් මිමිණීය. කෙල්ල එය වටහා නොගන්නා බව ඔහුට සහතිකය.

දිගින් දිගටම ඔහු ඇයට තමාගේ සංචාරයන් පිළිබඳ කතා පවසද්දී, ඇගේ දීප්තිමත්, මරක්කල දෑස බියෙන් හා විශ්මයෙන් පුළුල්ව ඇරී ගියේය. කාලය ගෙවී යන විට, මෙම දවස කිසි විටකත් ගෙවී නොයේවා යි ද, ඇගේ පියාට වැඩ වලින් ඉස්පාසු නැතිව ගොස් තමාව දින තුනක් රඳවා ගැනීමට සිදු වේවායිද තම යටි හිත ප්‍රාර්ථනා කරන බවත් කොලුවාට දැනුණි. එසේම, මින් පෙර කිසිම දිනෙක අත් නොවින්දා වූ යම් කිසි හැඟීමක් දූන් දූන් දැනෙන්නට පටන් ගෙන ඇති වගත් ඔහු වටහා ගත්තේ ය. ඒ වනාහී එකම ස්ථානයක නැවතී, ජීවිතය සාමකාමීව පවත්වාගෙන යාමෙ ආශාවයි. කාල වර්ණ, දිලිසෙන කෙස් කළඹක් හිමි මේ කෙල්ලගේ හමුවෙන් පසුව යළිත් තම කිසිම දිනකත්, ඔහුගේ ජීවිතය කලින් පැවතියාක් මෙන් නොවනු ඇත්තේය.

*  *  *

යළිත් වරක් එම ගම්මානය කරා ළඟාවීම සඳහා ඔහුට ඇත්තේ තව දින හතරක ගමන් දුරක් පමණි. දැන් ඔහු බෙහෙවින්ම කැළඹීමට පත්ව සිටි අතර අසහනයටද පත්ව සිටියේය. සමහර විට ගැහැණු ළමයාට ඔහු පිළිබඳ මුළුමනින්ම අමතකව ගොස් ඇතුවා වෙන්නත් බැරි නැත. ලොම් අලෙවි කරමින්, බොහෝ එඬේරුන් මේ කාලය තුළ ගම පසුකර ගොස් තිබේ.

"ඉතිං, ඒකට ඇති කාරියක් නෑ." ඔහු බැටළුවන්ට කීවේය. "මං දන්න ඕන තරම් ගෑණු ළමයි ඉන්නවා තවත් තැන්වල."

එසේ කීවද, ඇත්තටම එහි යම්කිසි 'කාරියක්' ඇති බැව් ඔහු ඇතුල් හදින් වටහා ගෙන සිටියේය. යාත්‍රිකයන්, සංචාරක වෙළෙඳුන් මෙන්ම එඬේරුන්ද, හැම විටම තම බර බද්දල් වලින් නිදහස් සංචාරයන්ගෙන් අත්වන්නා වූ සතුට අමතක කරවීමට සමත් යමකු වෙසෙනා නගරයක් සොයා ගන්නා බැව්ද ඔහු දැන සිටියේය.

දවස උදාවෙමින් පැවතියෙන්, එඬේරා තම බැටළු රංචුව යුහුසුළුව නැගෙනහිර බලා දක්කන්නට පටන් ගත්තේය. "උන්ට කොයිම වෙලාවකවත් තීරණ ගන්න ඕන වෙන්නෙ නෑ." ඔහු කල්පනා කළේය. "සමහර විට ඒ නිසාම වෙන්නැති උන් මට මේ තරමටම කිට්ටුත්."

බැටළුවන්ගේ සැලකිල්ල යොමුවූ එකම දෙය වූවේ ආහාර හා ජලයයි. එහෙයින්, අන්දාලූසියා වේ හොඳම තණ බිම් සොයා ගැනීමට කොලුවා සමත් වෙන තුරු උන් ඔහුගේ

මිතුරන් වෙනු ඇත. ඔව්, අරුණෝදය හා ගොම්මන අතර, කිසිදු අවසානයක් නැති සේ පෙනුනා වූ හෝරාවන් මැද උන්ගේ හැම දවසක්ම ඒකාකාරී වූ අතරම, තුරුණු වියේ දී කිසිම පොත පතක් නොකියවූ උන්, කොලුවා නගර පිළිබඳ පවසන විට ඒ කිසිත් වටහා ගත්තේද නැති. ලැබුණා වූ ආහාර හා ජලයෙන් පමණක්ම සෑහීමට පත් වූ උන් හිලව්වට උන්ගේ ලොම්, හා සමාගමයද ජීවිතයේ එකම එක අවස්ථාවකදී ලේ මස් ද නිර්ලෝභීව පරිත්‍යාග කළෝය.

"බැරි වෙලාවත් හෙම මං අද මහ නරුමයෙක් වෙලා මුන් ටික ඔක්කොම එක එකා මරන්න තීරණය කළත්, මුන් ඒ ගැන දැන ගන්නෙ රංචුවෙන් වැඩි හරියක් මරා දැම්මටත් පස්සෙයි." කොලුවා කල්පනා කළේය. "උන් මාව කොච්චර විශ්වාස කරනවද කිව්වොත් උන්ගෙ සහජ ඉව ගැන විශ්වාස කරන්නෙ කොහොමද කියන එක පවා අමතක වෙලා. වෙන මොකුත් නිසා නෙමෙයි, මං උන්ව සනීපෙට සැපට ඇති දැඩි කරන හින්දයි."

කොලුවා තමාගේම සිතුවිලි පිළිබඳව පුදුමයට පත් වුණි. අතන මෙතන සිකමෝර් පඳුරු වැඩුනාවූ මෙම පල්ලිය අමනුස්ස වාසයක් විය යුතුමය. දෙවෙනි වරටත් එකම සිහිනය දකින්නත්, තම විශ්වාසවන්ත සගයන් කෙරේ ක්‍රෝධ උපදවන්නත් හේතුවී ඇත්තේ එම බලපෑම විය යුතුය. පෙරදා රාත්‍රී කෑම වේලෙන් ඉතිරිව තිබූ වයින් වලින් ටිකක් බිවූ ඔහු කබාය තම සිරුරට ළං කර ගති. තව පැය කීපයකට පසු හිරු මුදුන් වූ විට දාහය දරාගත නොහැකි තරමට දැඩිවෙනු ඇති අතර එවිට කෙත්වතු මැදින් බැටළු රංචුව දක්කාගෙන යාමට තමා නොසමත් වෙනු ඇතැයිද ඔහු දැන සිටියේය. ග්‍රීෂ්ම කාලයත් හි දී සියලුම ස්පාඤ්ඤයන් නින්දට යන වේලාව එයයි. ඊ බෝවෙන තුරුම අධික දාහය පැවතුණු හෙයින් ඒ මුළු කාලය පුරාම ඔහුට තම කබාය අතේ ගෙන

යාමට සිදු විය. එහෙත් කබායේ බර පිළිබඳව මැසිවිලි නගන්නට සූදානම් වෙන විටම ඔහුට සිහි වූයේ උදෑසන ඇතිවන ශීතය දරා සිටීමට තමාට පිහිට වනු ඇත්තේද මේ බර පොදියම බවයි.

"අපි වෙනස්කම් වලට හුරු වෙන්න ඕනෑ." ඔහු කල්පනා කළේය. එසේම කබායේ බර මෙන්ම ඉන් ලැබෙන්නාවූ උණුසුමටද ඔහු කෘතඥ විය.

ඔහුගේ කබායට අරමුණක් තිබුණි. ඔහුටද එසේමය. ඔහුගේ ජීවිතයේ අරමුණ වූවේ සංචාරයයි. අන්දාලුසියා ප්‍රදේශය හරහා කළ දෙවසරක සංචාරයකින් පසුව ඔහු ඒ පළාතේ වූ සියලුම නගර පිළිබඳව හොඳින් දැන උන්නේය. මෙවර ගමනේදී ඔහු සූදානම් වෙමින් උන්නේ තිකම්ම නිකම් එඬේරෙකු කියවන්නට දැන උගත්තේ කෙසේ දැයි ගැහැණු ළමයාට වටහා දෙන්නටය. වයස දහසය වන තුරු ඔහු උන්නේ සෙමනේරියකය. දෙමාපියනට, තම දරුවා පූජකයෙකු කිරීමටත්, එමගින් සරල ගැමි පවුලකට ආඩම්බර විය හැකි මඟක් ඇතිකර ගැනීමටත් වුවමනා වී තිබුණේය. මහන්සි වී වැඩ කළද ඔවුනට ඉන් ලැබුණේ බැටළුවන්ට මෙන්ම යාන්තමට කෑම බීමට පමණක් සෑහෙන සොච්චමකි. ඔහු සෙමනේරියේදී ලතින්, ස්පාඤ්ඤ හා දේව ධර්ම ශාස්ත්‍රය උගත්තේය. කෙසේ වෙතත් ළමා වියේ සිටම ඔහුට ලෝකය ගැන දැන ගැනීමට ඇවැසි වූ සේම, දෙවියන් වහන්සේ ගැනත්, මිනිසාගේ පව් ගැනත් දැන ගැනීමට වඩා එම අරමුණ ඉතා වැදගත් වුණි. තම පවුලේ උදවිය දැක බලා ගැනීමට නිවසට ගියා වූ එක් සැන්දෑවකදී කොලුවා තමාට පූජකයෙකු වීමට කිසිම අවශ්‍යතාවක් නැති බව පියා හට පැවසීමට තරම් දිරියක් උපදවා ගත්තේය.

ඔහුට උවමනා වූවේ සංචාරයේ යෙදීමටය.

* * *

"ලෝකේ හැම දිග්බාගෙන්ම එන මිනිස්සු මේ ගම පහු කරගෙන යනවා පුතේ." ඔහුගේ පියා කීවේය. "ඒ හැම කෙනෙක්ම එන්නෙ අලුත් අලුත් දේවල් අරගෙන. හැබැයි මෙහෙන් පිටවෙලා යන කොටත් මූලික වශයෙන්ම ඒ ගොල්ල මෙහෙට එනකොට හිටපු මිනිස්සුම තමයි. මාළිගාව දැක බලා යන්න කන්දට නගින මිනිස්සු තමන්ගෙ ගමන නවත්තල දාන්නෙ පවතින වර්තමානයට වඩා අතීතය හොඳයි කියල හිත හිතා. දුඹුරු කෙස්, කළු හම තිබ්බය කියලා වෙනසක් නෑ. ඒ මිනිස්සුත් මෙහෙ ජීවත් වෙන අය වගේම තමයි."

"ඒත්, මං කැමතියි ඒ මිනිස්සු ජීවත් වෙන නගරවල තියෙන මාළිගාවලුත් දැක බලා ගන්න." කොලුවා තම අදහස පැහැදිලි කළේය.

"ඔය මිනිස්සු, අපේ ගම් රටවල් දැක්කම කියන්නෙ සදහටම මෙහෙ ජීවත්වෙලා ඉන්න හිතෙනව කියලයි." පියා දිගටම කතා කරගෙන ගියේය.

"හොඳයි, ඒකට කමක් නෑ. ඒත් මං කැමතියි ඔය කියන මිනිස්සුන්ගෙ ගම් රටවල්, ජීවත්වෙන තාලෙ මගේම ඇස් දෙකෙන් දැක බලා ගන්න." පුතා තවදුරටත් පැවසුවේය.

"මෙහෙට එන මිනිස්සු ළඟ වියදම් කරන්න ඕනෑ තරම් කාසි කන්දරාවක් තියෙනවා. ඒ හින්දා ඔවුන්ට පුළුවනි ගමන් වියදම් උහුල ගන්න." ඔහුගේ පියා කීවේය. "අපි අතරින් අරං බැලුවොත් ඉතිං, රට රාජ්ජවල සංචාරෙ කරන්නෙ එඬේරු විතරමයි."

"හරි ෂෝක්! එහෙම නං මම එඬේරෙක් වෙනවා."

ඔහුගේ පියා වෙනත් කිසිම දෙයක් නොකීවේය. පසු දිනකදී, ඔහු තම පුතා අතට පැරණි ස්පාඤ්ඤ රන් කාසි තුනක් බහාලූ පසුම්බියක් දුන්නේය.

"එක දොහක මට මේවා හම්බ වුණා කුඹුරක තිබිලා. මට ඕනෑ වුනේ මේවා ඔයාගේ උරුමයේ කොටසක් කරන්නයි. ඒ නිසා මේකෙන් බැටළු රංචුවක් අරගන්න. උන්වත් දක්කාගෙන කෙත්වතු වලට යද්දි, කවදාම හරි දවසක, මේ ලෝකෙ තියෙන හොඳම තැන අපේ ගම් පළාතය, ලස්සනම ගෑණු අපේ උන්ය කියන ඇත්ත ඔයා ඉගෙන ගනීවි."

මෙසේ ඔහු තම ආශිර්වාදය කොලුවාට පිරිනැමීය. කෑමට යමක්, බීමට වතුර, නින්දට හැමදාමත් එකම තැන යන මේවා උදෙසා කෙරුණා වූ නිරන්තර ජීවන අරගලයේ බර පොදියෙන් තැලෙමින්, ලොව පුරා සැරි සැරුමේ ආශාව වසර ගණනක් තිස්සේ වලලා දැමීමට සිදුව තිබියේ වී වුවද, එම නොතිත් ආශාව තවමත් තම පියාගේ හද තුළ පණ ගැහෙනා බව පියාගේ දෑසේ වූ බැල්ම තුළින් මේ මොහොතේදී දකින්නට කොලුවාට පුළුවන්කම ලැබුණි.

* * *

සිතිජයෙහි රත් පැහැය තැවරී, හදිසියෙන්ම හිරු දර්ශනය විය. සිය පියා සමඟින් කළ කතා බහ යළි මෙනෙහි කළ කොලුවාට ඉන් ප්‍රීතියක් දැනුනේ ඔහු දැනටමත් බොහෝ මාළිගා දැක ඇති නිසා මෙන්ම බොහෝ කාන්තාවන්ද හමුව සිටි නිසාවෙනි. එහෙත් එම එකම කාන්තාවක් වත් තව දින කීපයක ගමන් දුරකට එපිටින් ඔහු බලාපොරොත්තුව

හිඳිනා එකිය හා සම නොවේ. දැන්, කබායත්, වෙනත් පොතක් වෙනුවෙන් හුවමාරු කළ හැකි පොතක්, හා බැටළු රංචුවක් ඔහු සතුය. වඩාම වැදගත් දෙය නම් හැම දවසකම තම සිහිනය අමතක කර දැමීමට ඔහු සමත් වී ඇති බවයි. ඉදින් යම් විටෙක අන්දාලුසියාවේ කුඹුරු යායවලින් වෙහෙසට පත් වුණි නම්, බැටළු රංචුව විකුණා දමා මුහුදුබඩට යාමට ඔහුට පුළුවන්කම තිබුණි. මුහුදුබඩත් එපා වෙන අවස්ථාව ආ විට ඔහු අනෙකුත් බොහෝ නගර හා කාන්තාවන් පිළිබඳව දැනගෙන සිටිනු ඇති අතරම සතුට ළඟා කර ගත හැකි වෙනත් අවස්ථාද දැනගනු ඇත්තේ ය. "සෙමනේරියේදී මට දෙවියන් වහන්සෙ මුණ ගැහෙන්න පුළුවන් වුනේ නෑ." ඉර උදාව දෙස බලා ඉන්නා ගමන් ඔහු කල්පනා කළේ එසේය.

හැකි සෑම විටම හේ, සංචාරය සඳහා නව මාර්ගයක් සොයා ගත්තේය. බොහෝ වාර ගණනාවක් මෙම ප්‍රදේශ හරහා ගොස් තිබුණද නටබුන් වූ පල්ලියට නම් මීට පෙර කිසිම දිනෙකවත් ඔහු ගොස් තිබුණේ නැත. ලෝකය බෙහෙවින් විශාලය. ඔහු කළ යුතුව තිබුණේ ටික වෙලාවකට තම බැටළු රංචුවට රිසි සේ යාමට ඉඩ හැරීමයි. එවිට ඔහු අනෙකුත් සිත් ඇදගන්නා සුළු සොයා ගැනීම් වල නිරත වෙනු ඇත. ප්‍රශ්නය නම් තමා හැමදාමත් අලුත් මාවතක යන බව මේ සතුන් අඩු ගණනේ තේරුම් නොගැනීමයි. කුඹුරු යායවල් අලුත් බවද, ඍතූන් වෙනස් වෙන බවද උන්ට පෙනුනේ නැත. උන්ගේ කල්පනාවට අසු වූ දෙය කෑම හා වතුර පමණි.

"සමහරවිට අපි ඔක්කොම එක වගේ වෙන්න ඇති." කොලුවා කල්පනා කළේය. "මං වුනත්.... වෙළෙන්දගේ දුවව මුණ ගැහුණ දා ඉඳලා මං වෙන ගෑණු ගැන කල්පනා කළේ නෑ." ඉර දෙස බලන ගමන් සිතින් ගණන් හදා බැලූ ඔහු මද්දහන වීමට පෙර තමාට ටාරිෆාවට ළඟා විය හැකි

බව තහවුරු කර ගත්තේය. එහිදී ඔහුට තම පොත වෙනුවට වඩා ලොකු පොතක් මාරු කර ගන්නට, වයින් බෝතලය පුරවා ගන්නට, රැවුල කොණ්ඩය කපා ගන්නට පුළුවන. එසේම ඔහු ගැහැණු ළමයා බැලීමට යාම සඳහා ද සූදානම් විය යුතුය. වඩා විශාල බැටළු රංචුවක් හිමි එඬේරෙකු ඔහුට කලින් එහි ගොස් ඇගේ අත පතා සිටීමට ඇති ඉඩකඩ ගැන කල්පනා කිරීමට ඔහුට උවමනාවක් නොවීය.

"ජීවිතය වඩාත් රසවත් වෙන්නෙ සිහිනයක් හැබෑවෙන්න තියෙන හැකියාව කියන කාරණය නිසයි." යළිත් වරක් ඉර දෙස බලා පය ඉක්මන් කරනා ගමන් ඔහු කල්පනා කළේය. එවිට හදිසියේම ඔහුට මතක් වූයේ සිහිනවල අරුත් කියා දෙන මහලු කාන්තාවක් ටාරිෆාවේ ඉන්නා බවය.

* * *

නාකි ගැහැණිය නිවස පිටුපස වූ කුටියක් වෙත කොලුවාව කැඳවාගෙන ගියාය. එම කුටිය ඇගේ සාලයෙන් වෙන් කර තිබුණේ වර්ණවත් බීක්කු අල්ලන ලද තිරයකිනි. කාමරයේ ලී බඩු, මේසයක්, පුටු දෙකක් හා යේසුස් වහන්සේ ගේ ශුද්ධ වූ හෘදයේ ප්‍රතිමාවකින් සමන්විත විය.

බිම හිඳගත් කාන්තාව කොලුවාගෙන්ද එසේ කරන ලෙස ඉල්ලා සිටියාය. අනතුරුව තම දෑතින් කොලුවා ගේ දෑත් අල්ලා ගත් ඇය නිසොල්මනේ යාඥා කිරීම ඇරඹුවාය.

එය අභිගුණ්ඨිකයන්ගේ යාඥාවක් මෙන් වී. කොලුවාට තම ගමන් වලදී හමු වූ අභිගුණ්ඨිකයන් පිළිබඳ අත්දැකීම තිබුණි. අභිගුණ්ඨිකයන්ද සංචාරයේ යෙදුනත් ඔවුන් හට බැටළු රංචු නොවීය. මිනිසුන් කීවේ මොවුන් මිනිසුන්

රවටමින් බඩ වියත රැක ගන්නා බවයි. තවද ඔවුන් හට යක්ෂයා සමඟ ගිවිසුමක් ඇති බවත් එහෙයින් ඔවුන් ළමයින් පැහැරගෙන තම අභිරහස් කඳවුරු කරා ගෙන ගොස් වහලුන් ලෙස තබා ගන්නා බවටත් කතාවක් පැවතුණි. තමාවද අභිගුණ්ඨිකයන් විසින් අල්ලා ගනු ඇතැයි මර බියක් ළදරු වියේදී ඔහු පෙලූ අතර දූන් මේ නාකි ගැහැණිය දැත් අල්ලාගත් විට ඔහු තුළ වූ ඒ ළදරු අවධියේ බිය යළිත් අළු ගසා දා නැගිට්ටේය.

"ඒත් මේ ගෑණි ළඟ යේසුස් වහන්සෙගෙ ශුද්ධ වූ හදවත තියෙනව නෙ." තමාවම සනසා ගැනීමේ අටියෙන් ඔහු එසේ කල්පනා කළේය. දැත් වෙවුලන්නට පටන් ගෙන, තමා බියපත්ව ඉන්නා බවක් ගැහැණියට දූන ගන්නට ඉඩ හරින්නට නම් ඔහුට වුවමනා වූයේ නැති. එහෙයින් කොලුවා නිහඬවම 'අපගේ පියාණනි' යාඥාව කියවන්නට පටන් ගත්තේය.

"හරිම අපූරුයි නොවැ." කොලුවාගේ දැතින් දෑස් ඉවත්කර නොගෙනම කී කාන්තාව යළි නිහඬ වූවාය.

කොලුවා නොසන්සුන් වෙන්නට පටන් ගත්තේය. දැත් වෙවුලන්නට පටන් ගත් අතර මහලු කාන්තාවට ඒ බව දූනෙන්නට විය. එහෙයින් ඔහු හනිකට තම දැත් ඉවතට ඇද ගති.

"මං මෙතනට ආවෙ ඔහෙට කියල අත බලල සාත්තර කියවගන්න නෙමෙයි." මෙහි ඒම පිළිබඳව නැවෙමින් ඔහු කීවේය. යළි යළිත් පෙනුනාවූ, එසේම ඔහු මේ තරම් වැදගත්කමක් දූන්නා වූ තම සිහිනය තෝරා බේරා ගැනීම අතහැර දමා, මේ ගැහැණියගේ ගනමනාව ගෙවමින් එළියට බැසීම වඩා හොඳයයි ඔහු මොහොතකට කල්පනා කළේය.

"මෙහාට ආපු එකේ උඹට පුළුවන් තමුංගෙ හීනෙ තේරුම් කරගන්න." නාකි ගැහැණිය කීවාය. "අනික හීන කියන්නෙ දෙවියන් වහන්සේ ගේ භාෂාව. උන්වහන්සෙ අපේ භාෂාවෙන් කතා කරන කොට මට උන්වහන්සේගේ වචන තේරුම් කරගන්න පුළුවනි. හැබැයි උන්වහන්සෙ ආත්මීය භාෂාවෙන් ආමන්ත්‍රණය කරන කොට නං ඒක තේරුම් ගන්න පුළුවන් උඹට විතරයි. ඒ මොක වුණත්, මගේ උපදෙස් ඇහීම වෙනුවෙන් මං උඹෙන් ගාස්තුව ගන්නවා."

"ඒ පාර තවත් දහං ගැටයක්." කොලුවා කල්පනා කළේය. එහෙත් ඇයට තවත් අවස්ථාවක් දී බැලීමට ද ඔහු ඒ සමගම තීරණය කළේය. එඬේරෙකු හැම විටම තම වාසනාව උරගා බලන්නේ නියඟ හා වෘකයින් සමඟින් වන අතර ඔවුන් ගේ ජීවිත මෙතරම් ප්‍රබෝධමත් වන්නේ ද එහෙයින්මය.

"මං එකම හීනයක් දූන් දෙපාරක් දූක්කා." ඔහු කියන්නට ගති. "මං දූක්කා,... බැටළු රංචුවත් එක්ක මං කුඹුරක් මැද්දෙ ඉන්න කොට එක පාරම ළමයෙක් මැවිල සත්තු එක්ක සෙල්ලං කරන්න පටන් ගන්නවා. සාමාන්‍යයෙන් මං කැමති නෑ මිනිස්සු එහෙම කරනවට. මොකද බැටළුවො පිට මිනිස්සුන්ට හරි බයයි. ඒත් ජේන හැටියට නං හැම වෙලාවෙදීම සත්තුන්ව බය නොවද්ද උන් එක්ක සෙල්ලම් කරන්න පුළුවන් ළමයින්ට විතරමයි. හැබැයි ඇයි කියන්න නං මම දන්නෙ නෑ. බැටළුවො මිනිස්සුන්ගෙ වයස දූන ගන්නෙ කොහොමද කියලා මට තේරෙන්නෙ නෑ."

"උඹේ හීනෙ ගැන මට තව ටිකක් විස්තර කරහං." ගැහැණිය කීවාය. "මට උයන්න යන්නත් තියෙනවා. උඹ

ළඟ මහ ගොඩක් කාසි පනම් නැති එකේ මටත් බෑ ඒ හැටි කාලෙ නාස්ති කරන්න."

"ඔන්න ඉතිං අර ළමයා ටිකක් වෙලා බැටළු රංචුවත් එක්ක සෙල්ලං කළා." තරමක් කැළඹුණුද කොලුවා දිගටම කතා කරගෙන ගියේය. "ඉතිං උන් හිටි ගමන් මගෙ අත් දෙක අල්ල ගත්ත ළමයා මාව ඊජිප්තුවෙ පිරමීඩ වලට අරං ගියා."

ඊජිප්තුවේ ඇති පිරමීඩ මොනවාදැයි කියන්නට මේ ගැහැණිය දන්නේද කියා බැලීමේ අදහසින් ඔහු මොහොතකට කතාව නතර කළේය. එහෙත් ඇය කිසිත් නොකීවාය.

"ඉතිං ඊජිප්තුවෙ පිරමීඩ වලදී...." ඔහු අවසාන වචන තුන ඉතා හෙමින් උච්චාරණය කළේ ගැහැණියට ඒ වටහා ගත හැකිවන පරිද්දෙනි. "ළමයා මට කිව්වා, නුඹ මෙහි පැමිණෙන්නේ නම් සැඟවුන නිධානයක් නුඹට හමුවෙනු ඇත කියලා. ඉතිං ඊළඟට එයා මට එතන පිහිටීම ගැන නියම විස්තරය කියන්න හදන කොටමයි දෙපාරම මට ඇහැරුනේ."

ගැහැණිය මඳ වේලාවක් නිහඬව උන්නාය. අනතුරුව ඔහුගේ දෑත යළිත් වරක් අල්ලාගත් ඇ ඉතා පරික්ෂාකාරීව ඒවා අධ්‍යයනය කළාය.

"මම දැනට උඹෙන් මොනම ගතමනාවක් වත් ගන්නෙ නෑ." ඇය කීවාය. "හැබැයි නිධානෙ හොයා ගත්තොත් මට ඒකෙං දහයෙන් පංගුවක් ඕනෑ."

කොලුවා සතුටින් හිනා වුණි. සැඟවුන නිධානයක් පිළිබඳ මේ හීනයක් නිසා දැන් තමාට අතැති සොච්චම් මුදල ඉතිරි කර ගැනීමට හැකිවෙනු ඇත.

"හරි හරි, දැන් ඉතිං හීනෙ තේරුම් කරල දෙන්න."

"ඔක්කොටම කලියෙන් උඹ දිවුරල හිටපං. දිවුරපන්, මම දූන් මේ කියන දේවල හිලව්වට, උඹට ලැබෙන නිධානයෙන් හරියටම දහයෙන් පංගුවක් දෙනවය කියලා."

ලැබෙන නිධානයෙන් දහයෙන් පංගුවක් ඇයට දෙන බවට එඬේරා පොරොන්දු වුණි. ජේසුන් වහන්සේ ගේ ශුද්ධ වූ හෘදය දෙස බලාගෙන යළිත් වරක් දිවුරන්නැයි නාකි ගැහැණිය කොලුවාට නියම කළාය.

"මේක මේ ලෝකෙ හැබෑවටම පවතින දෙයක් ගැන හීනයක්." ඈ පටන් ගත්තාය. "මට පුළුවනි තෝරල දෙන්න. හැබැයි ඒක මහ වස අමාරු කාරියක්. අන්න ඒ හින්දයි උඹට ලැබෙන දේකින් කොටහක් මටත් උරුමයි කියලා මං කල්පනා කරන්නෙ."

"මෙන්න මේකයි ඔය හීනෙ ගැන මගෙ අදහස. උඹ යන්න ඕනෑ ඊජිප්තුවේ පිරමිඩ තියෙන පළාත හොයාගෙන. උපන් හදවියකට මං ඕව ගැන අහල නොතිබුණත් ඔය දේවල් උඹට පෙන්නුවෙ පොඩි දරුවෙක් හින්දා ඇත්තටම ඔහොම දෙයක් තියෙන්නම ඕනෑ. අන්න එහෙදි උඹට ගජ පොසෙතෙක් වෙන්න පුළුවන් තාලෙ නිධානයක් හම්බු වේවි."

පුදුමයට පත් කොලුවා අනතුරුව කෝප වුණේය. මේ ටික දැන ගන්නට නම් ඔහුට නාකිච්චියක් අවශ්‍ය නැත. එහෙත් තමාට මෙම කාරිය වෙනුවෙන් කිසිදු මුදලක් ගෙවීමට සිදු නොවන බවද ඒ සමඟම ඔහු කල්පනා වුණි.

"ඔය ටික අහගන්න නම් නිකම් කාලෙ කා දාන්න මට ඕන වුනේ නෑ." ඔහු කීවේය.

"මං කිව්වනෙ උඹෙ හීනෙ වස අමාරු එකක්ය කියලා. ජීවිතේ තියෙන සරලම දේ තමයි වඩාම අසාමාන්‍ය දේ වෙන්නෙ. ඒව තේරුම් ගන්න පුළුවන් වෙන්නෙ

නුවණක්කාරයන්ට විතරයි. ඉතිං නුවණක්කාරියක් නොවුන එකේ මට සිද්ධ වෙලා තියෙන්නෙ වෙනත් සිල්ප සාත්තර ඉගෙන ගන්නයි. ඔය අත බලල සාත්තර කියනව වගේ එව්වා."

"හොඳයි, දූන් මම කොහොමද ඊජිප්තුවට යන්නෙ?"

"මං හීන තේරුම් කරල දෙනව විතරයි. ඒවා හැබෑ කරගන්න හැටියක් ගැන මං දන්නෙ නෑ. අන්න ඒ නිසා තමයි මගෙ දූල දෙන දේකින් ජීවිතේ ගැටගහ ගන්න මටත් සිද්ධ වෙලා තියෙන්නෙ."

"හොඳයි, බැරි වෙලාවත් මට ඊජිප්තුවට යා ගන්න බැරි වුණොත් හෙම?"

"එතකොට මට මගෙ ගතමනාව ලැබෙන එකක් නෑ. ඇරත්, ඔය වගේ දේවල් වුන පළමු වතාව නෙවෙයි මේ."

අනතුරුව කොලුවා වෙනුවෙන් ඕනෑවටත් වඩා කාලය නාස්ති කළ බව කියමින් ගැහැණිය ඔහුට පිටවන මෙන් කීවාය.

මෙසේ කොලුවා බලාපොරොත්තු විරහිත භාවයට පැමිණියේය. එහෙයින් ආයෙත් නම් කවමදාවත් හීන පිළිබඳව විශ්වාස නොකරන්නට ඔහු තීරණය කළේය. හීන පස්සේ නොගියාට බලා කියා ගන්න තවත් දේවල් බොහෝ තිබෙන බව ඔහුට සිහිපත් වුණි. කෑමට යමක් හොයා ගැනීමට ඔහු වෙළඳ පොළට යා යුතුය. වඩා ලොකු පොතක් ගන්නට පරණ එක විකුණා දැමිය යුතුය. තමා දනටමත් මිලට ගෙන ඇති වයින් වලින් ටිකක් තොල ගා බලන්නට කඩ පොළේ බංකුවක් අල්ලාගත යුතුය. දවස උණුසුම් වූ අතර වයින් බොහෝ ප්‍රණීත විය. බැටළු රංචුව නගර දොරටුව අසල සිටි මිත්‍රයකුගේ කොටුවක ගාල් කරලාය. කොලුවා නගරයේ ඉන්න බොහෝ මිනිසුන් දූන කියාගෙන සිටියේය. සංචාරය

ඔහුගේ සිත ඇද බැඳ ගත්තේ එමගින් නිතරම අලුත් අලුත් හිත මිතුරන් හඳුනාගත හැකිවන අතරම එම ඇසුරට වැඩි කාලයක් මිඩංගු කරන්නද සිදු නොවෙනා හෙයිනි. සෙමනේරියේදී ඔහුට සිදු වූ පරිද්දෙන්ම, යමකුට හැමදාමත් එකම මිනිසුන් කොටසක් මුණ ගැසෙන විට එය අවසන් වන්නේ ඔවුන් අර පුද්ගලයාගේ ජීවිතයේම කොටස් බවට පත් වීමෙනි. එවිට ඔවුනට අර පුද්ගලයාගේ වෙනසක් දැකීමට අවශ්‍ය වෙයි. ඉතින්, යමකු අනෙක් අයට ඇවැසි තාලේ පුද්ගලයෙකු නොවනා විට ඔවුහු කෝප ගන්නට පටන් ගනිති. අනෙක් මිනිසුන් ජීවත් විය යුත්තේ කෙසේද යන්න ගැන හැම කෙනෙකුටම පැහැදිලි අදහසක් ඇතැයි පෙනෙනා මුත් මේ කිසිවෙකුටත් තමා කෙසේ ජීවත් විය යුතුද යන්න ගැන අබමල් රේනක තරමේ අදහසක් නැත්තේය.

යළිත් බැටළු රංචුව කෙත් මැදින් දක්කාගෙන යාම සඳහා තව ටිකක් ඉර බහිනා තුරු බලා ඉන්නට කොලුවා තීරණය කළේය. මෙතැන් සිට තෙදිනක් ඉක්ම යන විට ඔහු ඉඳිනු ඇත්තේ වෙළෙන්දාගේ දූව සමගිනි.

ඔහු තමා මිලදී ගෙන තිබූ පොත කියවීම පටන් ගති. ඔහුගේ ඇස ගැටුන පළමු පිටුවේම වූයේ භූමදානයක් පිළිබඳ විස්තරයකි. ඊට සහභාගී වී සිටි මිනිසුන් ගේ නම් කියවීමටද ඉතා අසීරුය. බැරිවෙලාවත් කවදාහරි ඔහු පොතක් ලිව්වොත් නම්, එක වරකට එක් පුද්ගලයෙකු පමණක් ඉන් ඉදිරිපත් කරන්නට ඔහු හිතා ගත්තේය. එවිට පාඨකයාට නම් ගම් වග වාසගම් කන්දරාවක් මතක තබා ගැනීමේ හිරිහැරයක් ඇති නොවනු ඇත.

අන්තිමේදී, කොහොමින් හරි කියවමින් සිටි දෙයට හිත යොමා ගන්නට සමත් වූ විට ඔහු වැඩි වැඩියෙන් පොතට ආශා කරන්නට පටන් ගති. භූමදාන උත්සවය

පැවතුණේ හිම පතනය පැවති දවසකය. විස්තර කරන ලද පරිසරයේ වූ සීතල ඔහුටද දැනෙන්නට මෙන් වීය. මෙසේ කියවීමට හිත යොමාගෙන ඉන්නා අවි අස්සේ ඔහු අසලින් මහල්ලෙකු වාඩි ගත්තේ, කතා බහකට මුල පුරන්නට උත්සාහ දැරීය.

"මොනවද අර මිනිස්සු කරන්නෙ?." කඩපලේ වූ මිනිසුන් පෙන්වමින් මහල්ලා ඇසීය.

"වැඩ කරනවනේ" දිගටම පොතට අවධානය යොමු කිරීමට ඇති කැමැත්ත පළ කරනා අයුරින් ළමයා කටුක ලෙසින් පිළිතුරු දුනි.

ඇත්ත වශයෙන්ම නම්, ඔහුගේ කල්පනාව යොමු වී තිබුණේ තමා සිරු මාරුවට කළ යුතු වන බර වැඩක් කළ හැකි කෙනෙකු ලෙස වෙළෙන්දාගේ දියණියට ඒත්තු යන පරිදි ඇය ඉදිරිපිට හිඳගෙන බැටළුවන්ගේ ලොම් කප්පාදු කරන එක ගැනය. ඔහු එම දර්ශනය බොහෝ වතාවක් හිතෙන් මවාගෙන ඇත. ඒ හැම ජවනිකාවේදීම, බැටළුවන්ගේ ලොම් කප්පාදු කළ යුත්තේ සතුන්ගේ පසු පස සිට ඉස්සරහට යයි ඔහු කී විට ඇය ඉන් ප්‍රීතියට පත් වුණි. ලොම් කප්පාදු කරනා අතරේ ඒ හා සම්බන්ධ නොයෙක් හොඳ රසවත් කතා ඇයට කියා දීමටද ඔහු උත්සාහ දැරීය. ඒ බොහොමයක් කතා කියවා තිබුණේ පොත් වලින් වුවද ඔහු හැම විටම තැත් කළේ ඒවා තම පුද්ගලික අත්දැකීම් ලෙස විස්තර කිරීමටය. ලියන්න කියන්න නොදන්නා නිසා ඇයට කොහොමටවත් ඒවායේ වෙනසක් නොදැනෙනු ඇත.

මේ අතර වාරයේදී මහල්ලා යළි යළිත් උත්සාහ කළේ කොලුවා හා කතාවට පොට පාදා ගැනීමටය. බඩ ගින්නෙත් හා පිපාසයෙන් තමා පෙලෙන බව කී මහල්ලා කොලුවාගේ වයින් වලින් ටිකක් තොල ගාන්නට දිය හැකි

දැයි අසා සිටියේය. කොලුවා එවිට තම වයින් බෝතලය දිගු කළේ ඉතින්වත් මේ නාකියා තමාට පාඩුවේ ඉන්නට ඉඩ දෙනු ඇතැයි යන හැඟීමෙනි.

එහෙත් කතා බහක පැටලීමට පොට පාදාගෙන උන් මහල්ලා කොලුවා කියවමින් උන් පොත කුමක්දැයි ඇසුවේය. දැඩි ගතියක් පාමින් වෙනත් බංකුවක් කරා යාමට කොලුවාට සිතුන මුත් පියා ඔහුට උගන්වා තිබුණේ වැඩිහිටියන්ට ගෞරව දැක්වීමටය. එහෙයින් හේතු දෙකක් මත ඔහු මහල්ලාට පොත දක්වා සිටියේය. පළමු වැන්න නම් ඔහු පොතේ නම උච්චාරණය කරන්නේ කෙසේදැයි දැන නොසිටීමය. දෙවැන්න බැරිවෙලාවත් මහල්ලා කියවීමට නොදන්නේ නම් සමහර විට ලැජ්ජා සිතී ඔහුම වෙනත් බංකුවක් කරා ලිස්සා යන්නටත් බැරි නැත.

"හ්ම්ම්.... " මේ නම් අමුතු තාලේ වස්තුවකැයි හැඟවෙන පරිදි පොතේ හැම පැත්තම පරීක්ෂා කරන ගමන් මහල්ලා ශබ්දයක් මුවින් පිට කළේය.

"මේක නං හැබෑම වැදගත් පොතක්. හැබැයි කියවන එක නං ලේසි පාසු නෑ."

කොලුවා ගැස්සී ගියේය. මහල්ලා අකුරු කියවීම දැන සිටි සේම දැනටමත් මෙම පොතද කියවා ඇත්තේය. ඉතින් මහල්ලා කියනා පරිදි මේ පොත ඔය තරම් කරදරකාර පොතක් නම් කොලුවාටද එය මාරු කර ගැනීමට තවමත් කල් තිබේ.

"ලෝකෙ තියෙන හැම පොතකම කියවෙන දේම තමයි මේ පොතෙනුත් කියවෙන්නෙ." මහල්ලා දිගටම කියවාගෙන ගියේය. "ඒකෙන් විස්තර කෙරෙන්නෙ තමුන්ගේ ඉරණම තේරුම් ගන්න මිනිහෙකුගේ නොහැකියාව ගැනයි. පොත ඉවර වෙන්නෙ හැම මිනිහෙක්ම ලෝකෙ තියෙන ලොකුම බොරුව විශ්වාස කරනවයි කියන එකෙන්."

"එතකොට මොකක්ද ලෝකෙ තියෙන ලොකුම බොරුව?" මුළුමනින්ම විශ්මයට පත් කොලුවා ප්‍රශ්න කළේය.

"ඒක මෙහෙමයි, - ජීවිතයේ එක්තරා අවස්ථාවකදී අපිට සිද්ධ වෙන දේවල් අපේ පාලනයෙන් බැහැර වුනාම ඉරණම විසින් ජීවිතය පාලනය කරන්නට පටන් ගනී - ඔන්න ඕක තමයි ලෝකෙ තියෙන මහම බොරුව."

"මටනං කවදාවත් ඒ වගේ දෙයක් සිද්ධ වෙලා නෑ." කොලුවා කීය. "එයාලට ඕනෙ වුණේ මාව පූජකයෙක් කරන්නයි. ඒත් මං තීරණය කළේ එඬේරෙකු වෙන්න."

"එහෙම වුණ එක වඩා හොඳයි." මහල්ලා පැවසීය. "ඒ ඔයා ඇත්තටම සංචාරයට කැමති නිසා."

"මේ මනුස්සයා මං හිතන දේත් දන්නවනේ." කොලුවා තමාටම කියා ගති. මේ අතරේ මහල්ලා පොතේ පිටු පෙරලමින් උන්නේ එය ආපසු භාර දීමේ වුවමනාවක් නැතුවාක් මෙනි. මහල්ලාගේ ඇඳුම් ද අමුතු බව කොලුවා ගේ නෙත ගැටුණි. මේ පළාතෙදී සාමාන්‍යයෙන් දැකිය නොහැකි අරාබියෙකු මෙනි ඔහු පෙනුනේ. අප්‍රිකාව පිහිටියේ ටාරිෆාවේ සිට පැය කීපයක ගමන් දුරකිනි. කෙනෙකුට බෝට්ටුවක ආධාරයෙන් එම පටු සමුද්‍ර තීරුවෙන් එගොඩ විය හැකිය. විටින් විට නගරයේ පෙනී සිටි මේ අරාබිහු දිනකට කීප වරක් ඔවුන්ගේ අමුතු යාතිකා කියමින් කඩපොළ පුරා සැරි සැරුවෝය.

"ඔහේ ආවේ කොහේ ඉඳලද?" කොලුවා විමසුවේය.

"හුඟ තැන්වල ඉඳලා."

"කිසිම කෙනෙකුට බෑ බොහෝ තැන්වල ඉඳල එන කෙනෙක් වෙන්න." කොලුවා කීය. "මං එඬේරෙක්. මං ගිහිල්ලා තියෙනවා හුඟක් තැන්වලට. ඒත් මං එන්නෙ

එක තැනක ඉඳලයි. පරණ මාළිගාවක් ළඟ තියෙන නගරෙක ඉඳලා. ඒ තමයි මං උපන්න තැන."

"හොඳයි එහෙනම් අපි කියමු මං උපන්නෙ සලෙම් වලය කියල."

සලෙම් පිහිටා ඇත්තේ කොහේදැයි දැන නොසිටියද කොලුවාට ඒ ගැන අසන්නට වුවමනා නොවුයේ තමා මෝඩයෙකු මෙන් හැඟෙතැයි බියෙනි. කඩ පොලේ උන් මිනිසුන් දෙස ටික වෙලාවක් ඔහු බලා සිටියේය. එවිට කඩ පොලට යමින් එමින් සිටි විවිධාකාර මිනිසුන් ඔහුගේ නෙත ගැටුන අතර පෙනුන පරිදි ඒ හැමෝම උන්නේ කාර්ය බහුලවය.

"හොඳයි ඉතින් සලෙම් කියන්නෙ මොන වගේ තැනක් ද?" අන්තිමේදී මොන යම් හෝ හෝඩුවාවක් අල්ලා ගැනීමේ අරමුණින් ඔහු ඇසීය.

"හැමදාම ඔහේ තිබ්බ විදිහටම පැවතුණ තැනක්"

තවමත් පොටක් පෑදී නැත. එහෙත් සලෙම් පිහිටා ඇත්තේ අන්දාලුසියාවේ නම් නොවෙන බව කොලුවාට සහතිකය. එහෙම තැනක් තිබුණා නම් මෙළහකටත් ඔහු ඒ ගැන දැනගෙනය.

"එතකොට සලෙම් වලට වෙලා ඔහේ මොනවද කරන්නෙ?" කොලුවා අවධාරණයෙන් ඇසීය.

"සලෙම් වල මොනවා කරනවද ඇහුවා?" මහල්ලා සිනාසුණේය.

"හොඳයි, මං තමයි සලෙම් වල රජ්ජුරුවෝ."

"මිනිස්සු හරි ජාති කතා කියනවනේ." යි කොලුවා කල්පනා කළේය.

මොකුත් නොකියන බැටළු රංචුවත් සමඟින් ලැග්ගෙන එක සමහරවිට මීට වඩා හොඳ වෙන්නටත්

පුළුවන. පොත් පත් හා කාලය ගත කිරීමත් මීට වඩා හොඳය. කෙනෙකුට අහන්නට අවශ්‍ය වූ විටෙක පොත් පත් ඇදහිය නොහැකි විශ්මය ජනක කතන්දර කියා දෙයි. ඒත් මිනිසුන් සමඟින් කතා කරනා විට ඔවුන් මොන තරම් අමුතු ජාති කියනවාද කිවහොත් සංවාදය පවත්වාගෙන යන්නේ කොහොමද කියාවත් කෙනෙකුට හිතාගන්නට බැරිය.

"මගේ නම මෙල්චිසෙඩෙක්." මහල්ලා කීවේය. " ඔයා ළඟ බැටළුවෝ කොච්චරක් ඉන්නවද?"

"අපෝ, ඇති පදම්." කොලුවා පිළිතුරු දුන්නේය. තම ජීවිතය පිළිබඳ වැඩිමනත් විස්තර දැන ගැනීමේ වුවමනාවක් මහල්ලාට ඇති බව කොලුවාට පෙනී ගියේය.

"හොඳයි, එහෙමනං අපිට ප්‍රශ්නයක් තියෙනවා. ඔයාට ඇති පදමට බැටළුවෝ ඉන්නව කියල හිතනව නං මට බෑ ඔයාට උපකාර කරන්න."

කොලුවා නොරිස්සුම් සහගත තත්ත්වයට පැමිණෙමින් උන්නේය. උපකාර ඉල්ලා සිටියේ ඔහු නොවේ. වයින් උගුරක් හිඟාගෙන පැමිණ කතා බහට මුල පිරුවේ වෙන කවුරුවත් නොව මේ මහල්ලාය.

"මෙහෙ දෙනවා මට මගේ පොත." කොලුවා කීය. "බැටළුවො ටික එක්කහු කරං මං මගෙ ගමන පටන් ගන්න ඕනෑ."

"ඔයාගෙ බැටළු රංචුවෙන් දහයෙන් පංගුවක් මට දෙන්න." මහල්ලා කීවේය. "එතකොට මං ඔයාට කියන්නං අර හැංගුන නිධානෙ හොයා ගන්න ක්‍රමේ."

සිහිනය පිළිබඳ කොලුවා ගේ මතක අවදි වී හදිසියේම ඔහුට සියල්ල සිහිපත් විය. නාකි ගැහැණිය ඔහුගෙන් එක දොයිතුවක් අය නොකළ මුත් මේ නාකියා හදන්නේ ලෝකයේ කොහේවත් ඇති නිධානයක් ගැන තොරතුරු කීමේ හිලව්වට ඔහුගෙන් වැඩි ගතමනාවක් කඩා

ගන්නටය. නාකියාත් සමහරවිට අභිගුණ්ඨිකයෙක්ම විය යුතුය.

එහෙත් කොලුවා කිසිවක් කියන්නට පෙර ඉදිරියට නැමුණ මහල්ලා කෝටුවක් ඇහිඳ එතන වැලි පොළොව මත ලියන්නට පටන් ගත්තේය. ඔහු මෙසේ කරද්දී ඔහුගේ පපුවෙන් යම්කිසි එළියක් විහිදුන අතර එහි දීප්තිය වැදී කොලුවාගේ දෑස් මොහොතකට තිලංකාර වී ගියේය. ඔහුගේ වයසට නොගැලපෙන ක්‍රියාශීලීත්වයක් පෙන්වමින් මහල්ලා වහාම එය තම කබායෙන් වසා ගති. දෑස් යළි යථා තත්ත්වයට පත් වූ ඉක්බිති මහල්ලා විසින් වැල්ලේ ලියනු ලැබූ දේ කියවීමට කොලුවාට පිළිවන්කම ලැබුණි.

එතන, එම කුඩා නගරයේ වූ කඩපොළ මිදුලේ වැල්ල මත ලියැවී තිබූ තම මවගේ හා පියාගේ නම මෙන්ම තමා ඇතුළත්ව සිටි සෙමනේරියේ නමද කොලුවා කියැවීය. එසේම ඔහු දූන නොසිටියාවූ, වෙළෙන්දාගේ දියණියගේ නමද, කිසි දිනෙක කිසිවකුටත් ඔහු විසින් නොපවසන ලද දේවල්ද ඒ වැල්ල මත අපූරුවට ලියැවී තිබුණේය.

*　　*　　*

"මං තමා සලෙම් වල රජ්ජුරුවෝ." මහල්ලා කියා තිබුණි.

"මොන එහෙකටද රජ කෙනෙක් තිකම්ම තිකම් එඬේරෙක් එක්ක කතා කරන්නෙ?" ලැජ්ජාවටත් බයටත් පත් කොලුවා ඇසීය.

"හේතු කාරණා කීපයක් හින්දා. ඒත් අපි කියමු වඩා වැදගත් වෙන්නෙ ඔයා තමුන්ගේ ඉරණම තේරුම් ගන්න සමත් වෙලා ඉන්න නිසයි කියලා."

එහෙත් මිනිසකුගේ ඉරණම යන්නෙන් අදහස් කරන්නේ කුමක්දැයි කොලුවා දැන සිටියේ නැත.

"ඉරණමයි කියල කියන්නෙ ඔයාට හැම තිස්සෙම සම්පූර්ණ කරගන්න ඕනෑ වෙලා තියෙන දේටයි. හැම කෙනෙක්ම තරුණ කාලෙදි තමුන්ගේ ඉරණම මොකක්ද කියල දැන ගන්නවා"

"ඔවුන්ගෙ ජීවිතවල ඒ සංධිස්ථානයේදී හැම දෙයක්ම පැහැදිලියි. ඒ වගේම විය හැකියි. එතකොට තමුන්ගෙ ජීවිතේදී ලැබිය යුතුයි කියල හිතන දේවල් ගැන හීන දකින්නත්, ඒවා ගැන බලාපොරොත්තු තියා ගන්නත් ඔවුන් බය වෙන්නෙ නෑ. හැබැයි කාලය ගෙවිල යනකොට, තමුන්ගේ ඉරණම යථාර්තයක් බවට පත් කරගන්න එක විය නොහැක්කක් කියල කිසියම් අද්භූත බලවේගයක් ඔවුන්ට ඒත්තු ගන්වනවා."

මහල්ලා පැවසූ මේ කිසිම දෙයකින් කොලුවා තුළ කිසිදු හැඟීමක් ඇති නොවුණි. එහෙත් මේ අද්භූත බලවේගය යනු කුමක්දැයි දැන ගැනීමට ඔහුට අවශ්‍ය වූවේ, ඒ ගැන වෙළෙන්දාගේ දියණියට පවසන විට ඈ ඉන් විශ්මිත පත් විය හැකි නිසාවෙනි.

"ඒක නිෂේධාත්මකයි කියල පෙනෙන බලවේගයක්. ඒත් ඇත්ත වශයෙන්ම ඒ බලයෙන් ඔයාට තම ඉරණම විසඳ ගන්නෙ කොහොමද කියල පෙන්නල දෙනවා. ඔයාගෙ ආත්මයයි, අධිෂ්ඨානයයි ඒකට පෙල ගස්වනවා. ඇයි කිව්වොත් මේ ග්‍රහලෝකය තුළ තියෙන්නෙ එකම විශ්ව සත්‍යයක් නිසයි. ඔබ කවුරු වුණත්, ඔබ විසින් ඉටු කරනු ලබන කර්තව්‍යය කුමක් වුවත් යම් කිසිවක් පිළිබඳව සත්‍ය වශයෙන්ම ඔබ තුළ අවශ්‍යතාවක් පැන නගිනා විට එසේ වන්නේ එම අභිලාෂය විශ්වාත්මය තුළින් පැන නගිනා

නිසාවෙනි. මේ මිහිතලය මත ඔබේ මෙහෙවර වන්නේ එකී අභිලාෂය ජය ගැනීමයි."

"ඒ කියන්නෙ, මට ඕන කරන දේ සංචාරය කිරීම වුනත්? නැතිනම් රෙදි පිළි වෙළෙන්දාගේ දුවව විවාහ කර ගැනීම වුනත්?"

"ඔව්, නිධානය හොයාගෙන යාම වුනත්. ලෝකාත්මය පෝෂණය වෙන්නෙ මිනිසුන් සතුටින්, ඒ වගේම ඔවුන්ගේ අසතුට, වෛරය හා ඊර්ෂ්‍යාව තුළින්. මිනිසකුගේ නියම සම්මුතිය විය යුත්තේ තම ඉරණම ජය ගැනීමයි. මේ හැම දේම එක් ප්‍රපංචයක්. ඉතින්, ඒ වගේම තමයි ඔයාට යමක් උවමනා වෙනකොට ඒක ලබාගන්න ඔයාට උපකාර කරන්න මුළු විශ්වයම කුමන්ත්‍රණය කරනවා."

නගර වැසියන් හා කඩපල නිරීක්ෂණය කරමින් දෙදෙනා ටික වේලාවක් නිහඬව උන්නෝය. නිහඬතාවය බිඳිමින් පළමුවෙන්ම කතා කළේ මහල්ලාය.

"ඇයි ඔයා බැටළු රංචුවක් බලා ගන්නෙ?"

"මං ඇවිදින්න කැමති නිසා."

කඩපොලේ එක කොනක වූ කඩයක ජනේලයක් ළඟ හිටගෙන උන් බේකරිකරුවෙකුව මහල්ලා ළමයාට පෙන්නුවේය. "අන්න අර මනුස්සයගෙ ළමා කාලේදි එයාටත් ඕනෑ වුනේ සංචාරය කරන්නයි. ඒත් ඉතිං එයා තීරණය කළා මුලින්ම බේකරියක් සල්ලිවලට අරං සල්ලි බාගේ ටිකක් ඉතුරු කරගන්න. එයා නාකි වුනාම මාසයක්ම අප්‍රිකාවේ ගත කරන්නයි යන්නෙ. හැබැයි එයා කවමදාවත් තේරුම් ගත්තෙ නෑ තමන් දකින හීනෙ ජීවිතේ කොයි මොහොතක වුනත් හැබෑ කරගන්න පුළුවන්කමක් මිනිසාට තියෙනවය කියලා."

"එයාට තිබ්බෙ එඬේරෙක් වෙන්න තීරණය කරන්නයි." කොලුවා කීය.

"හොඳයි" එයා ඒ ගැනත් කල්පනා කළා. මහල්ලා කීය. "ඒත් එඬේරුන්ට වඩා බේකරිකාරයෝ වැදගත් මිනිස්සු කොට්ඨාශයක්. එඬේරු එලිමහනේ නිදා ගනිද්දී බේකරිකාරයන්ට ගෙවල් තියෙනවා. දෙමව්පියෝ වුනත් වැඩිය මනාප තමුන්ගෙ දරුවෝ එඬේරුන්ට වඩා බේකරිකාරයෝ බඳිනව දකින්නයි."

වෙළෙන්දාගේ දියණිය ගැන කල්පනා කළ කොලුවාට දැනුනේ තම හදවතට විස දළ පහරක් වැදුනාක් මෙනි. නිච්චියටම ඒ නගරයේත් බේකරිකාරයන් සිටිනවා විය යුතුමය.

මෙහිදී මහල්ලා යළි කතා කළේය. "අන්තිමේදී ඔවුන්ට තමුන්ගෙ ඉරණම සොයා යන ගමනටත් වඩා වැදගත් වෙන්නෙ එඬේරුයි, බේකරිකාරයොයි ගැන අනිත් මිනිස්සු හිතන, කියන විදිහයි."

පොතේ පිටු පෙරලන්න පටන් ගත් මහල්ලා එක් පිටුවක් කියවන්නට පටන් ගත්තේය. ටික වේලාවක් එදෙස බලා හුන් කොලුවා අනතුරුව තමාට කළ පරිදිම මහල්ලාගේ කියවීමටද බාධා කළේය.

"මොන එහෙකටද ඔබ මට මෙව්වා කියන්නෙ?"

"ඔයා තමුන්ගෙ ඉරණම උරගාලා බලන්න හදන නිසා. ඒ වගේම අනිත් අතින් ඔයා තම උත්සාය අත්හැරලා දාන්න සූදානම් මොහොතකට එළඹිලා ඉන්නා නිසා."

"ඒ කියන්නෙ එතකොට තමයි හැම වෙලාවෙම ඔබ මැදිහත් වෙන්නෙ?"

"නෑ, හැම වෙලාවෙම ඒ විදිහට නෙවෙයි. ඒත් මං හැම වෙලාවෙම එක විදිහකින් නැත්නම් තවත් විදිහකින්

මැදිහත් වෙනවා. සමහර වෙලාවලදී මං පෙනී ඉන්නෙ විසඳුමක් නැත්නම් හොඳ අදහසක් විදිහටයි. සමහර වෙලාවට, විශේෂයෙන්ම තීරණාත්මක අඩියකදී මං කාරණා කටයුතු සිද්ධ වෙන්න පහසු කරවනවා. මං කරන තවත් දේවල් තියෙනවා තමයි. හැබැයි මේ බොහෝමයක් අවස්ථාවලදී මිනිස්සු තේරුම් ගන්නෙ නෑ මමය ඔවුන්ට උදව් කළේ කියන එක."

සතියකට පෙර තමාට පතල් කරුවෙකු අභිමුවේ පෙනී සිටින්නට සිදුවූ හැටිත් එවිට තමා ගලක වේශය ගෙන එසේ පෙනී සිටි අයුරුත් මහල්ලා විස්තර කළේය. මරකත මැණිකක් ගරා ගැනීම උදෙසා පතල් කරුවා තමා සන්තක සියලු දේ කැපකර තිබුණි. ඒ වන විට ඔහු එක්තරා ගඟක බැස සිය දහස් ගණන් ගල් අතගගා බලමින් මරකත මැණිකක් සොයා ගැනීමට අප්‍රමාණ වෙහෙසක් දරා සිටියේය. අන්තිමේදී පතල් කරුවා තම උත්සාය අතැර දැමීමේ සීමාව ආසන්නයට පැමිණ සිටි අතර ඒ මොහොතේදී තව ගලක්, එකම එක ගල් කැටයක් පමණක් පරීක්ෂා කර බැලුවේ නම් ඔහුට එතෙක් සෙවූ මැණික හමුවීමට නියමිතව තිබුණේය. මේ පතල් කරුවා තමා සතු සියලුම දේවල් ස්වකීය ඉරණම ජය ගැනීම උදෙසා කැප කර තිබූ හෙයින් ඊට මැදිහත් වීමට මහල්ලා තීරණයට එළඹියේය. ගලක් බවට පෙරළුන හේ පතල් කරුවාගේ දෙපා මුලටම පෙරළීගෙන ගියේය. වසර පහක නිෂ්ඵල උත්සාහයෙන් කේන්තියට හා කළකිරීමට පත්ව හුන් පතල්කරුවා කළේ එම ගල්කැටය අහුලාගෙන වේගයෙන් ඉවත වීසි කිරීමයි. ඔහු කොතරම් තදින් එය වීසි කර දැමුවා දැයි කිවහොත් එය ගොසින් වැදුනාවූ වෙනත් ගලක් පුපුරා දෙපළු විය. ලොවේ මනස්කාන්තම, වටිනාම මරකත මාණික්‍යය වූයේ එම පිපිරුණ ගල ඇතුළේය.

"මිනිස්සු ජීවිත කාලය තුළ බොහෝම ඉක්මනින් තම පැවැත්මේ අරමුණ වටහා ගන්නවා." මහල්ලා වරෙක

දොමිනසින් කීවේය. "සමහරවිට ඒ හින්දම වෙන්නැති මිනිස්සු ඔය තරම්ම ඉක්මනට තමුන්ගේ අරමුණ අත ඇරලා දාන්නෙත්. ඒත් ඒක තමයි කාරණා පවතින තාලෙ."

එවිට මහල්ලා තමා හට සැඟවුන නිධානයක් පිළිබඳ පැවසූ බැව් කොලුවාට මතක් කර සිටියේය.

"ගලාගෙන යන දිය පාරේ වේගයට නිධානය නිරාවරණය වෙනවා. ඒ වගේම නිධානෙ වැලලිලා තියෙන්නේ ඒ ජල පහරෙම තමයි." මහල්ලා එවිට කීවේය. "ඉතින් ඔයාට නිධානෙ ගැන ඔච්චරටම දැන ගන්න ඕනෑනම් බැටළු රංචුවෙන් දහයෙන් පංගුවක් මට දෙන්න ඔයාට සිද්ධ වෙනවා."

"නරකද මගේ නිධානයෙන් දහයෙන් පංගුවක් ගත්තා නම්?"

මහල්ලා වෙතින් පල වුනේ බලාපොරොත්තු කඩවූ අයුරකි. "තාමත් ලැබිල නැති දේවලින් ගෙවන්න පොරොන්දු වෙලා නම් ඔයා වැඩේ පටන් ගන්න යන්නෙ එය ලබා ගැනීම උදෙසා වෙහෙසීමේ ආශාවක් ඔයාට නැතිව යාවි."

දැනටමත් තමා තම නිධානයෙන් දහයෙන් පංගුවක් අර අභිගුණ්ඨික ගැහැණියට දීමට පොරොන්දු වී ඇති බැව් කොලුවා මහල්ලා හා පැවසීය.

"එහෙම කරන්න මිනිස්සු පොළඹවන්න අභිගුණ්ඨිකයෝ හරි සූරයි." මහල්ලා සුසුමක් හෙළීය. "මොන තාලෙන් හරි, ජීවිතේ තියෙන හැම දේටම මිලක් තියෙන වග ඔයා ඉගෙන ගෙන තියෙන එක හොඳයි. සත්‍ය උදෙසා සටන් කරන මිනිස්සු වෙර දරන්නෙත් ඔය දේම උගන්නන්න තමයි."

මහල්ලා පොත ආපසු කොලුවා අතට දුන්නේය.

"හෙට හරියටම මේ වෙලාවට ඔයාගෙ බැටළු රංචුවෙන් දහයෙන් පංගුවක් අරන් මාව මුණ ගැහෙන්න එන්න. හැංගිලා තියෙන නිධානෙ පාද ගන්නෙ කොහොමද කියල මම එතකොට කියන්නම්. සුබ සැන්දෑවක්"

අනතුරුව ඔහු කඩපොලේ අන්තයෙන් අතුරුදන් වී ගියේය.

*   *   *

කොලුවා යළිත් පොත කියවීම පටන් ගත් නමුත් වැඩිවෙලා ඒ කෙරේ අවධානය යොමු කිරීමට අසමත් විණි. මහල්ලා නිවැරදි බැව් දැන සිටි හෙයින් ඔහු තරමක අපහසුතාවකට හා පීඩනයකට පත් වුණේය. බේකරිකරුවා පිළිබඳව මහල්ලා කී දේ ඔහුට පවසනවාද නැද්ද කියා කල්පනා කරමින් බේකරිය වෙත ගිය කොලුවා පාන් ගෙඩියක් මිලට ගත්තේය. සමහර විට යම් දේවල් ඒ පවතින හැටියටම තියෙන්න අරින එක වඩා හොඳයයි කල්පනා කළ ඔහු කිසිත් නොකියා ඉන්නට තීරණය කළේය. ඉදින් යම් හෙයකින්, ඔහු බේකරිකරුවාට යමක් පැවසුවේ නම් දැන් පවතින ක්‍රමයට හැඩ ගැසී උන්නේ වුවද තම ඉරණම උරගා බැලීමට ගත් තීරණය අත් හැරීම පිළිබඳව ඒ මිනිසා තෙදිනක් පුරා කල්පනා කරනු ඇත්තේය. එහෙයින් කිසිවක් නොපවසා ඉඳීමෙන් බේකරිකරුවා සාංකාකුල තත්ත්වයට පත් කිරීම වලකා ලීමට හැකිව තිබේ. මෙසේ කොලුවා නගරය පුරා ඇවිදින්නට පටන් ගත්තේ, අන්තිමට තමා නගර ද්වාරය වෙත පැමිණ ඉන්නා බව දිටීය. මිනිස්සු අප්‍රිකාවට යාම සඳහා ටිකට් මිලදී ගැනීමට එක් රොක් වූ කවුළුවක් සහිත කුඩා ගොඩනැගිල්ලක් නගර ද්වාරය අසල

තිබුණි. අන්න ඒ වෙලාවේදී කොලුවා ඊජිප්තුව පිහිටා තිබෙන්නේ අප්‍රිකාව තුළය යන්න අවබෝධ කර ගත්තේය.

"මගෙන් මොනව හරි කෙරෙන්න තියේ ද?" කවුළුව පිටුපස උන් මිනිසා විමසීය.

"සමහරවිට හෙට...." ඉවත යන ගමන් කොලුවා කීවේය. තම රංචුවෙන් එක බැටළුවෙකු විකුණා ගත හොත් එහා ඉවුරට යාමට ප්‍රමාණවත් වන තරම් මුදලක් සපයා ගැනීමට ඔහුට හැකි වෙනු ඇත. එහෙත් එම අදහස නිසා ඔහු බියට පත් වුණේය.

"ඔන්න තවත් හීන දකින්නෙක්." ඉවත යන කොලුවා දෙස බලමින් ටිකට් අලෙවි කරන්නා තම සහායකයාට කීවේය. "හැබැයි මිනිහට තමුන්ගෙ ගමනට ඕන තරම් සල්ලි බාගෙ නැති පාටයි."

ටිකට් පත් අලෙවි කරන්නාගේ කවුළුව අසල හිටගෙන ඉන්නා අතරේ කොලුවාට තම බැටළු රංචුව ගැන සිහිපත් වුණි. එහෙයින් යළිත් එඬේර ජීවිතයට ම යා යුතු යැයි ඔහු තීරණය කළේය. වසර දෙකක් තුළ ඔහු එඬේර වෘත්තිය පිළිබඳව හැම දෙයක්ම ඉගෙන ගෙන තිබුණි. ලොම් කප්පාදු කරන ආකරය, ගැබ්බර දෙනුන්ට සාත්තු සප්පායම් කරන ආකාරය, වෘකයන්ගෙන් බැටළුවන් රැකගන්නා ආකාරය ඔහු දැන සිටියේය. අන්දාලූසියාවේ සියලුම කුඹුරු යායවල් හා තණබිම්ද එසේම තම රංචුවේ හැම එකෙකුගේම සාධාරණ මිල කුමක්ද යන්න පවා ඔහු හොඳින්ම දැන සිටියේය.

තිබෙනා දිගම මාවත ඔස්සේ තම යහලුවාගේ සත්ත්ව ගාල වෙත යාමට ඔහු තීරණය කළේය. නගරයේ වූ මාළිගය පසුකර යද්දී සිය ගමන නතර කළ ඔහු මාළිගා පවුර මතට විහිද තිබූ ගලින් සැදි බැවුම දිගේ නගින්නට

පටන් ගත්තේය. පවුර මත නැගී ඔහුට දුරින් පිහිටි අප්‍රිකාව පෙනුණි. මුළු ස්පාඤ්ඤය පුරාම පැළපැදියම් වීම පිණිස මරක්කලයන් පැමිණියේ එහි සිට යැයි කවුදෝ වරෙක ඔහුට පවසා තිබුණි.

මහල්ලා සමගින් කතා බහේ පැටලී උන් කඩ පොළද ඇතුළුව මුළු මහත් නගරයම වාගේ ඔහු වාඩි වී හුන් තැනට අපූරුවට පෙනුණි. "හරිම ශාපලත් මොහොතක තමයි මට නාකියව මුණ ගැහුණේ." යි ඔහු කල්පනා කළේය. නගරය වෙත ඔහු ආවේ තම හීනය තේරුම් කර දිය හැකි ගැහැණියක් සොයා ගැනීම පිණිසය. එහෙත් ගැහැණිය හෝ මහල්ලා හෝ යන මේ දෙදෙනාගෙන් එකකුටවත් තමා එඬේරෙකු ය යන කාරණය තදින් හිතට වැදුනේ නැත. තව දුරටත් පුද්ගල බැඳීම් පිළිබඳව විශ්වාස නොකළ හුදෙකලා ආත්මයන් වූ ඔවුහු එඬේරුන් කොතරම් තදින් තම බැටළු රංචුව වෙත බැඳී ඉන්නේද යන්න කෙසේවත් වටහා ගත්තේ නැති. එහෙත් රංචුවේ හැම සතකු පිළිබඳවම ඔහු වෙන් වෙන් වශයෙන් දැන සිටියේය. අබ්බගාත වූ සතුන්, තව මාස දෙකක ඇවෑමෙන් පැටවුන් වැදීමට නියමිත සතුන් මෙන්ම රංචුවේ උන් අලසයන් පිළිබඳවද ඔහුට දැනුවත් කමක් තිබුණි. එසේම ලොම් කප්පාදුව හා සතුන් මස් කිරීම ගැනද ඔහුට තේරුම්කමක් තිබුණි. ඉදින් ඔහු උන් ටික අමතක කර දැමීමට තීරණය කළහොත් උන්ට විඳවීමට සිදුවනු ඇත්තේය.

ක්‍රම ක්‍රමයෙන් සුළං හමන්නට පටන් ගත්තේය. ඔහු ඒ සුළඟ කුමක් දැයි දැන උන්නේය. ඇත පෙරදිග මධ්‍යධරණී ප්‍රදේශයේ ලෙවන්ට් හි සිට මරක්කල වර්ගයා පැමිණ තිබුණේ මෙම සුළඟත් සමඟ නිසාවෙන් ඊට මිනිස්සු 'ලෙවැන්ටර්' සුළඟ යයි කීමට පුරුදුව සිටියෝය.

සුළඟේ වේගය නොනවත්වාම ඉහළ යමින් තිබුණි. "මං මෙතන බැටළු රංචුවකුයි නිධානයකුයි මැද්දේ අතරමං

වෙලා." කොලුවා කල්පනා කළේය. ඔහුට සිදුව තිබුණේ දැනටමත් හුරුවී සිටි දෙයක් හා ලබාගැනීමට වුවමනාව තිබූ දෙයක් අතරින් එකක් තෝරා ගැනීමටය. මේ අතරමැද වෙළෙන්දාගේ දියණියද සිටි මුත් ඈ මෙහිදී බැටළු රංචුව තරම් වැදගත් නොවුනේ ඈ ඔහුගෙන් යැපුනේ නැති හෙයිනි. සමහර විට ඇයට ඔහු පිළිබඳ මතකයක් නැතිවා වෙන්නටත් පිළිවන. ඔහු කවදා එන්නේ ද යන්න ගැන ඇයට විශේෂයක් නැති බව ඔහුට සහතිකය. ඇය සම්බන්ධයෙන් ගත් කළ ඇයට නම් හැම දවසක් ම එක වගේය. හැම දවසක්ම එළෙඹෙන දවස හා සමාන වන්නේ, ඉර උදාවන්නා වූ හැම දවසක් පාසාම තම ජීවිතයේ එළඹෙන යහපත් දේවල් හඳුනා ගැනීමට මිනිසුන් අසමත් වන හෙයිනි.

"මං මගේ තාත්තයි අම්මයි, නගරෙ මාළිගාවයි ඔක්කොම අතෑරල ආවෙ. ඒ හැමෝමත් මං නැතිව ඉන්න හුරු වෙලා ඇතුවා වගේම මාත් ඒ අය නැතිව ඉන්න හුරුවෙලා. ඒ තාලෙටම බැටළුවොත් මං නැතිව ඉන්න හුරුවේවි." කොලුවා එසේ කල්පනා කළේය.

හිඳගෙන හුන් තැන සිටම ඔහුට කඩපොළ නැරඹිය හැකි වුණි. මිනිස්සු නො නැවතී බේකරියට ආවෝ ගියෝය. ඔහු මහල්ලා සමඟ කතාවට වැටී හුන් බංකුව මත හිඳගෙන උන් ප්‍රේමවන්තයෝ යුවලක් එකිනෙකා සිප ගත්තෝය.

"අර බක්කරේ...." ඔහු තමාටම කියා ගත්තේ සිත වූ සිතිවිල්ල සම්පූර්ණ කර නොගනිමිනි. ලෙවැන්ටර් සුළඟ තවමත් තදින් හමමින් තිබුණෙන් එහි වේගය ඔහුගේ මුහුණට දැනුණි. ඔව්, මරක්කලයන් මෙහි කැන්දන් එනු ලැබුවේ මෙම සුළඟ විසිනි. තවද එම සුළඟ විසින් කාන්තාරයේ මෙන්ම, මොට්ටැක්කිලි දමාගත් කාන්තාවන්ගේ සුවඳද මෙහි ගෙනෙනු ලැබ ඇත්තේය. එසේම, සැඟවුන දේවල්, රත්

රුවන් හා වීර චාරිකා මතු නොව පිරමීඩ සොයාගෙන පිටව ගියා වූ මිනිසුන්ගේ දහදිය මෙන්ම ඔවුනගේ සිහිනද එම සුළඟ විසින් රැගෙන එනු ලැබ තිබුණේය. සුළඟ අත්පත් කරගෙන ඇත්තාවූ නිදහසට ඊර්ෂ්‍යා කිරීමට පටන් ගත් කොලුවා තමාටද එවැනිම නිදහසක් ලබා ගැනීමට ඉඩක් තිබෙන බව වටහා ගත්තේය. තමා හැරුණු විට, තමාට බාධා කළ හැකි, තමාව නවතාලිය හැකි, වෙනත් කිසිම දෙයක් නැති. බැටළු රංචුව, වෙළෙන්දාගේ දියණිය, මෙන්ම අන්දාලුසියාවේ කෙත් යායවල් යන මේ සෑම සියලු දෙයම ඉරණම සොයා යන ඔහුගේ චාරිකාවේ හුදු අවස්ථාවන්ම පමණි.

ඊළඟ දවසේ මද්දහනේදී, කොලුවා මහල්ලාව මුණ ගැසුණි. ඔහු බැටළුවන් හය දෙනෙකු දක්කාගෙන විත් තිබුණි.

"හැම වෙලාවෙම කාරණා සිද්ධ වෙන්නෙ ඒ විදිහට තමයි." මහල්ලා කීය. "ඒකට කියන්නෙ අනුග්‍රාහකත්වයේ නියමය කියලයි. ඔයා මුල්ම වතාවට කාඩ් සෙල්ලම් කරන කොට දිනන එක සහතිකයි. ඒක තමයි කෝඩුකාරයාගේ වාසනාව."

"ඇයි ඒ?"

"හැම තිස්සෙම ඔයාගේ ඉරණම අවබෝධ කරවන්න වුවමනාවක් තියෙන බලයක් ක්‍රියාත්මක වෙන නිසා. එම බලය ජයග්‍රහණය පිළිබඳ රසවත් හැඟීමකින් ඔයාගෙ අපේක්ෂාවන් මුවහත් කරනවා. පෝෂණය කරනවා."

අනතුරුව මහල්ලා බැටළු රංචුව පරීක්ෂා කරන්නට පටන් ගත්තේ ඉන් එකකු කොර බව දුටුවේය. රංචුවේ ඉන්නා නුවණක්කාරම හා වැඩි ලොම් ප්‍රමාණයක් ලබා දෙන සතා උඟ නිසා මෙම අඩුපාඩුව එතරම් ගණන් ගත යුතු නැති බව කොලුවා තේරුම් කර දුන්නේය.

"දූත් එතකොට ඔය නිධානෙ තියෙන්නෙ කොහේ ද?" ඔහු ඇසීය.

"ඊජිප්තුවේ පිරමීඩ ළඟ."

කොලුවා තිගැස්සුණි. අර නාකි ගැහැණිය කීවේත් මේ ටිකමය. එහෙත් ඈ එක දොයිතුවක් ඔහුගෙන් අය කළේ නැති.

"නිධානෙ හොයා ගන්න නම් ඔයාට සිද්ධ වෙනවා පෙරමඟ නිමිති අනුව ගමන් කරන්න. දෙවියන් වහන්සෙ හැම කෙනෙකු උදෙසාම මාවතක් නිර්මාණය කරලා තියෙනවා. ඉතිං ඔයාට තියෙන්නෙ උන්වහන්සේ ඔයාට වෙන් කරල තියෙන නිමිති හරියට තේරුම් ගන්න එක විතරයි."

කොලුවා ඊට පිළිතුරු දෙන්නට පෙර සමනළයෙක් ඔහු හා මහල්ලා අතරට පැමිණ තටු ගසන්නට පටන් ගති. තම සීයා විසින් වරෙක පවසන ලද දෙයක් එවිට ඔහුගේ මතකයට නැගුණි. එය නම් සමනළයන් වනාහි සුබ ලකුණක් බවයි. රැහැයියන්, බලාපොරොත්තු, කටුස්සන්, පත්‍ර හතරක් ඇති උඳු පියලිය ආදිය මෙන්ම එයද සුබ ලකුණකි.

"හරියට හරි." කොලුවාගේ සිතිවිලි කියවීමට සමත් මහල්ලා කීවේය. "ඔයාගේ සීයා උගන්වපු විදිහට තමයි. මේවා ඔක්කොම සුබ ලකුණු."

මහල්ලා තම කෙටි කබාය විවර කරද්දී දුටු දෙයින් කොලුවා තුෂ්ණිම්භූත විය. වටිනා ගල් අල්ලන ලද ඝන රතින් නිම වූ සන්නාහයක් මහල්ලා පැළඳ සිටියේය. කලින් දවසේ තම දෑස් අඳ කළ අර දීප්තිමත් එළිය ගැන කොලුවාට මේවෙලේ මතක් වුණි.

"ඔහු නම් ඇත්තටම රජෙකි. හොරුන්ගෙන් බේරීමට ඔහු මේ වෙස් වලාගෙන ඉන්නවා විය යුතුය."

"මෙන්න මේවා අරගන්න." තම සන්නාහයේ මැද ඔබ්බවා තිබූ සුදු හා කළු ගල් කැට දෙකක් දක්වමින් මහල්ලා කීවේය. මේවට කියන්නේ උරිම් සහ තම්මිම් කියලයි. කළු එකේ තේරුම 'ඔව්' කියන එකයි. සුදු එකේ තේරුම 'නෑ.' ඔයාට මඟ ලකුණු තෝර බේරගන්න බැරිවෙන හැම වෙලාවකදීම මේවා පිහිටට ඒවි. හැබැයි හැම වෙලාවෙම මොකක් හරි අරමුණක් තියෙන ප්‍රශ්නයක් අහන්න.

"හැබැයි ඒත් පුළුවන් හැම වෙලාවෙම තමුන්ගෙම තීරණයකට එන්න බලන්න. දැනටමත් ඔයා දන්නවා නිධානෙ තියෙන්නෙ පිරමීඩ කිට්ටුවය කියන කාරණේ. ඒත් මට මේ බැටළුවෝ දහ දෙනාම ගනමනාව හැටියට ගන්න අයිතියක් තියෙනවා මං ඔයාට තීරණයක් ගන්න උදව් කළ නිසා."

කොල්ලා ගල් කැට දෙක තම පසුම්බියට ලා ගති. මෙතැන් සිට ඔහු තනිවම තීරණවලට එළඹෙනු ඇත්තේය.

"අමතක කරන්න එපා ඔයා කරන කියන හැම දේම යොමුවෙලා තියෙන්නෙ එකම අරමුණකට මිසක් වෙන දේකට නොවේය කියන එක. ඒ වගේම මඟ ලකුණු වලින් කියවෙන දේවල් අමතක කරන්නත් එපා. ඔක්කොටම වඩා අවසානය එළඹෙන තුරු කොයිම වෙලාවකදීවත් ඔයාගේ ඉරණම සොයාගෙන යන ගමන අමතක කරන්න එපා.

"අනික, මං පිටත් වෙලා යන්න කලියෙන් ඔයාට කතාවක් කියන්න ඕනෑ.

"එක්තරා කඩ කාරයෙක් තමුංගෙ පුතාව ලෝකෙ ඉන්න ඥාණවන්තම මිනිහා ළඟට යැව්වා සතුටේ රහස දැනගෙන එන්නයි කියලා. කාන්තාරය හරහා දවස් හතලිහක් තිස්සේ ඇවිදං ගිය ළමයා අන්තිමේදී කඳු ගැටයක් මුදුනේ ඉදිකරල තිබුණ අලංකාර මාළිගාවක් ළඟට ආවා. අන්න ඒකේ තමයි ලෝකෙ හිටපු ඥාණවන්තම මිනිහා ජීවත් වුණේ.

"ශාන්තුවර මනුස්සයෙක් හමුවීම කොහොම වුනත් අපේ වීරය මාළිගාවේ ප්‍රධාන කාමරයට ඇතුල් වෙනකොටම දැක්කා මහ කඩිසර කමක ගිලුණ වටපිටාවක්. වෙළෙන්දො ඇතුළට යනව එනවා, මුළු මුළු වල මිනිස්සු කතා බහේ පැටලිලා ඉන්නවා. ඒ වගේම කුඩා සංගීත කණ්ඩායමක් බොහෝම ළයාන්විත වාදනේක යෙදිලා. ඒ විතරක් නෙවෙයි ඒ පළාතේ තියෙන රසවත්ම කෑම බීම පිරුණ පිඟන් වලින් වැහිල ගිය මේසෙකුත් එතන තිබුණා.

"මේ අතරෙ ලෝකෙ ඉන්න ඥාණවන්තම මිනිහා එතන උන්න හැමෝම එක්ක කතාබස් කළා. ඉතිං අපේ යාලුවට සිද්ධ වුණා ඔහුගේ අවධානය ලබගන්න හරියටම පැය දෙකක් තිස්සේ බලා ඉන්න.

"ළමයා මෙහෙට ආපු කාරණාව බොහොම සාවධානව අහං හිටිය ඥාණවන්ත මිනිහා කිව්වා එයාට දැන් නම් ඔය සතුටේ රහස ගැන කියා දෙන්න වෙලාවක් නැතිය කියලා. ඒ නිසා එයා ළමයට කිව්වා මාළිගාව ඇතුලෙ ඇවිදිලා විස්තර බලා කියාගෙන දෙපැයකින් ආපසු එන්න.

"හැබැයි එහෙම ඇවිදින ගමන් ඔයා පොඩි වැඩක් කරන්නත් ඕනෑ." තෙල් බිංදු දෙකක් දාපු හැන්දක් ළමයගේ අතට දෙන ගමන් ඥාණවන්ත මිනිහා කිව්ව. "ඇවිදින අතරේ ඔයා මේ හැන්දත් අතේ තියාගන්න ඕනෑ. හැබැයි තෙල් බිංදුවක්වත් බිම වැටෙන්න දෙන්න බෑ

"ඔන්න ඉතින් මේ විදිහට ළමයා තෙල් හැන්ද දිහා බලාගෙනම මාළිගාව ඇතුලෙ තිබ්බ හැම පඩිපෙළකින්ම නැග නැග බැහැ බැහැ ගියා. දෙපැයක් ගෙවුනාම එයා ආයිත් ආවා ඥාණවන්ත මිනිහා හිටපු කාමරේට.

"හරිම අපූරුයි නොවැ." ඥාණවන්ත මිනිහා කිව්වා. "මගේ කෑම කාමරේ එල්ලල තියෙන අර පර්සියානු බිත්ති

සැරසිලි ටික දැක්කද? උද්‍යාන ශිල්පියෙකුට හදන්න විතරක් දහ අවුරුද්දක් ගත වෙච්ච මගේ උද්‍යානෙ දැක්කද? මගේ පුස්තකාලෙ තිබ්බ කදිම කඩදාසි හෙම දැක්කද?"

අපහසුවට පත් ළමයා තමා මේ කිසිම දෙයක් නොදුටු බව හෙළිදරව් කළේය. ඔහුගේ සම්පූර්ණ අවධානය යොමුව තිබුණේ ඥාණවන්ත මිනිසා විසින් විශ්වාසයෙන් භාරදෙන ලද හැන්දේ තිබූ තෙල් බිංදු දෙක ඉහිරෙන්නට නොදී රැක ගැනීම කෙරෙහිය.

"හොඳයි, දැන් එහෙනම් ආපහු ගිහින් මගේ ලෝකයේ තියෙන ආශ්චර්යයන් දැක බලාගෙන එන්න." ඥාණවන්ත මිනිසා කිව්වා. "මිනිහෙකුගේ ගේ දොර ගැන දන්නෙ නැතිනම් ඔයාට බෑ ඒ වගේ කෙනෙක් ගැන විශ්වාසයක් තියන්න.

"ඥාණවන්ත මිනිහගේ කතාවෙන් සැනසීමට පත් වුන ළමයා දෙවැනි වතාවෙදී හැන්දත් අතේ තියාගම බිත්තිවල තිබුණ ලස්සන චිත්‍ර දිහා බල බලා මාළිගාව පුරාම ඇවිද්දා. උද්‍යාන වටේට තියෙන කඳු, මල් වල අලංකාරය මේ හැම දේම දැක බලාගත්ත ළමයා ඒවා තේරීමට සමත්වූ රසිකත්වය ගැන පුදුම වුණා. අන්තිමේ ආපහු ඥාණවන්ත මිනිහා ළඟට ආව ළමයා තමුන් දැකපු හැම දේම විස්තර කරලා කිව්වා.

"ඒත් කෝ මං අර ඔයාට පරිස්සම් කර ගන්නය කියලා දුන්න තෙල් බිංදු දෙක?" ඥාණවන්ත මිනිසා ඇහුවා.

"හැන්ද දිහා එතකොට බලපුවමයි ළමයා දැක්කෙ තෙල් ටික ඉහිරිලා ගිහින්ය කියන එක.

"බොහොම හොඳයි. මට ඔයාට දෙන්න තියෙන්නෙ එකම එක අවවාදයක් විතරයි." ඥාණවන්තයන් අතර ඥාණවන්තයා වුණ ඒ මිනිසා කිව්වා. "සතුටේ රහස

කියන්නෙ වෙන මොකවත් නෙවෙයි තමුං අතේ තියෙන තෙල් බිඳු ඉහිරව ගන්නෙ නැතිව ලෝකෙ තියෙන අසිරිය බලාගන්න එකටයි."

එඬේරා කිසිත් කීවේ නැති. මහලු රජතුමා විසින් පවසන ලද කතාවේ අර්ථය මුළුමනින්ම ඔහු වටහා ගත්තේය. එඬේරෙකුට සංචාරය කෙරේ ඇලුම් කළ හැකි වෙතත් කිසිවිටකත් ඔහුට තම බැටළු රංචුව නම් අමතක කළ නොහැක්කේය.

ළමයා දෙස බලා සිටි මහල්ලා, තම දෑත් එකතුකර කොලුවාගේ හිසට ඉහලින් කිසියම් අමුතු අභිනයන් කීපයක් දක්වා සිටියේය. අනතුරුව තම ගතමනාව ලෙස ලැබුණ බැටළුවන් දක්කාගෙන ඔහු යන්නට ගියේය.

* * *

ටාරිෆාවේ උසම ස්ථානයෙහි මරක්කලයන් විසින් ඉදිකරන ලද පැරණි බලකොටුවක් තිබුණි. එහි පවුර මතට නගිනා කෙනෙකුට පහසුවෙන්ම අප්‍රිකාවේ දසුනක් ග්‍රහණය කර ගත හැකිය. මෙල්චිසෙඩෙක්, එනම් සලෙම් හි රජු එම හැන්දෑවේදී බලකොටුවේ පවුර මත හිඳගෙන සිටිනා විට, හමා යමින් තිබූ ලැවෙන්ටර් සුළගේ පහස ඔහුගේ මුහුණට දැනුණි. ඔහු අසල උන් බැටළුවෝ අලුත් හාම්පුතකු ලැබීම ගැන නොසන්සුන්ව දඟලමින් උන් අතර සිදුව ඇති වෙනස නිසා අවුලට පත්ව උන්නෝය. උන්ට වුවමනා වූ එකම දෙය ආහාර හා ජලයයි.

වරායේ සිට පිටතට යාත්‍රා කරමින් තිබූ කුඩා නෞකාවක් දෙස මෙල්චිසෙඩෙක් බලාගෙන සිටියේය. තම දහයෙන් පංගුවක ගාස්තුව අත්කරගත් පසු යළි කිසිම දිනෙක

ඒබ්‍රහම් මුණ නොගැසුන පරිද්දෙන්ම තමාට මේ කොලුවාද යළි කිසිම දිනෙක හමු නොවෙනු ඇත්තේය. එහෙත් ඔහුගේ කාර්යය වූයේ එයයි.

ඉරණම් නොමැති හෙයින් දෙවියන්ට අපේක්ෂාවක්ද නොතිබිය යුතුය. කෙසේ වෙතත් සලෙම් හි රජ්ජුරුවෝ කොලුවාගේ ගමන සාර්ථක වේවායි ප්‍රාර්ථනා කළේය.

"කොලුවාට ඉක්මනටම මගෙ නම අමතක වෙන්න යන එක නං හරිම නරකයි." ඔහු සිතුවේය. "ඒක කොලුවාට මතක තියෙනකන් මම ඒක ආයෙ ආයෙත් කියන්නයි තිබ්බෙ. එහෙම කළා නං එයා මං ගැන කතා කරන හැම වෙලාවකම මං සලෙම්වල රජ්ජුරුවෝ මෙල්චිසෙඩෙක් ය කියන එකත් සිහි කරන්න තිබ්බා."

මඳක් ලැජ්ජා සහගත හැඟීමකින් අහස දෙස බලමින් ඔහු මෙසේ කීවේයඃ "ඔබ වහන්සේ විසින්ද වදාළ පරිදි, මගේ උතුමාණෙනි, මෙය වනාහී නොවැදගත්ම නොවැදගත් කරුණක් බව මම දනිමි. එහෙත් මහලු රජ කෙනෙකුට ද ඇතැම් අවස්ථාවලදී තමාටම විශේෂ වන්නා වූ අභිමානයක්ද රැක ගැනීමට සිදුවන්නේය."

* * *

"අප්‍රිකාව මොන තරම් අමුතුද?" කොලුවා කල්පනා කළේය.

ටැන්ජියර්හි පටු වීදි දිගටම ඔහු දක ඇති තැබෑරුම් හා හැම අතින්ම සමාන වන්නා වූ තැබෑරුමක් තුළ ඔහු හිඳගෙන උන්නේය. සමහර මිනිස්සු අතින් අත හුවමාරු වූ විශාල පයිප්පයකින් දුම් උරමින් සිටියෝය. පැය කීපයක්

තිස්සේම ඔහු, අහිනන ගෙන ඇවිදින මිනිසුන් මෙන්ම, මුහුණු ආවරණය කරගත් ගැහැණුන් දිටීය. තවද කුළුණු මතට නැගගත් පූජකයන් යාතිකා පවත්වන විට ඔහු අසල සිටි හැම කෙනෙකුට පාහේ දණින් වැටී නළල බිම මත ස්පර්ශ කරනා අයුරුද ඔහු දිටීය.

"මේක නං හැබැයි මිත්‍යා දෘෂ්ඨික ඇදහිල්ලක්," ඔහු තමාටම කියා ගති. ළමයකු ලෙසින් සෙමනේරියේ උන්නාවූ කාලයේදී ඔහු හැම විටම පාහේ දුටු, අසු පිට නැගුණ සන්තියාගෝ මැටමොරොස් ශාන්තුවරයාගේ පිළිමය, කොපුවෙන් පිටත ගෙන ඇති එතුමාගේ අසිපත හා දූත් මෙහි දණින් වැටී ඉන්නා අය මෙන් තෙලා තිබූ පිළිම දෙස බලා සිටින්නට හුරුව උන්නේය. දූන් මේ මොහොතේදී කොලුවාට අසනීප ගතියක් මෙන්ම රුදුරු තනිකමක්ද දූනෙන්නට විය. මිත්‍යාදෘෂ්ටික ඇදහිල්ල විසින් මේ මිනිසුන් මත දුෂ්ට ස්වභාවයක් ආරෝපණය කර තිබුණි.

මේ සියල්ලටම වඩා, තම සංචාරයන්හි ඇලී ගැලී ඉන්නා අතරේ, බොහෝ කලකට තමාව නිධානය වෙතින් දුරස් කිරීමට සමත් එක් කරුණක්, එකම එක කරුණක් ඔහුට මුළුමනින්ම අමතකව ගොස් තිබුණි. ඒ මේ රටේදී භාවිතා කරන්නේ අරාබි බස පමණකිය යන්නයි.

තැබෑරුම් හිමියා ඔහු වෙත පැමිණි විට කොලුවා යාබද මේසයට සපයා තිබූ බීම වර්ගය ඔහුට දක්වා සිටියේය. එහි වූවේ තිත්ත තේ කහටයි. එහෙත් කොලුවාගේ කැමැත්ත වූයේ වයින් වලටය.

'කෙසේ වෙතත් කොලුවාට දූන් විස්සෝප වෙන්නට කරුණක් නැති. දූන් ඔහු කල්පනා කළ යුතුව තිබුණේ නිධානය ගැනත් එය ලබාගන්නේ කෙසේද යන්නත් ගැනය. බැටළු රංචුව විකුණූ හෙයින් දැන් ඔහු අතේ ඇති පදම් මුදල්

තිබුණි. එසේම මුදල් වල කිසියම් ඉන්ද්‍රජාලික බලයක් ඇති බවත් ඒවා ඇති කවරකු වුව තනි නොවෙන බවත් ඔහු දැන සිටියේය. වැඩිකල් නොයා දී සමහර විට දින කීපයකින් ඔහු පිරමීඩ කරා ළඟා වෙනු ඇත්තේය. දඹරන් සන්නාහයක් පැළඳි මහලු මිනිසකු කිසි විටකත් නිකම්ම නිකම් බැටළුවන් හය දෙනෙකු අත්කර ගැනීම උදෙසා බොරු කියන්නේ නැත.

මහල්ලා සංඥා හා පෙරමඟ නිමිති ගැන කියා තිබුණි. පටු මුහුදු තීරය තරණය කරනා අතරේ කොලුවා මඟ ලකුණු පිළිබඳව කල්පනාවේ පසු වුණේය. ඔව්, කතා කරන්නේ මොනවාද කියා මහල්ලා හොඳින් දැන සිටියේය. අන්දාලුසියාවේ කුඹුරු යායවල් අතර ගෙවූ කාලය තුළදී මහ පොළොව හා ආකාශය නිරීක්ෂණය කිරීම මගින් යා යුතු මඟ තෝරා ගැනීමට කොලුවා හුරු පුරුදු වී උන්නේය. කිසියම් කුරුල්ලකු හමුවුන විට එහි තේරුම අහල පහල සර්පයෙකු ඉන්නා බවත්, යම් පඳුරු වර්ගයක් ඇති තැන වතුර තිබෙනා බවට එය සළකුණක් බවත් ඔහු සොයා දැන සිටියේය. ඔහුට ඒවා ගැන කියා දුන්නේ බැටළුවන්ය.

ඉදින්, උන්වහන්සේ බැටළුවන් හට හොඳින් මඟ පෙන්වූයේ නම් එපරිදිම මිනිසාටද මඟ පෙන්වනු ඇතැයි කියා කොලුවා කල්පනා කළේය. ඒ සියල්ල නිසා ඔහුට යම් පහසුවක් දැනුණි. එවිට තේ වල තිත්ත පවා දැනුනේ අඩුවෙනි.

"ඔහේ කවුද?" ස්පාඤ්ඤ බසින් අමතන හඬක් ඔහුට ඇසුණි. කොලුවාට සහනයක් දැනුනේය. පෙර මඟ නිමිති ගැන කල්පනා කරනා විටම යම් කිසිවෙකු හමු වෙලාය.

"ඔහේ කොහොමද ස්පාඤ්ඤ බාසාව කතා කරන්නෙ?" ඔහු ඇසුවේය. අලුත පැමිණි අමුත්තා යුරෝපීය ඇඳුමින් සැරසුන තරුණයෙකු වූ නමුත් සමේ පැහැයෙන්

කියවුනේ ඔහු මේ නගරයේම අයෙකු බවයි. ඔහු කොලුවාගේ වයසේ වූ අතර උසින්ද ඔහුට සමාන විය.

"මෙහෙ ඉන්න හැමෝම ස්පාඤ්ඤ භාෂාව කතා කරනවා. අපි ඉන්නෙ ස්පාඤ්ඤයෙ ඉඳල පැය දෙකක දුරින්නෙ."

"ඉතිං වාඩිවෙන්නකො. ඔයාට සංග්‍රහයක් කරන්න ඕනෑ මට." කොලුවා කීවේය. "මට වයින් වීදුරුවක් ගේන්න කියනවද? මං ආස නෑ මේ තේ වලට."

"මේ රටේ කොහේවත් වයින් නෑ." තරුණයා කීවේය. "ආගමෙන් ඒවා තහනම් කරලයි තියෙන්නෙ."

එසේ නම් තමාට පිරමීඩ වෙත යාමට වුවමනා යැයි කොලුවා ඔහුට පවසා සිටියේය. නිධානය ගැන ඔහු හා කියන්නට පටන් ගත් නමුත් එසැනින් එය නොකියා සිටීමට කොලුවා තීරණය කළේය. බැරිවෙලාවත් තමා නිධානෙ ගැන කිව්වොත් හෙම මේ අරාබිකාරයාට ද තමා එහි රැගෙන යාම වෙනුවෙන් කොටසක් අවශ්‍ය වෙනු ඇත. තවමත් ලැබී නැති දෙයකින් දීම පිළිබඳව මහල්ලා කී දේ ඔහුට හොඳට මතකය.

"මාව එහේට එක්කරගෙන යන්න ඔයාට පුළුවනි නම් මං සතුටුයි. මගේ ආරක්ෂකයා හැටියට සේවය කරනවාට මට පුළුවනි ඔයාට පඩියක් ගෙවන්න."

"එහේට යන හැටි ගැන ඔයා මොනම දෙයක් හරි දන්නවද?" අමුත්තා ඇසීය.

තැබෑරුම් හිමියා අසල සිටගෙන ඔවුන්ගේ සංවාදයට ඉතා ඕනෑකමින් කන් දෙන බව කොලුවා දුටුවේය. ඔහු එතැන සිටීමෙන් කොලුවාට දැනුනේ අපහසුවකි. කෙසේ වෙතත් දැන් ඔහුට මග පෙන්වන්නෙකු හමු වී ඇති

හෙයින් අතට ආ අවස්ථාව ලිස්සා හැරීමට ඔහුට අවශ්‍ය නොවිණි.

"ඔයාට සිද්ධ වෙනව මුළු සහරා කාන්තාරෙම මැදින් යන්න." තරුණයා කීවේය. "ඉතිං අන්න ඒකට සල්ලි ඕනෑ කරනවා. මට දැනගන්න ඕනෑ ඔයා ළඟ ගමනට ඇති තරම් සල්ලි බාගෙ හෙම තියේද කියලයි."

එය නම් මහ අමුතුම ප්‍රශ්නයකැයි කොලුවාට සිතුණේය. එහෙත් කොලුවා මහල්ලා කෙරේ එනම්, ඔබට යමක් සැබැවින්ම අවශ්‍ය විට මුළු විශ්වාත්මය ඒ ලබා ගැනීම උදෙසා ඔබට උදව් කිරීමට පෙළ ගැසෙන්නේයැයි කී ඔහුගේ වචන ගැන විශ්වාස තැබීය.

පසුම්බියෙන් මුදල් එළියට ගත් කොලුවා ඒවා තරුණයාට පෙන්වා සිටියේය. තැබෑරුම් හිමියාද එතැනට කිට්ටුකර බැලීය. මිනිසුන් දෙදෙනා අරාබි බසින් යම් අදහසක් හුවමාරු කරගත් අතර තැබෑරුම් හිමියා වෙතින් පලවූයේ කිසියම් කෝප සහගත බවකි.

"අපි මෙතනින් එළියට බහිමු." අමුත්තා කීවේය. "තැබෑරුම්කාරයට ඕනෑ කරල තියෙන්නෙ අපිව මෙතනින් පන්න ගන්නයි."

කොලුවාගේ සිත සැහැල්ලු විණි. ඔහු බිල ගෙවා දැමීමට නැගිට්ට මුත් ඔහුව අල්ලා ගත් තැබෑරුම් හිමියා කෝපාන්විත වදන් වැලකින් කොලුවාට දමා ගසන්නට පටන් ගති. ශක්ති සම්පන්නයෙකු වූ කොලුවාටද එකට එක කිරීමට අවශ්‍ය වූ නමුත් ඔහු මේ ඉන්නේ ආගන්තුක දේශයකය. තැබෑරුම් හිමියාව පසෙකට තල්ලු කළ අලුත් මිත්‍රයා ඔහුවත් ඇදගෙන එළියට පැන ගත්තේය. "ඌට ඔයාගෙ සල්ලි කඩාගන්න ඕනෑ වෙලා." ඔහු කීවේය. " ටැන්ජියර් අප්‍රිකාවේ අනිත් පලාත් වගේ නෙවෙයි. මේක

ඇවිල්ලා වරායක්. හැම වරායකම වගේ ඒකටම අරක් ගත්ත හොරු ඉන්නවා."

ළමයා තම අලුත් මිත්‍රයාව විශ්වාස කළේය. දැනටමත් ඔහු තමාව අනතුරකින් ගලවාගෙන තිබේ. සිය මුදල් එළියට ගත් හේ එය ගැන බැලීය.

"අපිට හෙට පිරමීඩ තියෙන දිහාවට යන්න පුළුවනි." ඔහු අතින් මුදල් අරගන්නා ගමන් අලුත් මිත්‍රයා තෙපළීය. "ඒත් මට ඔටුවෝ දෙන්නෙක් සල්ලි දීලා ගන්න වෙනවා."

ටැන්ජියර්හි පටු වීදි දිගේ දෙදෙනා ඇවිද ගියෝය. හැම තැනම වාගේ වෙළඳ බඩු මුට්ටු පිරි කඩය. කඩපොල පැවති විශාල චතුරශ්‍රයක් මැදට ඔවුහු ළඟා වුණෝය. හෙට්ටු කරමින්, විකුණමින් හා මිලදී ගනිමින් උන් දහස් ගණනක් මිනිස්සු චතුරශ්‍රය තුළ පොදි කෑවෝය. කඩු කිරිච්චි අතරම, එළවලු ද, දුම්කොළ මිටි අතර ලස්සන පළස්ද වෙළඳාම සඳහා ප්‍රදර්ශනය කෙරෙමින් පැවත්තේය. එහෙත් කොලුවා කිසිම විටකත් සිය මිතුරා වෙතින් දෑස් ඉවතට ගත්තේ නැති. දැන් අන්තිමේදී තමාගේ මුළු සේසතම ඇත්තේ එම අලුත් මිත්‍රයා ළඟය. තම මුදල් ආපසු ඉල්ලා ගැනීමට සිත් වුවද ඒ සමඟම එය මිත්‍රශීලී නොවන බවද ඔහුම තීරණය කළේය. තමා දැන් ඉන්නා රටේ පවතින චාරිත්‍ර වාරිත්‍ර පිළිබඳව ඔහු මෙලෝ හසරක් දැන සිටියේ නැති.

"මං මිනිහා දිහා ඇහ ගහං ඉන්නංකො." ඔහු තමාටම කියා ගත්තේය. එසේම තමා මේ මිත්‍රයාට වඩා ශක්තිමක් බැව්ද හේ දැන සිටියේය.

හදිසියේම, මේ සියලු කලි කලහ මැද එතෙක් මෙතෙක් ඔහු දැක තිබූ අලංකාරම අසිපත ඔහුගේ නෙත ගැටුණේය. එහි කොපුව රිදීයෙන් කැටයම් කර තිබුන අතර මිට කළු පාටින් නිමවා වටිනා ගල් ඔබ්බා තිබුණි. තමා

ඊජිප්තුවේ සිට ආපසුආ සැනින් මේ කඩුව මිලයට ගන්නා බව කොලුවා තමාටම සපථ කර ගත්තේය.

"අර වෙළෙන්දාගෙන් අහන්න අන්න අතන තියෙන කඩුවේ ගාණ කීයද්දයි කියල." ඔහු තම මිත්‍රයාගෙන් ඉල්ලා සිටියේය. එසේම තමා අසිපත දෙස ඇස් රඳවාගෙන මොහොතක් තම සිතට අයාලේ යන්නට ඉඩ හැරිය බවද ඔහු වටහා ගති. තම පපුව විසින් තදින් තෙරපනු ලැබ ඇත්තාක් මෙන් හදවත හිරවෙනු කොලුවාට දැනුනි. දැන් තමාට දකින්ට ලැබෙන දේ කුමක් දැයි දැන සිටි හෙයින් ඔහු වට පිට බලන්නටද බිය විය. අන්තිමේදී වට පිට බලන්නට තරම් දිරියක් උපදවා ගන්නට සමත් වෙන තුරු හෙතෙම තවත් ටිකක් වේලා එම ලස්සන අසිපත දෙසම බල බලා උන්නේය.

ඔහු වටකරගෙන තිබුණේ කෑගාමින්, මිලට ගනිමින්, විකුණමින් මිනිසුන් ආ ගියා වූ, එමෙන්ම කෑම වල සුවඳින් පිරුණාවූ වෙළඳ පොළය. කොතැනකවත් ඔහුගේ අලුත් මිත්‍රයා දකින්නට නොවී.

කොලුවාට වුවමනා වූවේ තම මිත්‍රයා අහම්බෙන් මඟ හැරුණු බව විශ්වාස කරන්නටය. එතැනම නැවතී හිඳ ඔහු එසේ බලා ඉන්නා අතරේ ළඟ තිබූ කුළුණක් මුදුනට නැගත් පූජකයෙක් සිය යාතිකාව පටන් ගති. වෙළඳ පලේ උන් සියල්ලෝම එකෙණෙහි බිම දණ ගසා ගෙන, නළල් බිම ඔබා ගනිමින් යාඥාවට එක් වූවෝය. අනතුරුව කුහුඹු ජනපදයක කුහුඹුවන් මෙන් තම කඩපිල් අකුලාගත් ඔවුහු ඉවත්ව ගියෝය.

සූර්යයා තම සමුගැනීම ආරම්භ කළේය. චතුරශ්‍රය වටකර ගෙන සිටි සුදු ගොඩනැගිලි පිටුපසින් සූර්යයා සැඟව යන තුරු මඳ වේලාවක් ඔහු එහි ගමන් මඟ නරඹමින් පසු

වුණේය. මෙම උදෑසන ඉර උදාවන විට තමා බැටළුවන් හැටකගේ හිමිකරුවෙකු හැටියට ඉඳිමින් ගැහැණු ළමයෙකු හමුවීමේ අපේක්ෂාවෙන් වෙනත් මහාද්වීපයක සිටි බව ඔහුට සිහිපත් වුණි. එම උදෑසන හුරු පුරුදු කුඹුරු යායවල් අතරින් ඇවිද ගිය විටදී තමාට අනාගතයේදී සිදුවීමට නියමිත සියළුම දෑ පිළිබඳවද ඔහු දැන සිටියේය. එහෙත් දැන් එම දවසේම ඉර බැස යන විටදී ඔහු ඉන්නේ වෙනස් වූ භාෂාවක් කතා කිරීමට නොදන්නා වෙනත් රටක අමුතු බිමක, අමුත්තෙක් ලෙසටය. තව දුරටත් එඬේරෙකු නොවූ ඔහු සතුව කිසිවක්ම, අඩු ගණනේ ආපහු ගොස් අහිමි වූ ජීවිතය යළි පටන් ගැනීම සඳහා මුදල්වත් නැත.

"මේ හැම දෙයක්ම සිද්ධ වුනේ ඉර උදාවෙලා අනිත් පැත්තෙන් බැහැල යන කාලය අතරතුර" යි කොලුවා කල්පනා කළේය. ඔහුට තමා ගැන හා තම ජීවිතය මෙතරම් හදිසි හා ප්‍රබල වෙනසකට බඳුන් වීම ගැන ශෝකී බවක් දැනුනේය.

අඬන්නට වුවමනාවක් ඇතිවීම ගැන හෙතෙම ලැජ්ජාවට පත් විය. ඔහු කිසිම දවසක තම බැටළු රංචුව ඉදිරියේවත් වැලපී තිබුණේ නැත. එහෙත් වෙළඳපල ජන ශූන්‍ය වී තිබූ සේම ඔහු උන්නේද තම නිවෙසින් බොහෝ දුරස්ව හෙයින් දැන් ඔහු වැලපුණේය. ඔහු දැන් වැළපුණේ දෙවියන් වහන්සේ අසාධාරණ වූ හෙයිනි. එසේම, තම සිහින පිළිබඳව විශ්වාස කළ අයට දෙවියන් වහන්සේ මේ අයුරින් ආපසු ගෙවීම් කර ඇති හෙයිනි.

"ඒ දවස්වල මට බැටළුවෝ ඉද්දී මං සතුටින් උන්නා. ඒ වගේම මං වටේ හිටපු අයත් සතුටු කළා. මං එනව දැක්කම මිනිස්සු මාව පිළිගත්තා." කොලුවා එසේ කල්පනා කළේය. "ඒත් දැන් මම දුකින් තනි වෙලා. එක

මිනිහෙක් මගේ විශ්වාසය පාවල දුන්න නිසා දැන් මම හැම මිනිහෙකුම අවිශ්වාස කරන්නයි, පිළිකුල් කරන්නයි හදන්නෙ. කවදාවත් මට මගේ නිධානෙ හමු නොවිච්චි හින්දා තම තමුංගේ නිධානෙ මතුකර ගන්න අයටත් වෛර කරන්නයි මං හදන්නෙ. ඒ වගේම ලෝකය ආක්‍රමණය කරන්න බැරි තරම් මං සුළු ජීවියෙක් නිසා දැන් හදන්නෙ මට තියෙන පුංචිම පුංචි වස්තුවේවත් එල්ලිලා ඉන්නයි."

තමාගේ සේසතින් ඉතිරි වී ඇත්තේ මොනවාදැයි බැලීමට ඔහු පසුම්බිය විවර කළේය. සමහර විට නැවේදී කෑ සැන්ඩ්විච් එකෙන් කෑල්ලක් ඉතිරි වී තිබෙන්නටද බැරි නැත. එහෙත් ඔහුට හමු වූයේ බරැති පොත, කබාය හා මහල්ලා විසින් දෙන ලද ගල්කැට දෙක පමණි.

ගල්කැට දෙක දකින විට කිසියම් හේතුවක් නිසා ඔහුට සහනශීලී හැඟීමක් ඇති වුනි. දඹරන් සන්නාහයකින් ගලවා ගන්නා ලද වටිනා ගල් කැට දෙකක් උදෙසා ඔහු බැටළුවන් හය දෙනෙකු හුවමාරු කරගෙන ඇත.

දැන් ඔහුට ගල් කැට දෙක විකුණා දමා ආපසු ගමට යාමට ටිකට් පතක් මිලට ගැනීමට පිළිවන. "ඒත් මේ පාර නම් මං පරිස්සම් වෙන්න ඕනෙ." තම සාක්කුවේ දමා ගත හැකි පරිදි ඒවා ඔලොගුවෙන් එළියට ගන්නා ගමන් ඔහු කල්පනා කළේය. මෙය වරාය බඳ නගරයක් වූ හෙයින් ඔහුගේ යහළුවා විසින් පෙන්වන ලද එකම එක සත්‍යය වූයේ එවන් නගර හැම විටම සොරුන්ගෙන් පිරී පවතින්නේය යන්නයි.

තැබෑරුම්කාරයා ඔය තරම් අසතුටට පත්ව සිටියේ ඇයිද කියා දැන් ඔහුට පැහැදිලිය. ඔහු කියන්නට උත්සාහ ගත්ත ඇත්තේ ඔය මිනිහව අදහන්න එපා කියා විය යුතුය. මාත් අනිත් මිනිසුන් වගේම තමයි. මමත් ලෝකෙ දිහා බලන්නෙ සිද්ධ වෙනව දකින්න මං ආස කරන දේවල්

අනුසාරයෙන් මිසක් සැබෑවටම සිද්ධ වෙන දේවල් වලින් නෙවෙයි.

ඉතා සෙමින් ගල් කැට මත තැබූ ඔහුගේ ඇඟිලිවලට එහි උණුසුම හා මතුපිට පහස දැනුණි. මේ ඔහුගේ නිධානයයි. ඒවා ස්පර්ශ කිරීම පවා ඔහුට වැඩි යහපතක් ගෙන දුන් අතර ඉන් අර මහල්ලා පිළිබඳ මතකයද අවදි වුණේය.

"ඔයාට යමක් හැබෑවටම අවශ්‍ය වෙන කොට ඒ දේ ලබාගන්න ඔයාට උදව් කරන්න මුළු ලෝකෙම පෙළ ගැහෙනවා." ඔහු එසේ කියා තිබුණි.

කොලුවා උත්සාහ දරමින් උන්නේ මහල්ලා පැවසූ දෙයෙහි සත්‍ය අසත්‍ය බව වටහා ගැනීමටයි. දැන් මේ ජන ශූන්‍ය වෙළඳ පොලේ ඔහු අතරමංව උන්නේ තම නමට එක තඹ සතයක් හෝ රාත්‍රිය පුරා රැක ගැනීමට බැටළුවෙක් තරම් වත් නැතිවය. එහෙත් තමාට රජෙකු-තම අතීතය අතැඹුලක් සේ දැන සිටි රජෙකු - හමු වූ බව ඔප්පු කළ හැකි සාධකය වූයේ මේ ගල් කැට දෙකයි.

"මේවට කියන්නෙ තම්ම් හා උරිම් කියලයි. ඔයාට මග ලකුණු තෝර පහද ගන්න ඒවා උපකාර කරාවි." තම ඔළොගුවට ගල්කැට දෙක ආපසු දමාගත් ඔහු අත්හදා බැලීමක් කරන්න තීරණය කළේය. මහල්ලා උපදෙස් දුන්නේ නිශ්චිත, පැහැදිලි ප්‍රශ්න අසන්නය. ඒත් ඉතිං එසේ ඇසීමට කලියෙන් තමාට සැබැවින්ම අවශ්‍ය කුමක්දැයි ඔහු නිශ්චය කරගත යුතුය. එහෙයින් මහල්ලාගේ ආශිර්වාදය තවමත් තමාට හිමිදැයි ඔහු අසා සිටියේය.

අනතුරුව ඔහු පසුම්බියෙන් එක ගලක් අහඹු ලෙස ගත්තේය. ඒ 'ඔව්' යන උත්තරය හිමි ගලයි.

"එතකොට මට මගේ නිධානෙ හමුවෙයිද?" ඔහු ඊළඟට ඇසීය.

යළිත් වතාවක් ඔලොගුවට අත දමූ ඔහු ගලක් අර ගැනීම සඳහා ඇඟිලි එහෙ මෙහෙ කළේය. ඔහු එසේ උත්සාහ දරද්දී ඔලොගුවේ සිදුරකින් රූටා ගිය ගල් කැට දෙක බිම පතිත වුණි. ඔලොගුවේ සිදුරක් තිබූ බවක් කොලුවා ඒ වනතුරුත් දැන සිටියේ නැති. උරිම් හා තම්මිම් අහුලාගෙන යළිත් පසුම්බිය තුළ රුවා ගැනීමේ අදහසින් ඔහු එහි දණ ගැසුවේය. එහෙත් බිම වැටී තිබූ ගල්කැට දකිනා විටම ඔහුගේ සිතට තවත් කියමනක් සිහිපත් වුණි.

"නිමිති අඳුන ගන්න ඉගෙන ගන්න. ඊට පස්සෙ ඒවා අනුව වැඩ කරන්න." මහලු රජු එසේද කියා තිබුණේය.

"පෙරමඟ නිමිත්තක්." කොලුවා තනිවම සිනාසුණි. ගල් කැට දෙක අහුලාගත් හෙතෙම ඒවා යළි තම පසුම්බියේ ලා ගති. පසුම්බියේ සිදුර මසා දැමීමට ඔහු කල්පනා කළේත් නැති. ඒවාට අවශ්‍ය විටක සිදුර තුළින් බිම වැටීමට පුළුවන. යමකු තම දෛවයෙන් පලා යාමේ අදහසින් ඇසිය යුතු නොවෙනා සමහර ප්‍රශ්නද තිබෙන බව ඔහු උගෙන තිබුණි. මට අදාල තීරණ මං ම ගන්නවයි කියල මං පොරොන්දු වුණා. ඔහු තමාටම කියා ගති.

එහෙත් මහල්ලා තවමත් තමා සමඟින් ඉන්න බව ගල් කැට දෙක ඔහුට පැවසූ හෙයින් ඉන් ඔහුට වැඩි විශ්වාසයක් දැනුණි. පෙරට වඩා අඩුවෙන් දැනුන අපේක්ෂාභංගත්වය පිළිබඳ හැඟීමකින් ඔහු යළිත් ජන ශූන්‍ය චතුරශ්‍රය සිසාරා නෙත් යොමු කළේය. කෙසේ වෙතත් මෙය නම් ආගන්තුක ස්ථානයක් නොවේ. අලුත් ස්ථානයකි.

සියල්ලටම පසුව, සෑම විටම පාහේ ඔහුට වුවමනා කළේ මෙය පමණකි. අලුත් ප්‍රදේශ දැන කියා ගැනීම! පිරමීඩ කරා කවදාවත්ම යාමට බැරි වුවද දැනටමත් ඔහු කවර එඬේරෙකුවත් නොගිය දුරකට ගොස් හමාරය. "ෂෙහ්, තමුං

ඉන්නා පළාතෙ ඉඳල පැය දෙකක නැව් සංචාරයකින් මෙපිට තියෙන්නෙ මොන තරම් වෙනස් ලෝකයක්ද කියලා ඔවුන් දන්න සිටියානම්." ඔහු කල්පනා කළේය. ඔහුගේ නව ලෝකය මේ මොහොතේදී නිකමම නිකම් ජනශූන්‍ය කඩපොලක්ව පැවතිය ද එය පණ ලබා තිබූ අවස්ථාවද ඔහු දැක තිබුනෙන් කිසි දිනෙක ඔහුට එය අමතක නොවෙනු ඇත. මේ අතරේ ඔහුට අසිපත පිළිබඳවද සිහිපත් වුණි. ඒ පිළිබඳව සිහිපත් කිරීම මඳක් හද රිදවුන කරුණක් වුවද, එවන් අසිපතක් නම් කිසිම දිනෙකවත් ඔහු දැක තිබුනේ නැත.

මේ දේවල් පිළිබඳව මෙනෙහි කරද්දී සොරෙකුට බිලි වූ අහිංසක ගොදුරක් ලෙස හෝ, වික්‍රමාන්විත අයුරින් තම නිධානය සොයා යන්නෙක් යන මේ දෙයාකාරයකින් එක් අයුරකින් තමා පිළිබඳව කල්පනා කිරීමට තීරණය කළ යුතු බව ඔහුට වැටහී ගියේය.

"මම නිධානයක් සොයාගෙන වීර චාරිකාවක යෙදෙන කෙනෙක්." ඔහු තමාටම කියා ගත්තේය.

*　*　*

යම් කිසිවෙකු විසින් ඔහු අවදි කරනු ලැබිණි.

කඩපොලේ මැද ඔහු තද නින්දක ගිලී ඉන්නා අතරේ, චතුරශ්‍රයේ ජීවිතය පණ ලබන්නට ආසන්න වෙමින් පැවතුණි.

වට පිට බලමින් තම බැටළු රංචුව ගැන විපරම් කළ ඔහුට තමා මේ ඉන්නේ නව ලෝකයක බව අවබෝධ වුණි. ඔහුට ඉන් දැනුනේ දුකක් නොවේ. සතුටකි. නව දුරටත් බැටළු රංචුවකට කන්න බොන්න සෙවීමේ වගකීමක් ඔහුට

නැති. ඒ වෙනුවට දූන් ඔහුට තම නිධානය සොයා යා හැකිය. සතයක්වත් පසුම්බියේ නැතද ඔහු ළඟ විශ්වාසය තිබුණි. තමා කියවූ පොත්වල තිබී හමු වූ තමා මහත්සේ අගය කළ වීර චරිත තරමටම තමාද වික්‍රමාන්විත වෙන්නෙමැයි ගෙවුන රාත්‍රියේදී ඔහු තීරණය කර තිබුණි.

හෙමින් හෙමින් ඔහු වෙළඳ පල තුළින් ඇවිදගෙන ගියේය. වෙළෙන්දන් තම කඩ පිල් සූදානම් කරමින් සිටි අතර කොලුවා සූකිරි වෙළෙන්දෙකුට තම සල්පිල ඇර ගැනීම සඳහා උදව් කළේය. සූකිරි වෙළෙන්දාගේ මුහුණේ වූවේ සිනාවකි. තම ජීවිතය කෙබඳු දැයි දූන සිටීම නිසා සතුටින් සිටි ඔහු දවසේ වැඩ ඇරඹීමට සූදානමින් සිටියේය. වෙළෙන්දාගේ සිනහව ඔහුට සිහිපත් කළේ මීට පෙර ඔහුට මුණ ගැසුනාවූ මහලු රජුගේ මුහුණයි. මේ වෙළන්දා සූකිරි හදන්නේ නැති නිසා ඕනෑ වෙලාවක දේශ සංචාරයේ යෙදෙන්න හරි, සාප්පු කාරයෙකුගේ දූවෙක් බැඳගන්න හරි එයාට පුළුවන්. එයා මේ සූකිරි වෙළඳාම කරන්නෙ එයාට කරන්න ඕනැකම තියෙන කටයුත්ත වෙළඳාම නිසයි. කොලුවා එසේ කල්පනා කළේය. මහල්ලා විසින් කරන ලද දේ කිරීමට තමාටද හැකියාවක් ඇතැයි කොලුවා මෙහිදී අවබෝධ කර ගති. එනම් නිකම් එක බැල්මකින් පමණක් යමකු තම ඉරණම ජය ගැනීමට සමීපව ඉන්නේද නැතිනම් ඉන් බැහැර වන්නේද යන්න ඔහුට වටහා ගැනීමට පිළිවන. "ඒක හරිම ලේසියි. ඒත් මං තවමත් ඒ විදිහට අනුන් ගැන වටහා ගන්න උත්සාහ කරලා නෑ." ඔහු එසේ සිතීය.

කඩය පිළිවෙලක් කළ පසුව සූකිරි වෙළෙන්දා දවසේ වෙළඳාම උදෙසා පිළියෙළ කළ මුල්ම සූකිරි වලින් ටිකක් කොලුවාට පිළිගැන්වීය. වෙළෙන්දාට ස්තුති කළ කොලුවා එය අනුභව කළේ, තම මඟ යන්නට පිටත් වුණේය. ටික දුරක් ඇවිදගෙන යද්දී ඔහුට වැටහුනේ කඩය පිළියෙල

කිරීමෙ යෙදී සිටියදී ඔවුන්ගෙන් එකකු අරාබි බස කතා කරද්දී අනෙකා ස්පාඤ්ඤ බස කතා කළ බවයි.

එහෙත් ඔවුන් එකිනෙකා නියමාකාරයෙන් කී දේවල් අවබෝධ කරගෙන තිබුණි.

වචන වලින් නිදහස් වුණ භාෂාවක් මේ ලොවේ තිබිය යුතු යැයි කොලුවා කල්පනා කළේය. "බැටළුවා එක්ක ඉන්න කාලෙ මට ඒ අත්දැකීම තිබුණා. දැන් මිනිස්සු එක්කත් ඒකමනෙ මේ වෙන්නෙ."

ඔහු සිටියේ බොහෝ දේ උගනිමිනි. එසේ උගනිමින් සිටි සමහර දේවල් කොහෙත්ම අලුත් නොවූ, දැනටමත් ඔහු අත්විඳ තිබූ, එහෙත් මීට පෙර කිසිම දවසක තේරුම් නොගත් දේවල්ය. එසේම ඒවා තේරුම් ගැනීමට අසමත්ව තිබුණේ ඔහු එම දේවලට ඇබ්බැහිව සිටි නිසාවෙනි. වදන් රහිත මේ භාෂාව වටහා ගන්නේ කෙසේ දැයි ඉගෙන ගැනීමට තමනට පුළුවන් වේ නම් ලොව අවබෝධ කර ගැනීමටද තමාට ඉගෙන ගත හැකි යැයි කොලුවා කල්පනා කළේය.

සැහැල්ලුවෙන් හා කලබලයෙන් තොරව තමා ටැන්ජියර් හි පටු වීදි දිගේ ඇවිද යන බව ඔහු වටහා ගත්තේය. පෙර මඟ ලකුණු තෝරා බේරා ගැනීමට ඔහු සමත් වෙනු ඇත්තේ ඒ ආකාරයෙන් ගමන් කිරීමෙන් පමණි. එහෙත් එසේ කිරීම සඳහා විශාල ඉවසීමක් අවශ්‍ය වෙන බව ඔහු දැන සිටියේය. තමා බැටළුවන් සමඟ ගෙවූ කාලය තුළ උගත් පාඩම ම මේ අගන්තුක රටෙහිදී ද යළිත් වරක් භාවිතා කරමින් ඉන්නා බව ඔහු නැවත වරක් දිටීය.

"හැම දෙයක්ම යොමු විය යුත්තේ එකම අරමුණක් උදෙසාය."

මහළු මිනිසා එසේ කියා තිබුණේය.

* * *

දවසේ උදාවත් සමඟම අවදි වූ පලිඟු වෙළෙන්දාට හැම උදෑසනකම දැනෙනා සංකාකූල බව දැනෙන්නට පටන් ගැනුණි. පුරා අවුරුදු තිහක් තිස්සේම ඔහු එකම ස්ථානයක, එනම් ගණුදෙණුකරුවන් සුළු පිරිසක් එහා මෙහා ගමන් කළ කඳුකර මාවතක් මුදුනේ වූ කඩයක ජීවත් වී තිබුණි. දැන් නම් මොනම තාලේ වෙනසක් සඳහා වුව පමා වැඩිය. ඔහු උගෙන තිබූ එකම කර්මාන්තය වූයේ පලිඟු භාණ්ඩ මිළට ගැනීම හා විකිණීමය. අරාබි වෙළෙඳුන්, ඉංග්‍රීසි හා ප්‍රංශ භූ විද්‍යාඥයින්, ජර්මන් සොල්දාදුවන් වැනි අතමිට සරු බොහෝ මිනිසුන් ඔහුගේ වෙළෙඳ සැල ගැන දැන සිටියා වූ කාලයක්ද තිබුණේය. ඒ කාලයේදී නම් පළඟු බඩු විකිණීම බොහෝ ප්‍රිය උපදවන දෙයක් වූ සේම ඔහු කල්පනා කළේද තමාට පොහොසතකු වීමට හැකි වී, වයස යන විට තමා පසෙකින් හිඳීමට ලස්සන කාන්තාවක්ද සොයා ගැනීමට හැකිවෙනු ඇතැයි කියාය.

එහෙත්, කාලය ගෙවී යද්දී ටැන්ජියරය වෙනස් වුණේය. අසල වූ 'සෙයුටා' නගරය ටැන්ජියරයට වඩා සීඝ්‍රයෙන් දියුණු වී මෙහි ව්‍යාපාර බිඳ වැටුණි. අසල්වැසි වෙළෙන්දෝ නගරය හැරදා ගියෙන් කඳු මුදුනේ ඉතිරි වූයේ කුඩා කඩ සාප්පු කීපයක් පමණි. පුංචි කඩ සාප්පු කීපයක සවාරි ගැහීමට පමණක්ම කන්දකට බඩ ගාතා කෙනෙක් නැති.

එහෙත් පලිඟු වෙළෙන්දාට විකල්පයක් නොවී. අවුරුදු තිහක් තිස්සේම පලිඟු බඩු මිලට ගනිමින් හා

විකුණමින් ජීවත් වූ ඔහුට දූන් අන් කිසිවක් සඳහා සිත යෙදවීමට කල් පසුවූවා වැඩිය.

වීදිය දිගේ ඉඳහිට යන එන්නන් දෙස බලා සිටිමින් ඔහු මුළු උදය වරුවම ගෙවා දැම්මේය. වසර ගණනාවක් බලා හිඳ ලත් අත්දැකීමෙන් ඔහු එතන පසුකර යන්නන් ගේ කාල සටහන මනාව දැන සිටියේය. එහෙත් හරියටම කෑම වෙලාවට කලියෙන් කොල්ලෙක් කඩය ඉදිරියේ නතර වුණි. සාමාන්‍ය තාලයට හැඳ පැළඳ උන්නත් ඔහු සතුව වියදම් කිරීමට නම් එක තඹයකුදු නැති බව අත්දැකීම් පිරි වෙළඳ නෙතට පෙනුණේය. කෙසේ වෙතත් කොලුවා යළි සිය ගමන අරඹන තුරු තවත් මිනිත්තු කීපයකට තම දවල් කෑම පමා කිරීමට වෙළෙන්දා තීරණය කළේය.

* * *

වෙළඳ සැල තුළ භාෂා කිහිපයක් භාවිතා කරනු ලබනා බව උළුවස්සේ එල්ලා තිබූ දැන්වීමකින් පැවසුණි. කවුන්ටරයට පිටුපසින් මිනිසෙකු මතුවෙනු කොලුවා දිටීය.

"ඔහේ කැමති නං මට පුළුවනි ඔය ජනෙල් වීදුරු ටික පිරිසිදු කරල දෙන්න." කොලුවා කීය. "දැන් තියෙන හැටියට නම් කාටවත් ඕනෑ වෙන එකක් නෑ ඕවා සල්ලි දීලා ගන්න."

කිසිදු ප්‍රතිචාරයක් නොදක්වමින් වෙළෙන්දා කොලුවා දෙස බැලීය.

"ඉතිං වැඩේට හිලව්වෙන්න ඔහේට පුළුවනි මට කෑම ටිකක් දෙන්න."

මිනිසා එවිටද කිසිත් නොකීවෙන්, ඔහුට තීරණයක් ගැනීම උදෙසා යමක් කළ යුතු බව කොලුවාට ඉවෙන්

මෙන් දැනුණි. ඔහුගේ ඔළොගුවෙහි කබාය තිබුණි. නිසැකවම කාන්තාරයේ ගමනට එය අවශ්‍ය නොවෙනු ඇත. එහෙයින් කබාය එළියට ගත් කොලුවා ඉන් වීදුරු පිස දමන්නට පටන් ගති. පැය භාගයක් ගතවෙන විට ඔහු සියලුම වීදුරු පිස දමා ඉවරය. එසේම ඔහු තම කාරියෙහි නිරතව ඉන්නා විට ගණුදෙණුකරුවන් දෙදෙනෙක් කඩයට ගොඩ වී පළිඟු මිලට ගත්තෝය.

පිරිසිදු කිරීම අහවර වූ පසුව කොලුවා මිනිසාගෙන් කෑමට යමක් ඉල්ලා සිටියේය. "හොඳයි, එහෙම නම් අපි ගිහින් මොනව හරි කමු." පළිඟු වෙළෙන්දා කීය.

වෙළෙන්දා දොරෙහි දැන්වීමක් එල්ලූ පසු දෙදෙනාම ළඟ තිබූ අවන්හලක් වෙත ගියෝය. එහි වූ එකම මේසය අසල ඔවුන් වාඩි වූ පසුව පළිඟු වෙළෙන්දා සිනාසුණි.

"ඔයා මොනම වැඩක් වත් කරන්න අවශ්‍ය නෑ." ඔහු කීවේය.

"බඩගිනි කාරයෙකුට කෑම ටිකක් දෙන්න කියලා කුරාණය අපට නියම කරලා තියෙනවා."

"හොඳයි, එහෙනං ඇයි ඔහේ මට ඒ වැඩේ කරන්න ඉඩ ඇරියෙ?" කොලුවා ඇසීය.

"පළිඟු වල හොඳටම දූවිල්ල වැදිල තිබ්බ නිසා. අනික මගෙයි ඔයාගෙයි දෙන්නගෙම හිත්වල තිබ්බ කහටත් හෝදල ඇරල පිරිසිදු කරන්න ඕනෑ වුන නිසා."

ඔවුන් කෑම කා හමාර වූ ඉක්බිති වෙළෙන්දා කොලුවා වෙත හැරුණේය. "මං කැමතියි ඔය ළමයා මගෙ සාප්පුවෙ වැඩ කරනවා නං. අද ඔයා වැඩ කරපු ඩිංගට ගණුදෙණු කාරයෝ දෙන්නෙක්ම ආවා. ඉතිං අන්න ඒක නං සුබ නිමිත්තක්."

"මිනිස්සු නිමිති ගැන හරියට කතා කරනවනේ." යි එඬේරා එවිට කල්පනා කළේය. "ඒත් මේ මිනිස්සු තමුං කියන්නෙ මොනව කියල ඇත්තටම දන්නෙ නෑ. හරියට මේ තරං අවුරුදු ගානක්ම මං වචන මොකුත් නැති බාසාවකින් බැටළුවෝ එක්ක කතා කළ වග මටම වටහා ගන්න බැරි වුණා වගේ."

"ඔයාට මං ළඟ වැඩ කරන්න ඕනෑද?" වෙළෙන්දා ඇසීය.

"දවසෙ ඉතිරිවෙලා තියෙන හැම තත්පරයක් ගානෙම මං වැඩ කරන්නං." කොලුවා පිළිතුරු දුන්නේය. "එළිවෙනතුරු මුළු රෑ පුරාමත් වැඩ කරලා මං ඔහේගෙ කඩේ තියෙන හැම පළිඟුවක්ම සුද්ද කරලා දෙන්නං. හැබැයි ඒකට හිලව් වෙන්න, හෙට මට සල්ලි දෙන්න ඕනෑ ඊජිප්තුවට යා ගන්න."

වෙළෙන්දා සිනාසුණේය. "ඔයා මුළු අවුරුද්දක් තිස්සෙ මගේ පළිඟු බඩු සුද්ද කළත්, විකුණන හැම කෑල්ලටම අඩු ගානේ හොඳ කොමිස් එකක් ලැබුණ වුනත්, ඊජිප්තුවට යන්න ඔයාට තව සල්ලි ණයට ගන්නත් වේවි. මෙහෙයි එහෙයි අතරෙ කිලෝමීටර් දහස් ගාණක කාන්තාරයක් තියෙනවා."

මුළු නගරයම නින්දේ ගිලී ගියාක් මෙන් වූ, මොහොතක ගැඹුරු නිහැඬියාවක් එහි පැවතුණේය. කඩපොලෙන් කිසිදු හඬක්, වෙළෙන්දන් අතරින් නැගෙනා වාදයක්, යාඥා කුළුණ මතට මිනිසුන්ගේ ආරෝහණයක් මේ කිසිත් එවේලේ සිදු වූවේ නැති. එසේම, කිසිදු ආකාරයක බලාපොරොත්තුවක්, වීර චාරිකාවක්, මහලු රජවරුන්, ඉරණම, නිධානයක්, පිරමීඩ යන මේ කිසිවකුත් නැති. කොලුවාගේ ආත්මය බිඳ වැටුන නිසා මුළු ලොවම ගොළු වී ගියාක් මෙනි. එම මොහොතේදී සියල්ලම සදහටම නැති

බංග වී, තමා මිය ගියා නම් හොඳයැයි සිතමින්, අවන්හලේ දොරටුව තුළින් හිස් බැල්මෙන් පිටත බලාගත්වනම කොලුවා එහි හිඳගෙන උන්නේය.

තැවුල් සිතින්, වෙළෙන්දා කොලුවා දෙස බලාගෙන උන්නේය. එම උදෑසන ඔහු අත් විඳි සතුට හදිසියේම එහෙම පිටින් අතුරුදන් වී ගොස්ය.

"ඔයාගේ රටට ආපහු යන්න ඕනෑ කරන සල්ලි ඔයාට දෙන්න මට පුළුවනි පුතා." පළිඟු වෙළෙන්දා අන්තිමේදී කීවේය.

එහෙත් කොලුවා කිසිත් කීවේ නැති. නැගිටගත් ඔහු තම ඇඳුම් හරි බරි ගස්සා ගත්තේ ඔළොගුව අතට ගත්තේය.

"මං ඔහේ ළඟ වැඩ කරනවා." ඔහු කීවේය.

අනතුරුව ගෙවුනාවූ දිගු නිහැඬියාවකට පසුව ඔහු මෙසේද එකතු කළේය:

"බැටළුවෝ ටිකක් අරගන්න මට සල්ලි ඕනෑ කරල තියෙනවා."

පූරා මාසයක්ම පළිඟු වෙළෙන්දා ළඟ මෙහෙ කළ කොලුවා කොහෙත්ම මේ නම් තමාව සතුටට පත් කරනා තාලේ රැකියාවක් නොවන්නේ යැයි ඒ කාලය තුළදී වටහා ගත්තේය. වෙළෙන්දා මුළු දවසම පාහේ ගත කළේ කවුන්ටරය පිටුපසට වී කොඳුරමින් හා පළිඟු බඩු ප්‍රවේශම් කරන්නැයි ද, ඒවා නොබිඳින්නට වග බලා ගන්නැයිද කොලුවාට පුන පුනා කියමිනි.

කෙසේ වුවත් කොලුවා පළිඟු වෙළෙන්දා ළඟ රැකියාවේ රැඳී උන්නේ කුකුළු කේන්තිකාරයෙකු වුවද ඔහු කොලුවාට සාධාරණ අයුරින් සැළකූ හෙයිනි. විකුණන ලද සෑම භාණ්ඩයකින්ම හොඳ කොමිස් මුදලක් ඔහුට ලැබුණෙන් දැනටමත් යමක් අත ඉතිරි කරගන්නට ඔහු සමත්ව සිටියේය. එම උදෑසන ඔහු ඒ පිළිබඳ ගණන් හිලව් බලා තිබුණි. මෙතෙක් වැඩ කළ අයුරින්ම ඉදිරියටත් වැඩ කළද බැටළුවන් කීප දෙනෙකු මිලට ගැනීමට තරම් යමක් ඉතිරි කර ගන්නට නම් ඔහුට තවත් පූරා වසරක්ම අවශ්‍ය වෙනු ඇත.

"මං කැමැතියි පළිඟු බඩු පේන්න තියන්න පුළුවන් විදිහෙ ප්‍රදර්ශන රාක්කයක් හදන්න පුළුවන් නම්." කොලුවා වරෙක කීවේය. "අපිට පුළුවනි ඒක එළියෙන් තියල, කඳු පාමුලින් යන මිනිස්සුන්ව අද්දා ගන්න."

"මීට කලින් නම් ඒ වගේ දෙයක් කරලා නෑ මම කවදාවත්." වෙළෙන්දා පිළිතුරු දුන්නේය. "මෙතන පසු

කරල යන මිනිස්සුන්ගෙ ඇඟේ හැපිල අපේ බඩු ටික පොඩි වෙලා යයි.

"හොඳයි, ඉතිං මම බැටළුවොත් අරං කුඹුරුවලට ගියහම උන්ව විෂ සර්පයො දෂ්ට කරල මැරිච්ච වෙලාවල් තිබ්බ තමයි. හැබැයි ඒත් ඒක තමයි එඬේරුන්ගෙයි බැටළුවන්ගෙයි ජීවිත ගෙවෙන තාලෙ."

පළිගු වීදුරු තුනක් මිලදී ගැනීමට වුවමනා කළ පාරිභෝගිකයෙක් වෙත වෙළෙන්දා හැරුණේය. ඔහුගේ වෙළෙඳාම දූන් දූන් අන් කවරදාටත් වඩා සරුවට කෙරෙමින් තිබුණේය. එය හරියට මෙහි වීදි ටැන්ජියර්වල වැඩිම ආකර්ශනය දිනා සිටි ස්ථාන බවට පත්ව තිබූ සමය දක්වා කාලය ආපසු ගමන්කර ඇතිවාක් මෙනි.

"වෙළඳාම නම් හොඳටම සරු වෙලා." ගණුදෙනුකරුවා නික්ම යන තුරු සිටි වෙළෙන්දා කීවේය. "මං දැන් නම් ජයට වෙළඳාම කරගෙන යනවා. ඉක්මනින්ම ඔයාට තමුං ගෙ බැටළු රංචුව ළඟට යන්න පුළුවන් වේවි. එහෙව් එකේ අහවල් දෙයක් හිත්දද මේ තරම් දේවල් තවත් ජීවිතෙන් ඉල්ල හිටින්නෙ?"

"අපිට නිමිතිවලට ප්‍රතිචාර දක්වන්න සිද්ධ වෙන නිසා." කොහෙත්ම එසේ අදහස් නොකළද කොලුවා එසේ කීවේය. එහෙත් එසැණින්ම එසේ කීම ගැන ඔහු පසු තැවුණේය. ඒ වෙළෙන්දාට කිසි දිනකවත් අර රජු මුණ ගැසී නොතිබුණ හෙයිනි.

"ඒකට කියන්නෙ අනුග්‍රාහකත්වයේ මූලධර්මය කියලයි. කෝඩුකාරයාගෙ වාසනාව. මොකද කිව්වොත් කෙනෙක් තමුංගෙ ඉරණම ජය ගන්නව දකින්න ජීවිතය අපේක්ෂා කරන නිසා." මහලු රජු එසේ කියා තිබුණි.

එහෙත් කොලුවා කීවේ කුමක් දැයි වෙළෙන්දා අවබෝධ කර ගති. කොලුවා වෙළඳසැල ඉදිරිපිට නතර වීම

ම වූ කලී සුබ නිමිත්තක් වූ අතරම කාලය ගෙවෙද්දී ඔහුගේ ලාච්චුවට සල්ලි උනන්නට පටන් ගත්තෙන් ඔහුව සේවයට ගැනීම ගැන නම් වෙළෙන්දා කොහෙත්ම පසු තැවුණේ නැති. ළමයාට හිමි විය යුතු ප්‍රමාණයටත් වඩා වැඩියෙන් ගෙවනු ලැබුවේ එසේ කිරීම තුළින් තව තවත් වෙළෙඳාම ඉහළ දැමීමට කොලුවා පෙළඹේ යයි සිතා වෙළන්දා ඔහුට ඉහළ කොමිස් මුදලක් ලබා දුන් හෙයිනි. ඉතා ඉක්මනින් කොලුවා ආපසු තම බැටළු රංචුව වෙත යතැයි ඔහු කල්පනා කළේය.

"ඔයාට පිරමීඩ තියෙන දිහාවට යන්න ඕනෑ වෙලා තියෙන්නෙ මොන එහෙකටද?" ප්‍රදර්ශන රාක්කයක් සෑදීමේ කතාවෙන් පිට පැනීමේ අරමුණින් ඔහු ඇසීය.

"මං හැමදාමත් ඒව ගැන අහ දැනගෙන උන්න නිසා." තම සිහිනය ගැන කිසිත් නොපවසන්නට ප්‍රවේශම් වෙමින් කොලුවා පිළිතුරු දුන්නේය. දැන් නිධානය යනු වේදනාබර මතකයකට වඩා වැඩි දෙයක් නොවූ හෙයින් ඒ පිළිබඳව මෙනෙහි කිරීමෙන් වැලකී හිඳිනට ඔහු වෙර දැරීය.

"පිරමීඩ දැක බලා ගන්න තියෙන ඕනෑකම නිසාම විතරක් කාන්තාර තරණය කරන්න දඟලන කිසිම කෙනෙක් ගැන මම නම් මේ අහල ගං හතකවත් අහල නෑ." වෙළෙන්දා කීවේය. "ඒවා නිකම්ම නිකම් ගල් කුළුණු විතරනේ. ඔන්න ඔයාට ඕනෑකමක් තියේ නං එයින් එකක් ගෙවත්ත පිටිපස්සෙ හදාගන්න වුනත් බැරි යැයි."

"කවදාවත් ඔයා සංචාරය ගැන හීන දැකල නෑ." වෙළෙඳ සැලට ගොඩ වූ ගණුදෙනුකරුවෙකුට ඉඩ දීමට පසෙකට හැරෙනා ගමන් කොලුවා කීය.

දින දෙකක් ගෙවුන තැන වෙළෙන්දා කොලුවා සමඟින් රාක්කය පිළබඳව කතා කළේය.

"මං වැඩිය කැමැති නෑ වෙනස්කම් වලට." ඔහු කීවේය. "ඔයයි මායි දෙන්නගෙන් කවුරුවත් අර පෝසත් වෙළෙන්දා හසාන් වගේ නෙවෙයිනේ. ඔන්න එයාට නං ඉතිං මිලට ගැනීම් වලින් වැරැද්දක් වුනොත් ඒකෙන් ඒ තරම් පාඩුවක් වෙන්නෑ. ඒත් අපිට එහෙමද? පාඩුව කියන්නේ අපේ ජීවිතේම කොටසක්."

"ඔන්න ඒකනං සහතික ඇත්ත." පසු තැවෙනා ගමන් කොලුවා කල්පනා කළේය.

"අපිට රාක්කයක් ඕනෑයි කියලා ඔයා හිතන්නෙ ඇයි?"

"මං ඉක්මනටම ආපහු මගේ බැටළු රංචුව ළඟට යන්න ඕනෑ හින්දා. වාසනාව අපේ පැත්තෙ තියෙන කොටයි අපි උපරිම එල නෙලාගන්න ඕනෑ. වාසනාව අපිට අත දෙන කොට, එහෙම කරන්න අපි වාසනාවට පුළුවන් තරම් උදව් කරන්න ඕනෑ. අනුග්‍රහාකත්වයේ මූලධර්මය කියන්නෙ ඒකටයි. එහෙමත් නැතිනම් කෝඩුකාරයින්ගේ වාසනාව."

මිනිත්තු කිහිපයක් ගතවෙන තුරු වෙළෙන්දා නිහඬව උන්නේය. ඉන්පසු ඔහු මෙසේ කීවේයඃ "අනාගත වක්තෘවරයා අපිට කෝරාණය දීල, අපේ ජීවිත කාලය තුළදී පිළිපැදිය යුතු නියමයන් පහක් පතවල තියෙනවා. ඒවයෙන් වඩාම වැදගත් වෙන්න, ලෝකයෙ ඉන්නෙ එකම සත්‍යවාදී දෙවියන් වහන්සෙ කෙනෙක් විතරය කියන එකයි. අනිත්වා තමයි දවසට පස් වතාවක් යාඥා කිරීම, රාමසාන් කාලෙට උපවාස කිරීම ඒ වගේම දුප්පතුන්ට ත්‍යාගවන්ත වීම...."

ඔහු එතැනදී නිහඬ වීය. අනාගත වක්තෘවරයා පිළිබඳව කතා කරන විට ඔහුගේ දෑස් කඳුලින් පිරී ගියේය. බෙහෙවින් කැප වූ මිනිසකු වූ ඔහුට, සිතේ සැනසුම මුළුමනින්ම නැතිව ගිය විටදී පවා අවශ්‍ය වූයේ ඉස්ලාම් නීතියට අනුව දිවි ගෙවන්නටය.

"හොඳයි, එතකොට මොකකද්ද පස්වෙනි නියමය?"

"දෙදොහොකට කලින් ඔයාම කිව්වා මම කවදාවත් සංචාරය කිරීම ගැන හීන මවල නෑ කියලා." වෙළෙන්දා පිළිතුරු දුන්නේය. "හැම මුස්ලිම් වරයෙකුගේම පස්වෙනි අරමුණ තමයි වන්දනාවේ යාම. ජීවිතේ එකම එක වතාවකදී හරි ශුද්ධ වූ මක්කම නගරය වැඳ පුදා ගන්න අපිට නියම වෙලා තියෙනවා."

"මක්කම තියෙන්නෙ පිරමීඩ වලටත් හුඟක් එපිටින්. තරුණයෙක් වෙලා හිටි කාලෙදි මට ඕනෑ වුණ එකම දේ කඩේ පටන් ගන්න එකට සෑහෙන තරම් මුදලක් ඉතිරි කර ගන්න එකයි. ඉතිං මං හිතුවා කවදාම හරි දවසක කාසිකාරයෙක් වුනාම මට මක්කම යන්න පුළුවන් වේය කියල. ඔන්න ඉතිං මට සල්ලි ලැබෙන්න පටන් ගන්න කොටම වුනේ කඩේ තියල යන්න පුළුවන් විශ්වාසවන්තයෙක් සොයා ගන්න නැති වුන එකයි. ඔයා දන්නවනේ පළිඟු මොන තරම් මෘදු දෙයක්ද කියලා. ඒ කාලෙදී හැම වෙලාවෙම මිනිස්සු මගෙ කඩේ පහුකරං මක්කම වන්දනාවේ ගියා. ඒ අයගෙන් සමහරු වැඩ කාරයොයි, ඔටුවොයි ඇතුව තවලම් ගැහිල ගිය කාසි පනම් තියෙන පෝසත්තු. හැබැයි මක්කම ගිය හුඟක් උදවිය මටත් අන්ත දුප්පත්තු."

"එහෙම ගිය හැම කෙනෙක්ම උන්නෙ තමුන්ගෙ වන්දනා ගමන ගැන හරිම සතුටින්. ගමන සිහිවෙන්න අරං ආපු සිහිවටන ඒ ගොල්ල තමුංගෙ ගෙයි දොරකඩ තියා ගත්තා. එක මිනිහෙක්, ඒ කියන්නෙ මුළු ජීවිත කාලෙම සපත්තු අළුත් වඩියා කරපු සපතේරුවෙක් කිව්වා එයාට මුළු අවුරුද්දක් පුරාම කාන්තාරය හරහා යන්න සිද්ධ වුණාය ඒත් එයා වැඩියෙන්ම වෙහෙසට පත් වුනේ ඒ ගමනෙදි

නෙමෙයි සපත්තු වලට හම් මිලට ගන්න ටැන්ජියර් වල වීදි ගානෙ යන්න සිද්ධ වුන වෙලාවෙය කියලයි."

"හොඳයි, ඇයි එහෙනම් ඔයා දැන් මක්කම නොයන්නෙ?" යි කොලුවා ඇසීය.

"වෙන මොකුත් නිසා නෙවෙයි, දූන් මාව ජීවත් කරවන්නෙ මක්කම ගමන කියන සිතුවිල්ල නිසා. මේ ගොලු පළිඟු, රාක්ක, එපා කරපු එකම කඩෙන් කන දවල් රෑ කෑම ඔන්න ඔය වගේ දේවලින් පිරුණ මේ ඒකාකාරී දවස් වලට මූණ දෙන්න මට උදව් කරන්නෙ ඔය හිතිවිල්ල තමයි. බැරි වෙලාවත් මගෙ හීනෙ හැබෑ වුනොත් හෙම ජීවත් වෙන්න අරමුණක් නැතිවේද කියල මට බයයි.

"ඔයා හීන දකින්නෙ පිරමිඩයි බැටළුවොයි ගැන. ඒත් ඔයා මගෙන් වෙනස් වෙන්නෙ ඔයාට තමුන්ගෙ හීන හැබෑ කරන්න හැබෑවටම ඕන කරල තියෙනවයි කියන කාරනෙන්. ඒත් මට ඕනෑ මක්කම ගැන හීන දකින්න විතරයි. මං දූනටමත් දහස් වාරයක් හිතෙන් මවාගෙන තියෙනවා කාන්තාරය හරහා මක්කම ගිහින් චතුරශ්‍රයේ තියෙන ශුද්ධ වූ පාෂාණය දූකල ඒක ස්පර්ශ කරන්න කලියෙන් හත් වටයක් වටේ වන්දනා කරන හාලෙ. ඒ වගේම මං හිතෙන් මවාගෙන ඉන්නවා. ඒ වෙලාවට මගේ පැත්තෙන්, ඉස්සරහින් ඉන්න මිනිස්සු එක්ක කතාබහ කරන හැටි. එකට එකතු වෙලා සංග්‍රහ කරන හැටි. ඒත් මට බයයි මේ ඔක්කොම බලාපොරොත්තු කඩවීමකින් කෙළවර වෙයිදෝ කියලත්. ඒ නිසා මං පුරුදු වෙලා ඉන්නෙ හීන දකින්න විතරයි."

එම දවසේ දී වෙළෙන්දා රාක්කයක් සෑදීම සඳහා කොලුවාට සිය අවසරය දුන්නේය. එකම ආකාරයකින් තම සිහින සැබෑවෙනු දකින්නට කිසිම ජගතෙකුටත් නොහැක්කේමය.

* * *

තවත් දෙමාසයක් ගෙවුණි. අලුත් රාක්කය විසින් බොහෝ පාරිභෝගිකයක් වෙළඳසැලට අද්දවා ගනු ලැබුණි. මේ අයුරින් තවත් හය මසක් මෙහි රැකියාව කළහොත් ආපසු ස්පාඤ්ඤයට ගොස් බැටළුවන් හැටක් සහ තවත් හැටක් වශයෙන් මිලට ගැනීමට හැකි වෙනු ඇතැයි කොලුවා ගණන් හදා බැලීය. එවිට වසරකටත් අඩු කාලයක් තුළදී බැටළු රංචුව දෙගුණයක් වෙනු ඇත. එසේම දැන් ඔහු අරාබින්ගේ අමුතු භාෂාවද උගෙන සිටින හෙයින් ඔහුට අරාබින් සමඟ වෙළඳාම් කිරීමටද හැකි වෙනු ඇත. දැන් ඊජිප්තු ගමන, වෙළෙන්දාට මක්කම ගමන බඳු වූ සිහිනයක්ව ඇති හෙයින් ඔහු වෙළඳ පොළේදී අවසන් වතාවට උරගා බැලූ පසු තුම්මිම් හා උරිම්ගෙන් කිසිදු ප්‍රයෝජනයක් ගෙන නැත. කෙසේ වෙතත් ඒ වෙන විට කොලුවා රැකියාවෙන් තෘප්තියට පත්ව උන්නේ, සෑම මොහොතකදීම යළි ජයග්‍රාහයෙකු පරිද්දෙන් ටාරිෆාව වෙත ගොඩ බසින දිනක් ගැන සතුටින් කල්පනා කළේය.

"ඔයා හැම මොහොතකදීම තමුන්ට අවශ්‍ය මොනවද කියන එක හරියටම දැනගෙන ඉන්න ඕනෑ." මහලු රජ එසේ කියා තිබුණි. දැන් කොලුවා තමාට අවශ්‍ය කුමක් දැයි දැන සිටියා සේම ඒ ලබා ගැනීම උදෙසා වෙහෙස වී වැඩ කළේය. මේ ආගන්තුක රටෙහි නතර වෙන්නට සිදුවීම, හොරෙකුට රැවටීම හා සතයක්වත් වියදම් නොකර තම බැටළු රංචුව දෙගුණ කර ගැනීමට ඉඩ ලැබීම යන මේ දේවල් සමහර විට ඔහුට හිමි නිධානය වන්නටත් බැරි නැත.

ඔහු තමා පිළිබඳව ආඩම්බර වුණේය. පළිඟු බඳුන් වෙළඳාම, වදන් රහිතව භාෂාව සේම නිමිති හඳුනා ගැනීම යන වැදගත් කරුණු කාරනා ඔහු ඉගෙන ගෙන තිබුණේය. එක්තරා හැන්දෑවක, මේ තරම් කන්දක් නැගි පසුව මොනවා හරි යමක් බොන්නට වැදගත් තැනක් නැතිකම ගැන මැසිවිලි කියමින් ඉන්නා කෙනෙකු කොලුවාගේ නෙත ගැටී තිබුණි. දූනටමත් පෙර මඟ නිමිති හඳුනා ගැනීමට උගෙන සිටි කොලුවා වහා වෙළෙන්දාට කතා කළේය.

"අපි මේ කන්ද නගින මිනිස්සුන්ට තේ ටිකක් විකුණමු."

"අපෝ, මේ වටේටම තේ කඩ බර ගාණක් තියෙනවනේ." වෙළෙන්දා පිළිතුරු දුනි.

"ඒත් අපට පුළුවනි පළිඟු වීදුරු වල දාලා තේ විකුණන්න. එතකොට මිනිස්සු ඒ තේ බීල, සතුටු වෙලා, ඒ ගොල්ලට පළිඟු වීදුරු අරගන්නත් ඕනෑ වේවි - මිනිසාව වසඟයට ගනු ලබන්නේ ලස්සන විසිනි. - ඔන්න ඔහොමයි මට කියල දීල තියෙන්නේ."

වෙළෙන්දා එවේලෙහි කිසිත් නොකී මුත්, හැන්දෑවේදී යාඥාවන් හමාර කර කඩය වසා දැමූ පසුව, කොලුවාටද තමා සමඟින් හිඳගෙන 'හූකාව' එනම් අරාබීන් දුම් පානය සඳහා භාවිතා කළ පයිප්පය හවුලේ උරන්නට එන්නැයි ඇරයුම් කළේය.

"මොකක් නිසාද ඔයා ඔය තරමක් දඟලන්නෙ?" මහලු වෙළෙන්දා කොලුවාගෙන් ඇසීය.

"මං කිව්වනෙ, මට ඕනෑ මගේ බැටළු රංචුව ආපහු සල්ලිවලට අරගන්නයි. ඉතිං මට ඒකට සල්ලි ඕනෑ වෙලා තියෙනවා."

හූකාවට අලුත් දුම්කොළ ටිකක් දැමූ වෙළෙන්දා තදින් දුම් උගුරක් ඇද්දේය.

"දැන් තිස් අවුරුද්දක් පුරා මං මේ කඩේ කළා. පළිඟුවල හොඳ නරක වගේම, පළිඟු ගැන හැම දෙයක්මත් මං දැන් දන්නවා. ඒවගේ ප්‍රමාණ වගේම හැටි සොබාවත්. අපි පළිඟු භාජන වල දාල තේ විකුණනව කියන්නේ මේ කඩේ විශාල වෙනවය කියන එකයි. එතකොට මට මගේ ජීවන රටාවත් වෙනස් කර ගන්න වෙයි."

"හොඳයි ඒක නරකද?"

"මේ තියෙන විදිහට මං දැනටමත් හැඩ ගැහිලා ඉවරයි. මගෙ අතිත් යාලුවො එක්කො දියුණු වෙලා, නැත්තං බංකොලොත් වෙලා, මේ මොන තාලෙට හරි වෙනස් වෙද්දිත් මං එකම තැනක හිරවෙලා මොන තරම් කාලය අපතේ යවන්න ඇත්ද කියන එක ඔයා මෙහෙට එන්න කලියෙනුත් මං කී වතාවක් නම් කල්පනා කරන්න ඇතිද? එහෙම හිතිල්ලෙනුත් මාව අසහනයට පත් වුණා. දැන් නම් මට පේන්නෙ ඒක ඔය තරම් නරක නෑ කියලයි. කඩේ හැම වෙලාවෙම තිබ්බෙ මට ඕනෑ කරන, ගැලපෙන පරිමාණෙං. වෙනස්වීම් එක්ක කටයුතු කරන්නේ කොහොමද කියල නොදැන හිටපු නිසාම මට මේ කිසි දෙයක වෙනසක් දකින්න ඕන වුනේ නෑ. මේ ඉන්න තාලෙට දැන් මං හුරු වෙලා."

මොනවා කියන්නදැයි කොලුවාට නොදැනුණි. ඒ අතරේ මහලු මිනිසා දිගටම කතා කරගෙන ගියේය. "ඔයා මට හැබෑම ආශිර්වාදයක් වුණා. කලින් මගෙ හිතට නොවැටිච්චි දෙයක් මං අද තේරුම් ගත්තා. නොසලකා අරින හැම ආශිර්වාදයක්ම සාපයක් බවට පත් වෙනවා. මේ ජීවිතේදී මට වෙන කිසිම දෙයක් අවශ්‍ය නෑ. ඒත් දැන් ඔයා ඇවිල්ලා වස්තුව, නිධාන වගේම මං මීට කලියෙන් කිසිම දවසක දැකලා නැති දිගන්තයක් දිහා බලන්න මට බල කරනවා. දැන් ඉතිං මං ඒ දේවල් දැකලා අනේ මට මොන

තරමක් දේවල් කරන්න පුළුවන්කම තිබ්බද කියල වැටහුණාම ඔයා එන්න කලියෙන් දැනුනටත් වඩා විස්සෝප ගතියක් මට දැනෙනවා. ඒ, ඉටුකරගන්න මට පුළුවන් විය යුතු දේවල් මොනවද කියල දැන දැනත් ඒව දිනා ගන්න මට උවමනා නොවූ නිසා."

ටාරිෆාවේ අර බක්කරේ ගැන මොනම දෙයක්වත් මේ වෙළෙන්දාට නොකියා සිටීම මොන තරම් හොඳදැයි කොලුවා කල්පනා කළේය.

ඉර බහින්නට පටන් ගන්නා තෙක් ඔවුහු තවත් ටික වේලාවක් හූකාව උරමින් උන්නෝය. ඔවුහු අරාබි බසින් සංවාදයේ යෙදෙද්දී තමාටද ඒ භාෂාව පුළුවන් වීම ගැන කොලුවාට ආඩම්බරයක් දැනුණි. ලෝකය ගැන දැන ගැනීමට අවශ්‍ය වන්නා වූ සෑම සියලු දෙයම තමාට ඉගැන්වීමට බැටළු රංචුවට පුළුවන් යැයි ඔහු කල්පනා කළ කාලයක්ද තිබුණි. එහෙත් කිසිම දිනෙක උන් ඔහුට අරාබි බස නම් ඉගැන්වුවේ නැති.

"සමහරවිට බැටළුවන්ට උගන්නන්න බැරි වෙනත් දේවලුත් ඇති මේ ලෝකෙ." කොලුවා මහල්ලා ගැන මෙනෙහි කරනා අතරේ කල්පනා කළේය. ඇත්ත වශයෙන්ම ඔවුන් හැමදාමත් කළේ ආහාර හා ජලය සොයා යාම පමණි. එහෙයින් සමහර විට උන් මට ඉගැන්නුවා නොව මා උන්ගෙන් ඉගෙන ගත්තා විය යුතුය.

"මක්තුබ්!" අන්තිමේදී වෙළෙන්දා කීය.

"මොකක්ද ඒකෙ තේරුම?"

"තේරුම දැන ගන්න නම් ඔයා අරාබියෙක් වෙලා ඉපදෙන්නයි තිබ්බෙ." ඔහු පිළිතුරු දුන්නේය. "ඒත්, ඔයාගෙ භාෂාවෙන් කියනවා නං තේරුම - එය ලියැවී තිබේ - ඔන්න ඔය වගේ දෙයක්."

කොලුවාට පළිඟු වීදුරුවල තේ විකිණීම පටන් ගත හැකි යයි වෙළෙන්දා තම හුකාවේ අඟුරු හරිගස්සන ගමන් කියා සිටියේය. සමහර විට පෙරට ගලනා ගංගාව නවතාලිය හැකි මගක් නැතිවා විය යුතුය.

* * *

කන්ද නගිනා මිනිස්සු මුදුනට එද්දී උන්නේ තද වෙහෙසින් පීඩිතවය. ඉතිං දුන් එසේ එන ඔවුන් ගේ නෙත ගැටුණේ ගත සිත සනහන මිංචි තේ තමුනට පිළිගැන්වීමට සැදි පැහැදී ඉන්නා පළිඟු වෙළඳ සැලයි. අලංකාර පළිඟු වීදුරුවලින් පිළිගන්වනු ලබනා තේ පානය කිරීම සඳහා ඔවුහු වෙළඳසැලට ගොඩවෙන්නට පුරුදු වූවෝය.

"මගේ බිරිඳ නං කවමදාවත් මේ වගේ දෙයක් ගැන තුන් හිතකින්වත් හිතල නෑ." රාත්‍රියේදී අමුත්තන් පිරිසක් බලාපොරොත්තුවෙන් උන් මිනිසකු එසේ කියමින් පළිඟු බඳුන් කීපයක්ම මිලට ගත්තේ එහි අලංකාරය තුළින් අමුත්තන්ගේ සිත් සතුටු වෙනු ඇතැයි කියනා කල්පනාවෙනි.

තවත් මිනිසෙකු කියා සිටියේ පළිඟු බඳුන්වල දමා පිළිගන්වනු ලබන තේ වල සුවඳ බොහෝ වේලාවක් රැඳී තිබෙනා හෙයින් එම තේ වඩාත් ප්‍රණීත වන බවයි. පළිඟු බඳුන් වල කිසියම් ඉන්ද්‍රජාලික බලයක් ඇති නිසා තේ පැන් සංග්‍රහ සඳහා ඒවා යොදා ගැනීම පෙරදිග වාසීන්ගේ චාරිත්‍රයක් වී ඇති බව තෙවැන්නා කියා සිටියේය.

වැඩි කාලයක් නොගොස් මේ පුවත ලැව් ගින්නක් සේ පැතිර ගියෙන් මෙතරම් පැරණි වෙළඳාමක් ඇසුරින් නවතම යමක් ඉදිරිපත් කරන්නට පෙළඹුන වෙළඳසැල නැරඹීම පිණිස බොහෝ පිරිස් කඳු මුදුනට ඇදෙන්නට

පටන් ගති. පළිඟු බඳුන් වල තේ පිළිගන්වනු ලබනා තවත් තේ කඩ විවෘත වූ නමුත් ඒ කිසිවක් කඳු මුදුනේ නොපිහිටියෙන් ඔවුනට ලැබුණේ සුළු ආදායමකි.

අවසානයේදී වෙළෙන්දාට තවත් සේවකයින් දෙදෙනෙකු සේවයට ගැනීමට සිදු වුණි. ඔහු පළිඟු බඩු සමඟින් විශාල තේ තොග ඇණවුම් කරන්නට පටන් ගත් අතර නව දේවල් සොයා යාමේ ජවයෙන් පෙලුන ගැහැණු හා මිනිස්සු ඔහුගේ වෙළඳ සැල සොයගෙන එන්නට පටන් ගති.

මෙසේ, මේ අයුරින් තවත් මාස ගණනක් ගෙවී ගියේය.

* * *

අරුණෝදයට පෙර කොලුවා අවදි වුණේය. ඒ වන විට ඔහු හා හා පුරා කියා අප්‍රිකා මහාද්වීපයට පය ගසා මාස එකොළහකුත් දින තුනක් ගෙවී ගොසිනි.

මෙම දවස උදෙසාම විශේෂයෙන් මිලට ගෙන තිබූ සුදු ලිනන් රෙද්දෙන් කළ සම්ප්‍රදායික අරාබි ඇඳුම් ඔහු ඇඳ ගත්තේය. හිස් වැසුම සේ පළඳින රෙදි කඩ නිවැරදිව දමාගත් ඔහු අනතුරුව එය හරියට සිටිනා සේ ඊට උඩින් ඔටු සමින් කළ වලල්ලද දමා ගති. තම අලුත් පාවහන්ද පැළඳගත් පසුව ළමයා නිහඬව පඩිපෙල දිගේ පහලට බැස්සේය.

නගරය තවමත් නින්දේය. සැන්ඩවිච් පෙත්තක් හදාගත් ඔහු එය කා, පළිඟු වීදුරුවකින් උණු තේ ටිකක්ද බීවේය. අනතුරුව හුකාව උරමින්, සූර්යාලෝකයෙන් නැහැවී තිබූ දොරකඩ හිඳ ගත්තේය.

කිසිම දෙයක් ගැන කල්පනා නොකර, කාන්තාරයේ සුවඳත් රැගෙන හමා ආ සුළඟේ හඬට කන් දෙමින් ඔහු නිහඬවම දුම් ඉරුවේය. හුකාව උරා අහවර කළ ඉක්බිති සාක්කුවලට අත දැමූ ඔහු ඉන් එළියට ගත්තේ කුමක්දැයි කල්පනා කරමින් තවත් සුළු මොහොතක් හිඳගත්වනම හුන්නේය.

එය වූ කලී සල්ලි පොදියකි. බැටළුවන් එකසිය විස්සක් මිලට ගැනීමට ප්‍රමාණවත් වන තරම් මුදලක්, ආපසු යාමට ටිකට් පතක් හා අප්‍රිකාවේ සිට සිය රටට භාණ්ඩ ආනයනය කිරීම සඳහා බලපත්‍රයක්ද එම පොදිය තුළ තිබුණි.

වෙළෙන්දා අවදි වී කඩය විවෘත කරන තුරු ඔහු ඉවසිල්ලෙන් බලා සිටියේය. ඉන්පසුව දෙදෙනාම තේ බීම පිණිස ගියෝය.

"මං අද මෙහෙන් යනවා." කොලුවා කීවේය. "මගේ බැටළු රංචුව අරගන්න තරම් සල්ලි දැන් මට තියෙනවා. ඒ වගේම මක්කම යන්න තරම් සල්ලි ඔයා ළඟත් තියෙනවනෙ."

මහලු මිනිසා කිසිත් කීවේ නැත.

"ඉතින් ඔයා මට ආශිර්වාද කරන් නැද්ද?" කොලුවා ඇසීය. "ඔයයි මට උදව් කළේ." කිසිත් නොකිවූ මහලු මිනිසා තේ සෑදීමේ නිරත වූවේය. අන්තිමේදී ඔහු කොලුවා දෙසට හැරුණි.

"මට ඔයා ගැන ආඩම්බරයි." ඔහු කීවේය. "ඔයා මගෙ පළිඟු සාප්පුවට අලුත් පෙනුමක් දුන්නා. ඒත් ඔයා දන්නවා මම මක්කම යන්නෙ නැති විත්තිය . හරියට ඔයත් ආපහු කවමදාවත් ඔයාගෙ බැටළු රංචුව ගාවට යන්නෙ නැතුවා වගේම."

"කවුද ඔයාට ඒ වගක් කිව්වෙ?" තිගැස්සුන කොලුවා ඇසීය.

"මක්තුබ්! - එසේ ලියැවී තිබේ." මහලු පලිඟු වෙළෙන්දා කියා සිටියේය.

ඉන්පසුව ඔහු කොලුවාට තම ආශිර්වාදය පිරිනැමීය.

කාමරයට ගිය කොලුවා තම බඩු පොදිය සොයා ගති. ඔහුගේ කළමනා වලින් මලු තුනක් පිරිණි. පිටත් වෙන මොහොතේදී ඔහු තම පරණ එඬේර ඔලොගුව කාමරයේ කොණක තිබෙනු දිටීය. එය පැත්තකට දමා තිබුන අතර බොහෝ කලකින් ඔහු ඊට සැලකිල්ලක් දක්වා තිබුණේද නැති.

මාවතේ ඉන්නා කාට හෝ දීමේ අදහසින් ඔහු එම ඔලොගුව තුළ වූ කබාය අදිද්දී ගල් කැට දෙක එනම් තම්මිම් හා උරිම් බිමට ඇද වැටුණි.

එයින් ඔහු මහලු රජු ගැන යළි සිතන්නට පෙළඹුණේය. එසේම මේ වන විට තමා ඔහු පිළිබඳව අවසාන වරට සිහිකර කොතරම් කාලයක් ගෙවී ගොස් ඇතිද යන්න වැටහීම නිසා ඔහු බියෙන් තිගැස්සුණි. අභිමානවත් අන්දමින් ආපහු ස්පාඤ්ඤයට යාමට හැකි වෙන තරම් මුදලක් ඉතිරිකර ගැනීමේ ඒකායන පරමාර්ථයෙන් ඔහු පුරා වසරකට ආසන්න කාලයක් නොනැවතී වැඩෙහි යෙදී තිබුණේය.

"කවදාවත්ම බලාපොරොත්තු නැති කර ගන්න එපා." මහලු රජු කියා තිබුණේ එපරිදිය. "හැම තිස්සෙම නිමිති අනුව යන්න."

කොලුවා උරිම් හා තම්මිම් අහුලා ගනිද්දී, තමා ළඟ මහලු රජු ගැවසෙන බවට වූ හැඟීම යළිත් ඔහුට දැනුණේය. වසරක් තිස්සේ ඔහු මහන්සි වී වැඩ කළ අතර දැන් නිමිති පවසා සිටින්නේ පිටත් වීමට කාලය මෙය බවයි.

"ඔන්නොහෙ ආපහු ගිහින්, මං ඉස්සර කරපු රස්සාවම ආයෙ පටන් ගන්නවා" යි කොලුවා කල්පනා

කළේය. බැටළුවො මට අරාබි බාසාව කතාකරන්න ඉගැන්නුවෙ නැතුවට කාරියක් නෑ.

එහෙත් ඔහුට ඊටත් වඩා වැදගත් යමක් බැටළු රංචුව විසින් උගන්නවනු ලැබ තිබුණි. එය නම් හැම කෙනෙක් විසින්ම අවබෝධ කර ගනු ලබනා, එසේම වෙළඳ සැලෙහි තත්ත්වය දියුණු කිරීමට වෙර දූරු කාලය තුළ කොලුවා විසින්ද භාවිතා කරන ලද විශ්ව භාෂාවක් ලොවෙහි පවතින බවයි. එය වනාහී උද්යෝගයේ භාෂාවයි. ආදරය හා අභිප්‍රායන් මුදුන් පමුණුවා ගැනීමේ භාෂාවයි. එසේම යමෙකු ඉමහත් විශ්වාසයකින් හා ආශාවකින් සාක්ෂාත් කර ගැනීමට බලාපොරොත්තු වන්නා වූ යමක් උදෙසා දියත් කරනු ලබනා ගවේෂණයේම කොටසකි. තව දුරටත් ටැන්ජියර් යනු ආගන්තුක රටක් නොවේ. එසේම ඔහුට හැඟුණ පරිදි මෙම ස්ථානය ආක්‍රමණය කළ පරිද්දෙන්ම ඔහුට මුළු ලොවම ජය ගැනීමට හැකියාවක් ඇත.

"කෙනෙකුට යම් දෙයක් අවශ්‍ය වුණාම ඒ දේ ලබාගන්න ඔහුට උදව් කිරීම පිණිස මුළු ලෝකෙම පෙළ ගැහෙනවා." මහලු රජ කියා තිබුණි.

එහෙත්, මංකොල්ලකරුවන්ට අසුවීම, අවසානයක් නොමැති කාන්තාර ගැන හෝ තම සිහින කවරේදැයි දන්නා එහෙත් ඒවා සපුරා ගැනීමට වුවමනා නොකරනා මිනිසුන් ගැනද, මහලු රජු කිසිම දෙයක් පවසා තිබුණේ නැත. එසේම පිරමීඩ යනු කවරෙකුට වුව සිය ගෙවත්තේ පවා ඉදිකර ගත හැකි තාලේ නිකමම නිකම් ගල් කණු විශේෂයක් බවත් මහලු රජු ඔහුට කියා දී තිබුණේ නැත. එසේම යමකු සතුව සිටියා වූ සත්ත්ව රංචුවට වඩා විශාල රංචුවක් මිලට ගැනීමට තරම් මුදල් අතැති විට එය මිලදී ගත යුතු බව ඔහුට කියා දීමටත් රජුට අමතකව ගොස් තිබුණි.

ඔලොගුව අහුලාගත් කොලුවා එයද තම අතින් ලච්ට ලොට්ට සමඟින් දමා ගති. වෙලෙන්දා විදේශික යුවලක් සමඟින් ගණුදෙනුවක පැටලී ඉන්නා අතරේ තවත් පාරිභෝගිකයන් දෙදෙනෙකු පළිඟු වීදුරු වලින් තේ බොමින් කඩයේ එහෙ මෙහෙ ඇවිදිමින් ඉන්නා බව පඩිපෙළ දිගේ පහළට ගිය ඔහු දුටුවේය. සාමාන්‍යයෙන් උදයේ මේ වෙලාවට පවතිනවාට වඩා වැඩි කාර්යය බහුල බවක් වෙළඳ සැල තුළ තිබුණි. පඩිපෙල මත නැවතී සිටි ඔහු මහලු වෙළෙන්දාගේ හිසකෙස්ද හැම අතින්ම පාහේ මහලු රජු ගේ හිසකෙස් වලට සමාන බව ඒ මොහොතේ දී පළමු වතාවට දිටීය. තවද ටැන්ජියර් වෙත ගොඩ බට පළමු දිනයේදී කෑමට හෝ යාමට කිසිදු තැනක් නැතිව ඉන්නා විට හමුවූ රස කැවිලි වෙළෙන්දාගේ මුහුණේ වූ සිනාවද හැම අතින්ම මහලු රජු ගේ සිනාවට සමාන බවද කොලුවාට සිහිපත් වුණි.

එය හරියට ඔහු මෙහි පැමිණ එහි සලකුණ තබා ගියාක් මෙනි. එසේම මේ කිසිවෙකුටත් කිසිම දිනෙක මහලු රජු මුණ ගැසී නැති. අනෙක් අතට රජුම පැවසූ පරිදි හැම විටම ඔහු පෙනී සිටින්නේ තම ඉරණම හඹා යන්නවුන්ට ඒ ජය ගැනීම සඳහා උදව් කිරීමටය.

පළිඟු වෙළෙන්දාගෙන් සමුගැනීමට වත් නොරැඳී ඔහු පිට වුණේය. එහි උන් අනිකුත් මිනිසුන් ඉදිරිපිට වැලපෙන්නට ඔහුට ඇවැසි වුණේ නැති. එම ස්ථානය මෙන්ම ඔහු උගත් හොඳ දේවල්ද මින් පසුව ඔහුට අහිමි වෙනු ඇති. එහෙත් ඔහු ආත්ම විශ්වාසයෙන් පිරී සිටියෙන් ඔහුට දැනුනේ තමාට මුළු ලොවම ජයගත හැකිය කියාය.

"ඒත් හැබැයි මම මේ ආපසු යන්නෙ නං ආයෙ පාරක් මගේ බැටළු රංචුව බලාගන්න මම දන්නා කියන පළාතටමයි." ස්ථිර හඬින් තමාටම කියා ගත්තද ඔහු තම

තීරණය පිළිබඳව තව දුරටත් සතුටු වූවේ නැති. කිසියම් සිහිනයක් සැබෑකර ගැනීමේ අරමුණින් ඔහු පුරා වසරක් දහදිය හෙලුවද දූත් එම සිහිනයේ වැදගත්කම ගෙවෙනා හැම මිනිත්තුවක් ගානේම බිඳෙන් බිඳ අඩු වී යමින් තිබුණි. සමහර විට එසේ වන්නේ එය ඔහුගේ නියම සිහිනය නොවූ නිසා විය යුතුය.

කවුරු දනිත්ද.... සමහර විට පළිඟු වෙළෙන්දා වගේ වුණා නම් මීට වඩා හොඳ වෙන්නත් තිබුණි. කවදාවත්ම මක්කම නොගොස්, එහි යාමට ඇති අපේක්ෂාව පමණක් දරාගෙන සිටීම! එම අදහස තමාටම ඒත්තු ගන්වන්නට උත්සාහ දරමින් ඔහු කල්පනාවේ ගිලුණේය. එහෙත් උරිම් හා තම්මිම් අතෙහි රඳවා ගෙන ඉන්නා විට මහලු රජු සතු වූ ශක්තිය හා අධිෂ්ඨානය ඒ මඟින් ඔහු තුළට කාන්දු වුණි. මෙහිදී කොලුවා කල්පනා කළ පරිදි අහම්බෙන් හෝ - නිමිත්ත බලපෑමෙන් වෙන්නත් බැරි නැති - ඔහු යළිත් වරක් පැමිණ සිටියේ තමා මෙහි පැමිණි මුල්ම දිනයේ ගොඩ වූ අවන්හල වෙතටමය. මුල් දවසේදී එහි දී හමු වූ සොරා නොසිටියද, අවන්හලේ හිමිකරු ළමයාට තේ කෝප්පයක් පිළිගන්වා සිටියේය.

"මට පුළුවනි ඕනෑ වෙලාවක ආපහු ගිහින් එඬේරෙක් වෙන්න." කොලුවා කල්පනා කළේය. "බැටළුවෝ බලා ගැනිල්ල නං මං ඉගෙන ගෙන තියෙනවා. ඒ වගේම මට ඒ එකක්වත් අමතක වෙලා නෑ. ඒත් එහෙම කළොත් හෙම සමහර වෙලාවට මට කවදාවත් ආයෙ ඉඩක් ලැබෙන එකක් නෑ ඊජිප්තුවේ පිරමීඩ තියෙන දිහාවට යන්න. අර දිළිසෙන සන්නාහය පපුවේ බැඳගෙන උන්න මහලු මනුස්සයා මගේ අතීතෙ ගැන හොඳටම දැනගෙනයි හිටියෙ. ඉතිං එයා නම් නියම රජ කෙනෙක්. ඥාණවන්ත රජ කෙනෙක්."

අන්දාලුසියාවේ කඳු තිබුණේ ඔහු උන් තැන සිට පැය දෙකක ගමන් දුරකිනි. එහෙත් ඔහු හා පිරමීඩ අතර වූයේ මහා කාන්තාරයයි. එහෙත් කොලුවාට දැනුනේ දුන් තම තත්ත්වය වෙනස් අයුරකින් ද තේරුම්ගත හැකි බවයි. සත්‍ය වශයෙන්ම දැන් ඔහු ඉන්නේ තම නිධානයට පැය දෙකක් ළඟිනි. එහෙත් එකී පැය දෙක උදාකර ගැනීම උදෙසා මුළු වසරක්ම කැප කිරීමට සිදුවීම යන කාරණය මෙහිදී අවැදගත්ය.

"ආපහු බැටළු රංචුව ගාවට යන්න ඕනෑ ඇයි කියන එක මං දන්නවා." ඔහු කල්පනා කළේය. "මට උන්ව තේරුම් ගන්න පුළුවන්. උන් තව දුරටත් මට බරක් නෙවෙයි. ඒ වගේම තමයි උන්ට පුළුවනි හොඳ යාලු මිත්‍රයො වෙන්න. අනික් අතට මං දන්නෑ කාන්තාරෙකට හොඳ යාළුවෙක් වෙන්න පුළුවන්ද කියන එක. අනික මගෙ නිධානෙ හොයන්න වෙලා තියෙන්නෙත් කාන්තාරෙ ඇතුලෙ. ඉතිං ඒක හොයා ගන්න බැරි වුණොත් ඕනෑ මොහොතක දමල ගහල මට ගෙදර යන්න පුළුවනි. කොහොම හරි අන්තිමේදී, හැම වෙලාවෙම මට අවශ්‍ය වෙලා තිබුන තරම් කාලයයි සල්ලියි ලැබිල තියෙනවා. හොඳයි නැද්ද?"

හදිසියේම ඔහුට විශාල සතුටක් දැනුණි. ඔහුට ඕනෑ වෙලාවක ආපසු ගොස් එඬේරෙකු වීමට පුළුවන. පළිඟු වෙළෙන්දෙකු වීමටත් පිළිවන. සමහර විට ලෝකයේ තවත් සැඟවුන නිධන් තිබෙන්නටත් පුළුවන. එහෙත් ඔහු සිහිනයක් දැක තිබේ. එසේම ඔහුට රජකු හමු වී තිබේ. එහෙම අවස්ථාවක් නම් ආවාට ගියාට කෙනෙකුට හිමි වෙන්නේ නැත."

අවන්හලින් පිටවෙන විට ඔහු උන්නේ අනාගත සැලසුම් සකස් කරමිනි. පළිඟු වෙළෙන්දාගේ එක් සැපයුම්කරුවෙකු තම පළිඟු බඩු කාන්තාරය හරහා තවලම්

මගින් ප්‍රවාහණය කළ බව කොලුවාගේ සිහියට නැගුණි. ඔහු උරිම හා තම්ම් අතට ගති. ඒ ඔහු යළිත් වරක් තම නිධානය සොයා යන්නේ තම ගල් කැට දෙක නිසා වන හෙයිනි.

"යමෙකුට තම ඉරණම ජය ගැනීමට අවශ්‍ය වන්නේ කවර වෙලාවකද, මම ඒ හැම විටම ඔහු අසලින් හිඳිමි." මහලු රජු ඔහුට පවසා තිබුණි.

ඉදින්, සැපයුම්කරුවා ගේ ගබඩාව වෙත ගොස්, සත්‍ය වශයෙන්ම පිරමීඩ පිහිටා ඇත්තේ ඔය කියනා තරම් දුරින් දැයි දැන ගැනීමත් මහ වියදම් යන වැඩක් ද?

*   *   *

සතුන්ගේ ගඳ මෙන්ම දූවිලි හා දහදිය ගඳ පිරුණු ගොඩනැගිල්ලක් ඇතුලේ වූ බංකුවක් මත ඉංග්‍රීසිකාරයා හිඳගෙන උන්නේය. එය ගබඩාවක කොටසක් වූ පරිදිම සත්ත්ව ගාලක කොටසක්ද වී. "මම නං කවදාවත් හිතුවේ නෑ මගේ ගමන මේ වගේ තැනකින් කෙලවර වෙයි කියලා." රසායන ද්‍රව්‍ය පිළිබඳ විස්තර අඩංගු සඟරාවක පිටු පෙරලන ගමන් ඔහු කල්පනා කළේය. "මදෑ අවුරුදු දහයක්ම විශ්ව විද්‍යාලෙක ඉඳපු මං දැන් මෙන්න, නිකම්ම නිකම් සත්ත්වගාලක."

එහෙත් ඔහු නොනැවතී පෙරටම යා යුතුව තිබුණි. එසේම ඔහු නිම්තිද විශ්වාස කළේය. ඔහුගේ මුළු ජීවිතයත් අධ්‍යාපනයත් මුළුමනින්ම යොමු වී තිබුණේ ලොවටම සත්‍යවූත් සාධාරණ වූත් විශ්ව භාෂාවක් සොයා ගැනීම උදෙසාය. ප්‍රථමයෙන්ම ඔහු සර්ව භෞමික භාෂාවක් පිළිබඳව අධ්‍යයනය කර අනතුරුව ලෝකයේ ආගම් ගැන හදාළේ,

දූත් ඔහුගේ අවධානය යොමුව තිබුණේ රස විද්‍යාව කෙරෙහිය. සර්ව භෞමික භාෂාවෙන් කතා කරන්නට දත සිටි ඔහු සියලුම ආගම් ඉතා හොඳින් අවබෝධ කර ගති. එහෙත් ඔහුට තවමත් රස විද්‍යාඥයෙක් වීමට නොහැකි වී තිබුණි. වැදගත් ප්‍රශ්න පිටුපස ඇති සත්‍යයන් හාරා පාදා ගැනීමට ඔහුට හැකි වූ නමුත් කිසිදාක යාමට නොහැකි සේ පෙණුන සීමාවෙන් ඔබ්බට සිය අධ්‍යයනයන් විසින් ඔහුව රැගෙන යන ලදී. රස විද්‍යාඥයෙක් හා සමඟින් සබඳතාවක් ගොඩනැගීමට ඔහු නිරපරාදේ වෙහෙස මහන්සි වූණේය. එහෙත් තමන් ගැනම පමණක් සිතන අමුතුම තාලේ මිනිසුන් කොට්ඨාශයක් වූ රස විද්‍යාඥයෝ හැම විටම ඔහුට සහය දීම ප්‍රතික්ෂේප කළෝය. ඔවුන් උත්කෘෂ්ට මැවීම හෙවත් දාර්ශනිකයාගේ පාෂාණය පිළිබඳ රහස් අනාවරණය කර ගැනීමට අසමත් වීම නිසාවෙන් තම දූනුම තමනටම සීමා කරගෙන ඉන්නවා දෑයි දන්නේ කවුද?

පියා විසින් ඉතිරි කර තබන ලද ධනයෙන් වැඩි හරියක් දාර්ශනිකයාගේ පාෂාණය සොයා ගැනීමේ කාරණය උදෙසා දූනටමත් ඔහු ඵල රහිතවම වැය කර හමාරය. තම කාලයෙන් වැඩි හරියක්ම ලෝකයේ හොඳම පුස්තකාලවල වැය කළ ඔහු රස විද්‍යාව පිළිබඳව වූ වටිනා හා දුර්ලභ වෙළුම් සියල්ලම මිලට ගත්තේය. සුප්‍රසිද්ධ රස විද්‍යාඥයෙකු බොහෝ කලකට ඉහතදී යුරෝපයේ සංචාරය කළ වගක් ඔහු එක් පොතක තිබී කියවූවේය. එසේම ඔහුට අවුරුදු දෙසියකටත් වඩා වයස යැයිද ඔහු දාර්ශනිකයාගේ පාෂාණය මෙන්ම ලෝහ රන් බවට හැරවිය හැකි රසායනයක් සොයා ගත් බවද ඉන් කියැවුණි. මේ කතාව කියවූ ඉංග්‍රීසිකාරයා ඒ වෙත තදින් ඇදී ගියේය. කෙසේ වෙතත් කාන්තාරයේ පුරාවිද්‍යාත්මක ගවේෂණයක යෙදී ආපසු පැමිණි ඔහුගේ මිත්‍රයෙකු, සුවිශේෂීවූ බලයන් ගෙන් හෙබි අරාබියෙකු ගැන

නොපවසන්නට ඔහු එම පුවත හුදෙක් මිත්‍යා කතාවකට වඩා වැඩි යමක් ලෙස ගණන් නොගැනීමට ඉඩ තිබුණි.

"එයා වාසය කළේ අල්-ෆෙයොම් ක්ෂේම භූමියෙයි." මිත්‍රයා කියා තිබුණි. "මිනිස්සු කිව්වෙ එයාට අවුරුදු දෙසීයක් වයසයි කියලයි. ඒ වගේම එයාට ඕනෑම ලෝහයක් රන් බවට හරවන්න පුළුවන්ලු."

තමා තුළ වූ අසීමිත උනන්දුව සඟවා ගැනීමට ඉංග්‍රීසිකාරයාට නුපුළුවන් වී. එහෙයින් සියළු වගකීම් හා බැඳීම් අත්හල ඔහු තමා සතු පොත් පත් වලින් වඩාත්ම වැදගත් ඒවා පොදි ගසා ගත්තේ දැන් මෙසේ ගඳ ගහනා දූවිලි පිරුණු ගබඩාවක මුළු ගැන්වී සිටියේය. එතන, ගබඩාවෙන් පිටත සහරා කතර හරහා යාම පිණිස තවලමක් සූදානම් කෙරෙමින් පැවති අතර එය අල් ෆෙයොම් පසුකර යාමටද නියමිතව තිබුණි.

"මං යනවා ඔය තරම් උසස් කියන රස විද්‍යාව හොයන්න." ඉංග්‍රීසිකාරයා සිතුවේය. ඒ සිතිවිල්ලත් සමඟම සතුන්ගේ ඉසිලිය නොහැකි දුර්ගන්ධය පවා මඳක් ඉවසා සිටිය හැකි තත්ත්වයකට පත්වුණි.

මේ අතරේ බඩු පොදි උසුලාගත් තරුණ අරාබියෙක්ද එහි ඇතුළු වී ඉංග්‍රීසිකාරයට ආචාර කර සිටියේය.

"කොහෙ යන්නද?" තරුණ අරාබියා විමසීය.

"මං යන්නෙ කාන්තාරෙට." කියවමින් සිටි දෙයට නෙත් යොමාගත් වනම මිනිසා පිළිතුරු දුන්නේය. ඒ වෙලාවේදි ඔහු තුළ කතාබහ කිරීමේ කිසිදු කැමැත්තක් නොවී. නියත වශයෙන්ම රස විද්‍යාඥයා විසින් තමාව පරීක්ෂාවට ලක් කරනු ඇතැයි සිතූ හෙයින් ඔහුට ඒ මොහොතේදී අවශ්‍ය වූ එකම දෙය මෙතරම් කාලයක් පුරා උගත් සියලුම දෑ යළිත් වතාවක් මෙනෙහි කර බැලීමටය.

තරුණ අරාබියාද පොතක් ගෙන කියවීමට පටන් ගත්තේය. එම පොත ලියා තිබුණේ ස්පාඤ්ඤ භාෂාවෙනි. "ඒකත් හොඳයි." ඉංග්‍රීසිකාරයාට සිතුණි. ඔහු අරාබි බසට වඩා හොඳින් ස්පාඤ්ඤ බස කතා කළේය. එහෙයින්, යම් හෙයකින් මේ තරුණයාද අල් ෆෙයොම් වෙත යන්නේ නම්, වෙනත් වැදගත් වැඩක් නැති වෙලාවලදී ඉංග්‍රීසිකාරයාට කතා බහේ යෙදීමට යමකු සිටිනු ඇත්තේය.

* * *

"ඒක නම් හරිම පුදුමයි." පොත ආරම්භයේදීම සඳහන් කර ඇති භූමදානය පිළිබඳ විස්තරය යළිත් වරක් කියවීමට තැත් කරමින්ම කොලුවා කීවේය. "මං දැන් මේ පොත අවුරුදු දෙකක් තිස්සේම කියවන්න වලි කනව. ඒත් කවදාවත් බැරි වුණා මට මේ මුල් පිටු ටික කියවල ඉවර කරන්න." බාධා කිරීමට රජකු නොසිටියදී පවා ඔහුට පොත කෙරේ අවධානය යොමු කළ නොහැකි වුණි.

එළඹෙන තීරණය පිළිබඳව ඔහු තුළ ඒ වන විටත් පැවැත්තේ දෙගිඩියාවකි. එහෙත් ඔහුට එක් දෙයක් වටහා ගැනීමට හැකි වුණි. තීරණයකට එළඹීම යනු ක්‍රියාවලියක ආරම්භය පමණි. කෙනෙකු යම් තීරණයකට එළඹි විට, එකී තීරණයට පළමු වර එළඹුන අවස්ථාවේදී සිහිනෙකුදු නොසිතු ස්ථාන කරා ඔහු රැගෙන යන්නාවූ මහා ප්‍රවාහයක සත්‍ය වශයෙන්ම ඔහු ගිලී යන්නේය.

"මගෙ නිධානෙ හොයං යන්න තීරණය කරපු වෙලාවෙ මං හීනෙන්වත් හිතුවෙ නෑ ඒ ගමන පළිඟු සාප්පුවක රස්සාවකින් කෙලවර කරන්න වේය කියලා." ඔහු කල්පනා කළේය. "ඒ වගේම මේ තවලමට

සම්බන්ධවෙන එකත් මගෙම තීරණයක් තමයි. ඒත් ඒක කොහේ යාවිද කියලා කියන එක නං මට අභිරහසක් විතරයි."

ඉංග්‍රීසි කාරයා අසල හිඳ පොත කියවූවේය. කිසිදු මිත්‍රශීලී බවක් නොපෙන්වූ හෙතෙම කොලුවා තවලමට සම්බන්ධ වූ විට අසහනයට පත් සෙයක් දැක්වීය. ඔවුනට මිතුරන් බවට පත්වීමේ පුළුවන් කමක් තිබුණද ඉංග්‍රීසිකාරයා සංවාදය පටන්ගත් තැනදීම අහුරා දැමීය.

කොලුවා අත වූ පොත වැසීය. ඉංග්‍රීසිකාරයා මෙන් තමාවද පෙනෙන්නට ඉඩ ඇති ආකාරයේ කිසිවක් කිරීමේ වුවමනාවක් ඔහුට තිබුණේ නැති. එහෙයින් තම සාක්කුවෙන් උරිම් හා තම්මිම් එලියට ගත් ඔහු ඒවා සමඟින් සෙල්ලම් කරන්නට පටන් ගති.

"අන්න, උරිමුයි තම්මුයි." ඉංග්‍රීසිකාරයා කෑගැවේය.

"ඒත් ඒවා විකුණන්නට නෙවෙයි." ඔහු එවිට කීය.

"අපෝ ඕවා ඔය තරම් වටිනා දේවල් නෙවෙයි." ඉංග්‍රීසිකාරයා පිළිතුරු දුනි. "ඒවා හැදිලා තියෙන්නෙ කඳුකර පළිඟු වලින්. ඔය වගේ පළිඟු ඕනෑ පදම් මේ පොළොවෙ තියෙනවා. හැබැයි ඔය ජාතියේ කාරණා ගැන දැනුම් තේරුම් ඇති උදවිය දන්නවා මේවා උරිමුයි තම්මුයි කියන එක. ඒත් ලෝකෙ මේ පැත්තෙ ඉන්න අය ළඟත් මේවා තියෙන වගක් මම දැන උන්නෙ නෑනෙ.

"මට මෙව්වා දුන්නෙ රජ කෙනෙක්. තෑග්ගක් හැටියට." කොලුවා කීවේය. අමුත්තා කතා කළේ නැති. ඒ වෙනුවට තම සාක්කුවට අත යැවූ ඔහු කොලුවා අත වූ ඒවාට හැම අතින්ම සමාන තවත් ගල් කැට දෙකක් එළියට ගත්තේය.

"ඔයා රජ කෙනෙක් ගැන නේද කිව්වේ?" අනතුරුව ඔහු ඇසීය.

"මට හිතෙන විදිහට නං මේ මං වාගේ නිකම්ම නිකං එඬේරකුට රජ කෙනෙක් කතා කළාය කියන එක ඔයා නං පිළිගන්න එකක් නෑ මොන තාලෙන්වත්." සංවාදය අහවර කිරීමේ අරමුණින් කොලුවා පිළිතුරු දුණි.

"එහෙමමත් නෙවෙයි. ඇත්තටම, මුළු ලෝකෙම පිළිගන්න ප්‍රතික්ෂේප කරපු වෙලාවෙදි එඬේරු තමයි රජ කෙනෙකුව මුලින්ම අඳුන ගත්තෙ. ඒ නිසා රජ කෙනෙක් එඬේරෙකුට කතා කරනවයි කියන එක පුදුම වෙන්න තරම් දෙයක් නෙවෙයි."

කොලුවා ඔහු කියන්න වටහා නොගතු ඇතැයි යන දෙගිඩියාවෙන් යුතුවම ඔහු දිගටම කතා කරගෙන ගියේය. "ඒ විස්තර තියෙන්නෙ බයිබලේ. උරිම් හා තුම්මිම් ගැන මට ඉගැන්නුවෙත් ඒ පොතම තමයි. දෙවියන් වහන්සේ විසින් අවසර දෙනු ලැබූ අනාගත වාක්‍ය කීමේ එකම මාධ්‍ය තමයි මේ ගල් කැට දෙක. පූජකවරු මේවා තමුන්ගෙ සන්නාහයේ පැළඳ ගෙනයි ඉන්නෙ." .

ගබඩාවට ගොඩවැදීම පිළිබඳව හදිසියේම කොලුවා තුළ සතුටක් උපන්නේය.

"සමහර විට මේක නිමිත්තක් වෙන්න බැරි නෑ." ඉංග්‍රීසිකාරයා තරමක් හඬ නගා කීවේය.

"කවුද ඔයාට නිමිති ගැන කියා දුන්නෙ?" ඒ වන විට කොලුවා ගේ උනන්දුව ඇවිස්සෙමින් තිබුණි.

"ජීවිතේ හැම දේම නිමිත්තක්." තමා කියවමින් සිටි සඟරාව වසන ගමන් ඉංග්‍රීසිකාරයා පිළිතුරු දුන්නේය. "ලෝකෙ හැම කෙනෙකුටම අවබෝධ වෙන, ඒත් දැනටමත් අමතකව ගිය විශ්ව භාෂාවක් තියෙනවා. මම අනිත් දේවල්

අතරේ ඔය විශ්ව භාෂාව හොයාගෙන තමයි යන්නෙ. මං මෙතන ඉන්නෙත් අන්න ඒ හින්දයි. මට ඕනෑ කරලා තියෙන්නෙ විශ්ව භාෂාව හොඳට දන්න මිනිහෙකුව අල්ල ගන්න. ඒ කියන්නෙ රස විද්‍යාඥයෙක්ව."

මෙවිට ගබඩාවේ හිමිකරුවා සංවාදයට බාධා කළේය.

"තමුසෙල දෙන්නගෙම වාසනාව." එම මහත අරාබියා කීය. "අල් ෆෙයොම් වලට අද පිටත් වෙන තවලමක් තියෙනවා."

"ඒත් ඉතිං මම යන්නෙ ඊජිප්තුවටනෙ." කොලුවා කීවේය.

"අල්ෆෙයොම් තියෙන්නෙත් ඊජිප්තුවෙනේ." අරාබියා කීවේය. "ඔහේ මොන තාලෙ අරාබියෙක්ද හැබෑට."

"ඕක නං සුබ නිමිත්තක්." මහත අරාබියා එළියට ගිය අතරේ ඉංග්‍රීසිකාරයා කීවේය. "මට පුළුවන්කමක් තියේ නං ඔය වාසනාවයි, අහම්බයයි කියන වචන දෙක ගැන විතරක් ලොකු විශ්ව කෝෂයක්ම ලියනවා. විශ්ව භාෂාව ලියවෙන්නෙ ඔන්න ඔය වචන දෙකෙන්."

උරිම් සහ තම්මිම අතැතිව ඔහුව හමුවීම වනාහී හුදු අහම්බයක් නොවන බව ඉංග්‍රීසිකාරයා කොලුවාට කියා සිටියේය. එසේම කොලුවාද මේ යන්නේ රස විද්‍යාඥයෙක් සොයාගෙනද කියාත් ඔහු ඇසීය.

"මම මේ යන්නෙ නිධානයක් හොයාගෙන." එසේ කී නමුත් කොලුවා සැනෙන් තම කට ඉස්සර වීම ගැන දුක් වුණි. එහෙත්, පෙනුන හැටියට නම් ඉංග්‍රීසිකාරයාට ඒ පිළිබඳව කිසිදු වැදගත්කමක් නැතිවා වගේය.

"එක අතකට බැලුවාම මාත් ඔය වගේම තමයි." ඔහු කීය.

"මම අඩු ගානේ රස විද්‍යාව කියන්නෙ මොකක්ද කියලවත් දන්නෙ නෑ." ගබඩා පාලකයා ඔවුනට ඇතුලට එන්නැයි කියන විට කොලුවා කියමින් සිටියේ එසේය.

*    *    *

"මං තමයි මේ තවලමේ නායකයා." අඳුරු ඇස් හා යටි රැවුලක් තිබූ මිනිසා කීවේය. "මයෙත් එක්ක යන මිනිස්සුන්ගෙ එලොවයි මෙලොවයි දෙකම තියෙන්නෙ මයෙ අතේ. කාන්තාරෙ කියන්නෙ චපල ගෑණියෙක් වගේ. සමහර වෙලාවට එයා මිනිස්සුන්ව පිස්සු වට්ටනවා."

එහි මුළු ගණනින් දෙසීයක් රැස්ව සිටි අතර ඔටුවෝ, අශ්වයෝ, කොටලුවෝ හා කුකුලෝ ආදී සත්තු හාර සියයක් වූහ. මිනිස් පිරිස අතරේ ළමයි හා කාන්තාවෝ ද, සිය බඳ පටියේ කඩුවක් හා උරහිසේ තුවක්කුවක් එල්ලාගත් සන්නද්ධ මිනිස්සු ද සැලකිය යුතු ප්‍රමාණයක් සිටියෝය. ඉංග්‍රීසිකාරයා සතුව පොත් පිරවූ සූට්කේස් කීපයක් තිබුණි. එතන මහා කච කචයක් තිබූ හෙයින් තමන් කියන දේ මිනිසුනට වටහා ගත හැකි වෙන පරිද්දෙන් යළි යළිත් කීප වර පුනරුච්චාරණය කරන්නට තවලම් නායකයාට සිදු වුණි.

"මෙතන එක එක ජාතියෙ මිනිස්සු ඉන්නවා වගේම ඒ හැම කෙනෙකුටමත් තම තමුන් අදහන දෙවියෙක් ඇති. ඒත් මං සේවය කරන එකම දෙවියා අල්ලා විතරයි. ඉතිං මං එතුමාගේ නාමයෙන් දිවුරලා කියා හිටින්නෙ කාන්තාරය හරහා යහතින් යාගන්න මට පුළුවන් හැම දේම කරනවා කියලයි. ඒ වගේම මේ හැම කෙනෙකුගෙන්මත් ඉල්ලා හිටින්නෙ මම මොන දේ කිවුවත් ඒ හැම දේම පිළිගන්නවා කියල තමුන් අදහන දෙවියෝ කවුරු වුනත් කමක් නෑ

උන්වහන්සේලාගේ නාමයෙන් දිවුරන්න කියලයි. කාන්තාරෙදි අකීකරුකම කියන්නෙ මරණය. එච්චරයි."

පිරිස අතරින් මුණු මුණුවක් නැගුණි. හැම කෙනෙකුටම උන්නේ තම තමුන්ගේ දෙවියන් ඉදිරියේ නිහඬවම දිවුරා පොරොන්දු වෙමිනි. කොලුවාද යේසුස් ක්‍රිස්තුස් නාමයෙන් දිවුරීය. ඉංග්‍රීසිකාරයා නම් කිසිවක් කීවේ නැති. සාමාන්‍ය දිවුරුමකට වඩා වැඩි වේලාවක් තිස්සේ මුණු මුණුව පැවතුණි. මිනිසුන් සිටියේ ඊකවරණය පතා ස්වර්ගය වෙත යාඥා කරමිනි.

දිගු හොරණෑ නාදයක් නික්මුණි. එවිට සියළුම දෙනා නැගිට අසුන් පිට නැග ගති. කොලුවා සහ ඉංග්‍රීසිකාරයා යන දෙදෙනාම ඔටුවන් මිලට ගෙන තිබුණෙන් ඔවුහුද අවිනිශ්චිත ගතියක් පළ කරමින් උන් පිට නැග ගත්තෝය. ඉංග්‍රීසිකාරයා ගේ පොත් පත්ද පිට පටවා තිබූ හෙයින් කොලුවාට ඉංග්‍රීසි කාරයාගේ ඔටුවා ගැන දුක සිතුණි.

"අහම්බයක් කියල දෙයක් මේ ලෝකෙ නෑ." ගබඩාවේදී නැවතු තැනින් යළි පටන් ගත් ඉංග්‍රීසිකාරයා කියාගෙන ගියේය. "මං මෙතන ඉන්නෙ මගේ යාලුවෙක් අර අරාබිකාරයෙක් ගැන අහපු කතාවක් නිසා..."

එහෙත් එවිටම තවලම ගමන් ඇරඹූ නිසා ඉංග්‍රීසිකාරයා කියමින් උන්නේ කුමක්දැයි අසා ගැනීමට කොලුවාට නොහැකි විණි. එහෙත් ඔහු විස්තර කරන්නට හැදුවේ කුමක්දැයි කොලුවා දැන සිටියේය. ඒ අන් කිසිවක් නොව එකක් තවෙකක් හා සම්බන්ධ කරවන ගුප්ත දම්වැල ගැනය. එනම් ඔහුට එඬේරෙකු වීමට හේතු භූත වූ. එකම සිහිනය යළි යළි දැකීමට, රජකු, පළිගු වෙළෙන්දෙකු මුණ ගැසීමට මග පාදෙන අයුරින් මංකොල්ලකයකට ගොදුරු කරවීමට ඉඩ සැලසෙන පරිද්දෙන් ඔහුව අප්‍රිකාව තුළ පිහිටි නගරයක් වෙත රැගෙන ආ ගුප්ත දම්වැල ගැනය.

යමෙකු තම ඉරණම ජය ගැනීමට ළං වෙන තරමටම එය ඔහුගේ පැවැත්මට හේතු වන්නා වූ පරම සත්‍ය වූ සාධකය බවට පත්වෙතැයි කියා කොලුවා කල්පනා කළේය.

තවලම නැගෙනහිර බලා ඇදුණේය. උදය කාලයේ ගමන් අරඹන එය ඉර මුදුන්වන විට නැවතී යළි සැන්දෑවේ පශ්චිම භාගයෙහි ඉදිරිය බලා ගමන් ගත්තේය. වැඩි කාලයක් තම පොත් අස්සේම ගැලී උන් ඉංග්‍රීසිකාරයා සමගින් කොලුවා කතා කළේ බොහෝ අඩුවෙනි.

කොලුවා නිහඬවම, සතුන් හා මිනිසුන් කාන්තාරය හරහා ඇදෙන ආකාරය නිරීක්ෂණය කළේය. ඔවුන් ගමන පටන් ගත් දිනයට වඩා දැන් හැම දේම සම්පූර්ණයෙන් වෙනස්ය. එදා එහි තිබුණේ, ගමන් මඟ පෙන්වමින් හා වෙළෙඳුන්ගේ නියෝගයන් සමඟ සම්මිශ්‍රණය වූ ළමයින්ගේ හැඬුම් වැලපුම් හා සතුන්ගේ පිඹීම් වලින් පිරී ගිය මහා කලබලයකි.

එහෙත් කාන්තාරයේදී පැවතුණේ සදාකාලිකව හමනා සුළඟේ හා සතුන් ගේ කුර ගැටෙන හඬ පමණි. මඟ පෙන්වන්නෝ පවා එකිනෙකා හා දෙඩුවේ ඉතා මඳ වශයෙනි.

"හුඟ වාරයක් මං මේ කාන්තරෙ හරහා ගිහින් තියෙනවා." එක රාත්‍රියකදී ඔටුවන් දක්කන්නෙක් කීවේය. "ඒත් කාන්තාරේ මොන තරම් විශාලද කියනව නං, සිතිජය මොන තරං දුරද කියනව නං ඒකෙන් තමුන් මොන තරම් සුළු අවැදගත් ප්‍රාණියෙක් ද කියල හැඟීමක් ඇති කරලා ඔහුව නිහඬ කරල දානව."

මින් පෙර කිසිම අවස්ථාවක කාන්තාරය හරහා ගමන් කර නොමැති වුවද කොලුවාට ඔහු කියන්නේ කුමක් දැයි සහජ බුද්ධියෙන්ම වැටහුණේය. ගින්දර හෝ සාගරය

දුටු හැම අවස්ථාවකදීම එහි ඇති මහා බලය තදින් සිතට කා වැදී ගියෙන් ඉන් ඔහු නිහඬ කරනු ලැබිණ.

"මං බැටළුවන් ගෙන් ගොඩක් දේවල් ඉගෙන ගත්ත වගේම පළිඟු වලිනුත් ඉගෙන ගත්තා." ඔහු කල්පනා කළේය. "ඉතිං දැන් මට පුළුවනි කාන්තාරෙනුත් යමක් ඉගෙන ගන්න. කාන්තාරය දිහා බැලුවම පේන්නෙ බොහොම වයසක, ඥාණවන්ත කෙනෙක් වගෙයි."

හමමින් පැවති සුළඟ මොහොතකටවත් නොනැවතුණි. ටාරිෆාවේ වරාය අද්දර හිඳගෙන සිට දවසේදී ද මේ සුළඟ තම මුහුණේ වදිමින් හමා ගිය අයුරු ඔහුගේ සිහියට නැගුණි. එසේම හැමදාමත් කළා වූ පරිද්දෙන් අන්දාලුසියාවේ කෙත් යායවල් හරහා ජලය හා ආහාර සොයා දැන් සරමින් සිටින්නා වූ ඔහුගේ බැටළු රංචුව.... උන්ගේ සුමුදු ලොම් වල පහස පිළිබඳ මතකයන්ද යළිත් වරක් මේ සුළඟ විසින් මතු කරන ලද්දේය.

"උන් තවත් නම් මට අයිති බැටළුවෝ නෙවෙයි." සංකා සහගත හැඟීමකින් තොරව කොලුවා තමාටම කියා ගත්තේය. "උන් අලුත් හාම්පුතාට හුරු වෙන්නම ඕනෑ. සමහර විට දැනටමත් උන්ට මාව අමතක වෙලත් ඇති. ඒක නම් හොඳයි. නිතරම සංචාරයට හුරු වෙලා ඉන්න බැටළුවො වගේ සත්තු වෙනස්කම් ගැන දන්නවා."

වෙළෙන්දාගේ දූව පිළිබඳව කල්පනා කළ ඔහුට සමහර විට ඇයද දැනටමත් කා සමඟින් හෝ විවාහ වී ඇතැයි කියා සහතික ලෙසම සිතුණි. සමහර විට බේකරි කරුවෙකු, එසේත් නැත්නම් කියවන්නට හා ඇයට විශ්මිත කතා කියා දීමට සමත් එඬේරෙකු හා විවාහ වී ඇතුවා වෙන්නත් බැරි නැත. කොහොමටත් ඔහු වනාහි එකම එක

සහකරුවා නොවේ. එහෙත් ඔටුවන් දක්කන්නා ගේ කතාව ගැන වූ සහජාවබෝධය ගැන ඔහුම විමතියට පත් වුණේය. සමහර විට සියළුම මිනිසුන්ගේ අතීතය හා වර්තමානය සමඟ ගැට ගැසී ඇති විශ්ව භාෂාව ඔටුවන් දක්කන මිනිසාත් උගනිමින් ඉන්නවා විය යුතුය. "පංචස්කන්ධ!" එවන් මිනිසුන් හැඳින්වීමට ඔහුගේ අම්මා භාවිතා කිරීමට හුරුව සිටි වචනය එයයි. සහජාවබෝධය වනාහී අන් කිසිවක් නොව සියලු මිනිසුන්ගේ ඉතිහාසය එකට ගැට ගැසී ඇත්තා වූ ජීවිතයේ විශ්ව ප්‍රවාහය තුළට ආත්මයේ හදිසි ගිලී යාමක් බවටද, එසේම සෑම සියලු දෙයම පාහේ එහි ලියැවී ඇති හෙයින් අපට ඒවා වටහා ගැනීමට හැකි බවද ළමයාට වැටහෙන්නට පටන් ගෙන තිබුණේය.

"මක්තුබ්!" පළිඟු වෙළෙන්දාව සිහිපත් කරමින් කොලුවා කීවේය.

කාන්තාරය තැනෙක මුළුමනින්ම වැල්ලෙන්ද තවත් තැනෙක ගල් කුළු වලින්ද ගැවසී තිබුණේය. එහෙයින් ගමන් මඟට බාධකයක්ව ගල් පර්වතයක් හමු වූ විට ඒ වටා ගමන් කරන්නටද, ගල් කුළුවලින් ගහන විශාල ප්‍රදේශයක් හමු වූ විට දිග වට පාරකින් එය මඟ හැර යාමටද තවලමට සිදු වුණි. ඉදින්, කාන්තාරයේ වැල්ල සතුන් ගේ පා එරා බහිනා තරමට සිහින් වූ ප්‍රදේශවලදී ඔවුහු වඩා සණ සහිත වැලි ඇති ප්‍රදේශයන් සහිත මාවතක් සොයා ඇදුණෝය. ඇතැම් ස්ථානවල දී මහ පොළොව මත වියලී ගිය වලවල් වල වූ ලවණ තට්ටු තැන්පත්ව තිබුණි. එවන් තැන්වලදී සතුන් පස්සට අදින්නට වූ හෙයින් ඔටුවන් දක්කන්නන්ට එවිට සතුන්ගේ පිටෙන් බැස උන් මත පටවා තිබූ බර පොදි ලිහා දමන්නටද සිදු වුණි. එවන් විටදී එම බර පොදි තුමූම ඔසවා ගෙන ගිය ඔටුවන් දක්කන්නෝ අසීරු ප්‍රදේශයෙන් එගොඩ වූ පසුව යළිත් සතුන්ගේ පිට බර පැටවූවෝය. ඉදින් කිසියම්

මඟ පෙන්වන්නෙකු අසනීප වූ හෝ මිය ගිය හැම විටම එවැන්නන්ගේ බර පොදිද දරාගත් අනිත් ඔටුවන් දක්කන්නෝ හිස් වූ තැනට අලුතින් අයකු පත් කර ගත්තෝය.

එහෙත් මේ හැම දෙයක්ම සිදු වූයේ එක් මූලධර්මයකට අනුකූලවය. දිගු වට මං වලින් කොතරම් දුරක් ගෙවන්නට සිදු වුවත්, කුමනාකාරයේ වෙනස්කම්, ගැලපීම් කරන්නට සිදු වුනත් තවලම ගමන් කරනු ඇත්තේ එකම දිශාවකට පමණි. එහෙයින් කිසියම් බාධකයක් ජයගත් වහාම තවලම, ක්ෂේම භූමිය ඇති දිශාවට සනිටුහන් කරමින් අහසේ බැබලුන තරුවක් අනුව ගමන් කරමින් යළිත් නිසි මඟට වැටුණේය. අහසේ බැබලෙමින් පැවති එම තරුව දුටු සැණින් ජලය, තල් ගස්, හෙවනක් හා තවත් මිනිසුන් ඉන්නා නිවැරදි දිශාවට තමන් යොමු වී ඉන්නා බව තවලමේ හැම දෙනාම පාහේ දැන ගත්තෝය. මේ කිසිම දෙයක් ගැන හාං කවිසියක තරමේ දෙයක් දැන නොසිටියේ ඉංග්‍රීසිකාරයා පමණි. ගමනේ වැඩි හරියක් ඔහු සිටියේ තම පොත් වල පිටු අතර කිමිදෙමිනි.

පොතක් ළඟ තබාගෙන සිටි කොලුවාද ගමනේ මුල් දින කීපය තුළදී එය කියවීමට තැත් දැරීය. එහෙත් තවලම නිරීක්ෂණය කිරීම හා කාන්තාරයේ සුළඟට සවන් දීම ඊට වඩා රසවත් බව ඔහු ඉක්මනින්ම වටහා ගත්තේය. තමා ගේ ඔටුවා පිළිබඳව අවබෝධ කරගන්නට හා ඌව හීලෑ කරගන්නට ඉගෙන ගත් වහාම ඔහු පොත පසෙක දැමීය. පොත පෙරලාගත් හැම විටම පාහේ වැදගත් යමක් ඉගෙනීමට තමාට හැකි වෙතැයි යනුවෙන්ද අන්ධ විශ්වාසයක් ඔහු තුළ වර්ධනය වුවද එසේ පොත් කියවීම අනවශ්‍ය බරකැයි කියා ඔහු යළි තීරණය කළේය.

තමා පසෙකින් ගමන් කළ ඔටුවන් දක්කන්නා සමඟින් ඔහු මිතුරු වුණි. රාත්‍රියේදී, ගිණිමැලය වටා හිඳගෙන

සිටිනා අවස්ථාවලදී කොලුවා තම එඬේර ජීවිතයේ වික්‍රමයන් පිළිබඳව ඔටුවන් දක්කන්නාට විස්තර කළේය.

මෙසේ සංවාදයේ පැටලී ඉන්නා එක් අවස්ථාවක, ඔටුවන් දක්කන්නා තම ජීවිතය ගැන කියන්නට පටන් ගති.

"මම ජීවත් වුණේ එල් කයිරුම් කිට්ටුව." ඔහු කීවේය. "මගේම කියල ගෙවත්තක්, ළමයි, ඒ කියන්නේ මැරෙන තුරාවට කොහොමටවත් වෙනස් නොවෙයි කියල හිතාපු ජීවිතයක් මට තිබ්බා. ඉතිං එක් අවුරුද්දක අස්වැන්න ඊට කලින් කවදාවත් නොතිබුණු තරමට සරු වුණාම එතෙක් මගේ ජීවිතයේ සම්පූර්ණ නොවිච්ච එකම අරමුණ ඉටුකර ගන්න හිතාන අපි ඔක්කොම මක්කම වන්දනාවේ ගියා. දැන් ඉතිං මට සැනසිල්ලෙ මැරෙන්න පුළුවන් කියල හිතුනම මට හරි සතුටක් දැනුණා.

"ඔහොම ඉන්නකොට එක දවසක් මහ පොළොව හෙලවෙන්න පටන් අරං නයිල් ගඟ පිටාර ගලන්න ගත්තා. කවදාවත් මට නෙවෙයි අනිත් අයට විතරක් සිද්ධ වෙයි කියල මං හිතාපු වින්නැහිය තමයි ඒ. මගේ අසල්වැසියො තමුංගෙ ඔලිව් ගස් ගංවතුරට යටවෙලා නැති වේය කියල බය වෙන කොට මගෙ බිරිඳ අපේ ළමයි නැති වේය කියල නැති ගත්තා. මට උරුම වෙලා තිබ්බ හැම දේම විනාශ වෙලා යයි කියල මම හිතුවා.

"ඉතිං මහ පොළොව විනාශ වෙලා ගියා. එතකොට මට සිද්ධ වුණා පණ ගැටගහගන්න වෙන ක්‍රමයක් හොයා ගන්න. ඔන්න දැං ඒ නිසා මං ඔටුවන් දක්කන්නෙක් වෙලා ඉන්නවා. හැබැයි ඒ විපත මට අල්ලා ගේ වචන වටහා ගන්න පාර කියා දුන්නා - තමුන්ට අවශ්‍ය දෙය ලබා ගැනීමට සමත්කමක් ඇත්නම් නොදන්නා වූ දෙය ගැන බියවීමට අවශ්‍යතාවයක් මිනිසාට නැත්තේය. - අපි ළඟ තියෙන දේවල් - ජීවිතේ, දේපල, අපි සන්තක වස්තු මේ මොනවා

වුනත් අහිමි වෙනවට අපි බයයි. ඒත් අපේ ජීවිත වගේම ලෝකයේ ඉතිහාසයත් ලියැවිලා තියෙන්නෙ එකම හස්තයකින් කියල අවබෝධ වුනාම අපේ භය නිකම්ම වාෂ්ප වෙලා යනවා."

සමහර අවස්ථාවලදී ඔවුන්ගේ තවලමට වෙනත් තවලමක් හමුවුණි. හැම විටම පාහේ යමකු සතුව තවකකුට අවශ්‍ය වන්නා වූ කුමන හෝ දෙයක් තිබෙනුයේ හරියට හැම දෙයම මැවුම්කාර හස්තයකින් ලියනු ලැබ ඇත්තාක් මෙනි. ගිණිමැලය වටා වාඩිගෙන සිටිනා අවස්ථාවලදී ඔටුවන් දක්කන්නෝ වැලි කුණාටු ගැන තොරතුරු එකිනෙකා හට පවසා ගනිමින්, එකිනෙකාට කාන්තාරය ගැන වූ කතා කීවෝය.

සමහර අවස්ථාවලදී හිටි ගමන් හිසේ රෙදි කඩක් බැඳගත් අභිරහස් ගුප්ත මිනිස්සු කාන්තාරය තුළින් මතු වූවෝය. ඔවුන් වනාහී තවලම් මාර්ගය මුර කිරීමේ යෙදුන නිත්‍ය වාසයක් නොමැති අරාබීන් පිරිසකි. මඟ රැක සිටින හොරු හා වනචාරී ගෝත්‍ර පිළිබඳ අනතුරු ඇඟවීම් ඔවුහු තවලම් වෙත රැගෙන ආවෝය. නිහඬවම පිටව ගිය ඔවුහු දෑස් පමණක් පෙනෙන්නට ඉඩ හැර මුළු සිරුරම කළු ඇඳුමකින් ආවරණය කරගෙන උන්නෝය. එක් රාත්‍රියක ඉංග්‍රීසි කාරයා හා කොලුවා හිඳගෙන සිටි ගිණිමැලය ළඟට ඔටුවන් දක්කන්නෙක් පැමිණියේය. "ගෝත්‍රික යුද්ධයක් ගැන කට කතා පැතිරෙන්නට පටන් අරං." ඔහු ඔවුනට එසේ කියා සිටියේය.

අනතුරුව තිදෙනාම නිහඬ වූවෝය. කිසිවෙකු වදනක් හෝ නොදෙඩුවද අවට වාතයේ කිසියම් බිය ජනක ගතියක් රැඳී ඇති සෙයක් කොලුවාට දැනුනේය. යළිත් වරක් ඔහු වදන් රහිත බස... එනම් විශ්ව භාෂාව අත් දකිමින්ය සිටියේ.

තමන් මේ ඉන්නේ අනතුරුදායක තත්ත්වයක දැයි අනතුරුව ඉංග්‍රීසි කාරයා ඇසීය.

"කාන්තාරයකට ඇතුල් වුනාට පස්සෙ ඉතිං ආපහු ගමනක් නෑ." ඔටුවන් දක්කන්නා කීය. "ආපහු හැරෙන්න බැරි තත්ත්වයකට මූණ දුන්නම ඔහේට කල්පනා කරන්න තියෙන එකම දේ ඉදිරියට යන්න තියෙන හොඳම පාර මොකක්ද කියන එක විතරයි. වෙන්න තියෙන අනතුරක් එක්ක ඉතිරි හැම දේම බාර අල්ලා දෙවියන් වහන්සේටයි." අනතුරුව අර අබිරහස් වචනය මතුරමින් ඔහු තම කතාව හමාර කළේය.

"මක්තුබ්!"

"ඔයා අපේ තවලම ගැන මීට වඩා අවධානයක් දක්වන්න ඕනෑ." ඔටුවන් දක්කන්නා නික්ම ගිය පසු කොලුවා ඉංග්‍රීසි කාරයාට කීවේය.

"මොන තරම් වට වංගුවල කරක් ගැහුවත් අපි හැම වේලෙම ගමන් කරමින් ඉන්නෙ එකම ගමනාන්තයකටයි."

"ඒ වගේම ඔයත් ලෝකෙ රටේ දේවල් ගැන මීට වැඩියෙන් කියවන්න ඕනෑ." ඉංග්‍රීසිකාරයා පිළිතුරු දුන්නේය. "මේ කාරණයේදී පොතුත් හරියට තවලම් වගේ තමයි."

මිනිස් හා සත්ත්ව දෙකොට්ඨාසයෙන්ම සෑදුන මහා ප්‍රවාහය වේගවත්ව ගලා යන්නට පටන් ගති. දිවා කාලය සැම විටම පාහේ නිහඬව ගෙවුන අතර දූන් රාත්‍රී කාලය - එනම් මිනිසුන් ගිණිමැල වටා වාඩි වී කතා බහේ යෙදෙන්නට හුරුව සිටි - පවා නිහඬතාවයෙන් පිරුණේය.

පිටස්තර අවධානය තවලම වෙත යොමු වීමේ ඉඩ කඩ ඇතිරෙන පරිද්දෙන්, මින් ඉදිරියට ගිණිමැල දැල්වීම නොකළ යුතු යැයි එක් රාත්‍රියකදී තවලම් නායකයා තීරණය කළේය.

රාත්‍රියේදී තම සතුන් සියල්ලම රවුමකට ඉඳිනා සේ ගාල් කර නිශාවේ ශීතලට ඔරොත්තු දිය හැකිවෙන සේ ඒ රවුම මැද එක පොදියට නිදා ගැනීමේ උපක්‍රමයක් සංචාරකයන් විසින් ක්‍රියාවට නගන ලදී. තවලම් නායකයා විසින් රාත්‍රී කඳවුර වටේ තැන තැන සන්නද්ධ මුර භටයන් රඳවා තබන ලදී.

එක් රාත්‍රියකදී ඉංග්‍රීසිකාරයාට නිදා ගැනීමට නොහැකි වුණි. එහෙයින් කොලුවාද අවදි කරවාගත් පසු දෙදෙනාම එක්ව ඔවුන් ගේ කඳවුර වටකර පිහිටා තිබූ වැලි කඳු දිගේ ඇවිදින්නට පටන් ගත්තෝය. ගුවන අරා පුර හඳ බැබලෙමින් තිබුණි. අන්න ඒ වෙලාවේදී කොලුවා තම ජීවන පුවත ඉංග්‍රීසිකාරයාට පැවසුවේය.

කොලුවාගේ සේවයට බැඳීමත් සමඟ පළිඟු සාප්පුව තුළ ඇති වූ ප්‍රගතිය පිළිබඳව කියැවුන කොටසට ඉංග්‍රීසිකාරයාගේ සිත තදින් ඇදී ගියේය.

"හැම දේම පාලනය කරන ප්‍රධාන මූල ධර්මය තමයි ඒක." ඔහු කීවේය. "රස විද්‍යාඥයෝ ඕකට කියන්නෙ ලෝකාත්මය කියලයි. මුළු හදින්ම යමක් වුවමනා වෙලා තියෙනකොට තමයි ඔයා ලෝකාත්මයට හොඳටම සමීප වෙන්නෙ. ඒක හැම වෙලාවෙම වගේ ධනාත්මක බලයක්."

මෙය වනාහී හුදෙක් මිනිසාට පමණක් ලැබුණා වූ ත්‍යාගයක් නොවන බවත්, ඛණිජ, එළවලු, සතුන් හෝ හුදු සිතිවිල්ලක් යන මේ කවරක් වේවා මිහිතලය මත පිහිටන සෑම දෙයකටම ආත්මයක් ඇති බවත් ඔහු වැඩි දුරටත් කියා සිටියේය.

"ඔය පොළොව මත තියෙන හැම දේකම අඛණ්ඩ පරිවර්තනයක් සිද්ධ වෙනවා. ඒ, මහ පොළොවට ජීවයක් වගේම ආත්මයකුත් තියෙන නිසා. අපිත් ඒ මහා ආත්මයේම

කොටසක් නිසා එය අපි වෙනුවෙන් වෙහෙසෙන බවක් අපිට දැනෙන්නෙ ඉතාම කලාතුරකින්. හැබැයි පළිඟු බඩු සාප්පුවෙදි පළිඟු වීදුරු වුනත් ඔයාගෙ ජයග්‍රහණයට සහයෝගය දුන්නායි කියලා සමහර විට ඔයාට වැටහෙන්න ඇති."

අහසේ බබලමින් තිබූ සඳ හා අඳුරු වැල්ල දෙස නෙත් යොමනා අතරේ කොලුවා ඒ ගැන මඳ වේලාවක් කල්පනා කළේය. "තවලම කාන්තාරෙ හරහා ගමන් කරන කොට මං ඒ දිහා ඇහැ ගහගෙන ඉඳල තියෙනවා." ඔහු කීවේය. "කාන්තාරෙයි තවලමයි යන දෙකම කතා කරන්නෙ එකම භාෂාව. අන්න ඒ හේතුව නිසා තමයි තමන් පහු කරගෙන යන්න කාන්තාරෙ තවලමට ඉඩ දෙන්නෙ. ඒ වගේම නියම වෙලාවට යනවද බලන්න කාන්තාර තවලමේ හැම පියවරක් ගානෙම පරීක්ෂාකාරීවයි ඉන්නෙ. ඉතිං නියම පිළිවෙලට ගමන් කළොත් අපිට ක්ෂේම භූමියට යා ගන්න හැකි වේවි."

"විශ්ව භාෂාව වටහා නොගෙන නිකම්ම නිකම් පුද්ගලික වීර්ය නිසා පමණක් අපි දෙන්නගෙන් කවුරු හරි මේ තවලමට එකතු වෙලා හිටියා නම් අපේ ගමන මීට වඩා හුඟක් අමාරු වෙන්න තිබුණා."

සඳ දෙස බලාගත් වනම ඔවුහු දෙදෙනා තවත් වේලා එහි රැඳී උන්නෝය.

"ඒක තමයි නිමිති වල තියෙන ඉන්ද්‍රජාලික බලය." කොලුවා කීවේය. "මං දැකලා තියෙනවා මඟ පෙන්වන්නෝ කාන්තාරෙ ලකුණු කියවන විදිහ. කාන්තාරෙ ආත්මයට තවලමේ ආත්මය කතා කරන්නෙ මොන විදිහටද කියන එකත් මං දැකල තියෙනවා."

එවිට ඉංග්‍රීසිකාරයා කතා කළේය. "මං මීට වැඩි අවධානයක් තවලමට යොදන එක හොඳයි."

"ඒ වගේම වඩා හොඳයි මං ඔයාගෙ පොත් කියවන එක." කොලුවා කීවේය.

*   *   *

ඒවා මහ අමුතු තාලේ පොත්ය. රසදිය, ලුණු, මකරුන් හා රජවරුන් ගැන කතා කළ මුත් ඔහුට ඉන් කිසිම දෙයක් වැටහුනේ නැති. එහෙත් මේ හැම පොතක් තුළින්ම එකම අදහසක් යළි යළිත් පැවසෙන අයුරකි දක්නට ලැබුණේ. එනම් සියලුම දේවල් හුදු එකම එක දෙයක ප්‍රකාශනයක් පමණි.

ඉන් එක් පොතකින් ඔහු උගත් පරිදි රස විද්‍යාව පිළිබඳව වන වඩාම වැදගත් කොටස පේළි කීපයකින් පමණක් සමන්විත වන අතර එය මරකත මාණික්‍යයක මතුපිට කාවද්දා ඇත්තේය.

"ඒ තමයි මරකත ඵලකය." කොලුවාට යමක් ඉගැන්වීමට හැකි වීම ගැන ආඩම්බරයෙන් ඉංග්‍රීසිකාරයා කීවේය.

"හොඳයි එහෙම නම් මේ තරම් පොත් පත් අපිට ඕනැ වෙන්නෙ අහවල් දේකටද?" කොලුවා ඇසීය.

"අර වගන්ති කීපය තේරුම් ගන්න අපිට උදව් කරන්න." ඉංග්‍රීසිකාරයා එසේ පිළිතුරු දුන්නද තමන් කී දේ ගැන ඔහු තුළම විශ්වාසයක් නැති වගත් දිස් වුණේය.

කොලුවාගේ සිත වඩාම තෘප්තිමත් කළ පොතින්, ප්‍රසිද්ධ රස විද්‍යාඥයන් පිළිබඳව කියැවුණි. ඔවුහු වනාහී තම විද්‍යාගාර තුලට වී ලෝහ වර්ග පවිත්‍ර කරණය උදෙසා මුළු ජීවිතයම කැප කළ මිනිස්සුය. ඔවුහු විශ්වාස කළේ

යම්කිසි ලෝහයක් එක දිගට වසර ගණනාවක් පුරා උණු කරනා විට එහි අඩංගු සෑම අංශුවක්ම තනි තනි වශයෙන් වෙන් වී අවසන ඉතිරි වෙන දෙය අන් කිසිවක් නොව ලෝකාත්මය බවයි. මෙසේ ඉතිරි වෙන්නා වූ ලෝකාත්මය ඔවුනට මිහිතලය මත ඇති කවර දෙයක් ගැන වුව අවබෝධ කර ගැනීමට ඉඩ ලබා දෙන්නේ හැම දෙයක්ම සන්නිවේදනය පවත්වා ගන්නා භාෂාව එය වන බැවිනි. ඔවුහු තම සොයා ගැනීම හැඳින් වූවේ 'ශ්‍රේෂ්ඨ නිමැවුම' නමිනි. එය අඩක් ඝණ ද්‍රව තත්ත්වයේ පැවතියකි.

"එතකොට නිකම් ඔය මිනිස්සුන්වයි නිමිතියි නිරීක්ෂණය කිරීමෙන් විතරක් ඔය කියන භාෂාව අවබෝධ කරගන්න බැරිද?"

"හැම දේම සුළුවෙන් ගනං ගන්න පිස්සුවක් තමයි ඔයාට නං තියෙන්නෙ." රිදුණු සිතින් ඉංග්‍රිසිකාරයා උත්තර දුණි. "රස විද්‍යාව කියන්නෙ බරපතල ශික්ෂණයක්. ඒකෙදි හැම පියවරම ගන්න ඕනෑ රස විද්‍යාවේ ස්වාමිවරුන් ගේ පියවර අනුව නොවරදින තාලෙටයි."

කොලුවා උගත් පරිදි ශ්‍රේෂ්ඨ මැවීමේ ද්‍රවමය අර්ධය හඳුන්වන ලද්දේ ජීවිතාමෘතය නමිනි. එය සියලු ලෙඩ රෝග සුව කළ අතර රස විද්‍යාඥයින් මහලු බවට පැමිණීමෙන් වලකා ලූවේය. එසේම ඝණ අර්ධය හඳුන්වන ලද්දේ දාර්ශනිකයාගේ පාෂාණය නමිනි.

"දාර්ශනිකයාගේ පාෂාණය හොයා ගන්න එකත් ලේසි කාරියක් නෙවෙයි." ඉංග්‍රීසිකාරයා කීවේය. රස විද්‍යාඥයෝ තමුන්ගෙ විද්‍යාගාර ඇතුලට වෙලා අවුරුදු බොහෝ ගාණක් තිස්සෙ ලෝහ පිරිපහදු කරන ගින්දර නිරීක්ෂණය කළා. ගින්දරට ළං වෙලා ඔවුන් මොන තරම් දිග කාලයක් ගෙවුවද කියතොත් ඔවුන් ලෝකයේ පුහු ආටෝපයන්ගෙන් ඈත් වෙන්නත් පටන් ගත්තා. ලෝහ

පවිත්‍ර කිරීමේ ක්‍රියාවලිය මඟින් ඔවුන්ටම තම ආත්ම පවිත්‍ර කර ගැනීමක් කරා මෙහෙයවන බව අන්තිමේදී ඔවුන් අවබෝධ කර ගත්තා."

කොලුවා පළිඟු වෙළෙන්දා ගැන කල්පනා කරන්නට පටන් ගති. පළිඟු භාණ්ඩ පිරිසිදු කිරීම කොලුවාට යහපතක් ගෙන දෙන කාර්යයක් බවත් එමගින් තමා තුළ ඇති නිශේධාත්මක ආකල්පයන්ගෙන් මිදීමට ඔහුට හැකි වනු ඇති බවත් පළිඟු වෙළෙන්දා කියා තිබුණි. මෙසේ කෙනෙකුට තම එදිනෙදා ජීවිතය තුළින් රස විද්‍යාව උගත හැකිය යන කරුණ කොලුවා හට වඩ වඩාත් ඒත්තු ගැනෙන්නට පටන් ගෙන තිබුණේය.

"ඒ වගේම තමයි...." ඉංග්‍රීසිකාරයා කතා කරගෙන ගියේය. "දාර්ශනිකයාගේ පාෂාණයට තියෙනවා විශ්මිත බලයක්. ඒකෙන් ගන්න තුනී තීරුවකට පුළුවනි ලෝහ විශාල ප්‍රමාණයක් රත්තරන් බවට හරවන්න."

මෙය ඇසීමෙන් රස විද්‍යාව පිළිබඳව කොලුවා තුළ වූ ආශාව තවත් දැඩි වුණි. තරමක ඉවසීමකින් යුතුව කටයුතු කිරීමෙන් තමාටද සෑම දෙයම රන් බවට හැරවීමට හැකි වෙනු ඇතැයි ඔහු කල්පනා කළේය. එසේ කිරීමට සමත් වූ විවිධ මිනිසුන් ගේ ජීවන පුවත් ඔහු කියවා තිබුණි. හෙල්වේටියස් - එලියස් ෆුල්කානෙල්ලි හා හේබර් .... ඒවා චිත්තාකර්ෂණීය ප්‍රවෘත්තිය. ඔවුහු සෑම කෙනෙක්ම අවසානය දක්වාම තම ඉරණම සොයා ගිය ගමනේ නිරතව උන්නෝය. ඔවුහු නිතිපතා සංචාරය කළෝය. ඥාණවන්ත මිනිසුන් සමඟින් සංවාද කළෝය. එසේම ජීවිතාමෘතය මෙන්ම දාර්ශනිකයාගේ පාෂාණයද තමන් සතුකර ගත්තෝය.

එහෙත් 'ශ්‍රේෂ්ඨ මැවීම' කරා ළඟා වන්නේ කෙසේ දැයි ඉගෙනීමට වුවමනා වූ විට කොලුවා මුළුමනින්ම අතරමං

ස්වභාවයට පත් වුණේය. එහි වූයේ නිකම් රූප සටහන්, සංකේතාත්මක උපදෙස් සහ නොපැහැදිලි වගන්ති පමණය.

*　　*　　*

"ඇයි එතකොට ඒ ගොල්ල කාරණා මේ තරම් සංකීර්ණ බවට පත් කරන්නෙ?" එක් රාත්‍රියකදී කොලුවා ඉංග්‍රීසිකාරයාගෙන් ප්‍රශ්න කර සිටියේය. ඉංග්‍රීසිකාරයා ඒ වන විට වහා කිපෙන සුළු බවට හා පොතින් ඈත් වීම නිසා දුකට පත්ව ඉන්නා වගකි කොලුවාට පෙනුණේ.

"වටහා ගැනීමේ වගකීමක් ඇති අයට ඒ දේවල් වටහා ගන්න පුළුවන් වෙන්නෙ එතකොටයි." ඔහු කීවේය. ."නිකමට හිතල බලන්න හැම කෙනෙකුම මිනිරන් රත්තරන් බවට හරවන්න ගියොත් කොහොම වෙයිද කියල. රත්තරං වල වටිනාකම නිකම්ම නැති වෙලා යාවි."

"ශ්‍රේෂ්ඨ මෑවීම කරා ළඟා වෙන්නෙ අප්‍රතිහත ධෛර්යයයි, ගැඹුරින් හදාරන්න වුවමනාව තියෙන අයයි විතරයි. අන්න ඒ නිසයි මං මෙතන මේ කාන්තාරෙ මැද්දෙ ලගින්නෙ. සංකේත තේරුම් කර ගන්න මට උපකාර කරන්න පුළුවන් රස විද්‍යාඥයෙක්වයි මං හොයන්නෙ."

"මේ පොත් ලියල තියෙන්නෙ කොයි කාලෙද?" කොලුවා ඇසීය.

"ශතවර්ෂ ගණනාවකට ඉස්සරින්."

"ඒ දවස්වල ඔවුන්ට මුද්‍රණාල තිබ්බෙ නෑ." කොලුවා තර්ක කළේය. "හැමෝටම වගේ රස විද්‍යාව ඉගෙන ගන්න කිසිම මාර්ගයක් තිබ්බෙත් නෑ. එහෙව් එකේ රූප සටහන් මහ ගොඩක් තියෙන ඔය වගේ අමුතු භාෂාවක් ඒ ගොල්ල භාවිතා කළේ ඇයි?"

ඉංග්‍රීසි කාරයා කොලුවාට කිසි පිළිතුරක් දුන්නේ නැති. පසු ගිය දින කීපය තුළ තමා තවලම මෙහෙයවනු ලබන ආකාරය ගැන අවධානය යොමු කළද කිසිදු අලුත් දෙයක් ඉගෙන නොගත් බව ඔහු කීය. ඔහුට පෙනුන එකම දෙය නම් යුද්ධය ගැන කතා බහ දිනෙන් දින, වඩ වඩාත්, සාමාන්‍ය බවට හැරෙමින් තිබෙන බවයි.

එක් දවසකදී කොලුවා ඉංග්‍රීසිකාරයා ගේ පොත් ආපහු ඔහු වෙත භාර දුන්නේය. "ඔයා මොනවහරි ඉගෙන ගත්තද?" ඉංග්‍රීසි කාරයා විමසුවේ එසේ වී නම් ඒ කුමක් දැයි ඇසීමේ බලවත් උනන්දුවකිනි. යුද්ධයක් ඇති වීමට ඇති ඉඩ කඩ ගැන නිරන්තරයෙන් සිතට වද දුන් සිතිවිලි වලින් ගැලවීම පිණිස ඔහුට කා සමඟින් හෝ කතා බහ කිරීමට වුවමනා විය.

"විශ්වාත්මයක් කියල දෙයක් තියෙන බවත්, එය වටහා ගන්න කාට වුනත් භෞතික දේවල් පිළිබඳ භාෂාව වටහා ගන්න පුළුවන් බවත් මං ඉගෙන ගත්තා. ඒ වගේම හුගක් රස විද්‍යාඥයෝ තමන්ගෙ ඉරණම වටහා ගත්ත බවත්, විශ්වාත්මය, දාර්ශනිකයාගේ පාෂාණය, ජීවිතාමෘතය කියන මේ දේවල් හොයාගෙන ම තමුන් ගෙ ගමන අවසන් කළ බවත් මං ඉගෙන ගත්තා."

"ඒත් මෙ ඔක්කොටමත් වඩා මේ කාරණා මොන තරම් සරල දේවල්ද කිව්වොත් ඒවා මරකත මැණිකක මතුපිට ලියල තියෙන්න පුළුවන් කියන එකත් මං තේරුම් ගත්තා."

ඉංග්‍රීසිකාරයා අපේක්ෂා භංගත්වයට පත් වුණි. අවුරුදු ගාණක පර්යේෂණ, ඉන්ද්‍රජාලික සංකේත, අමුතු වදන් හා විද්‍යාගාර උපකරණ.... මේ කිසිවක් කොලුවා මත කිසිම බලපෑමක් ඇති කර නැත. "මේවා වටහා ගන්න බැරි තරමට එයාගෙ ආත්මය ප්‍රාථමිකයි." ඔහු එසේ කල්පනා කළේය.

ඉදින් කොලුවා වෙතින් පොත් පත් භාරගත් ඔහු ඒවා යළි ඔහුගේ ගමන් මළු අතරෙහි ඇසිරුවේය.

"ආපහු ගිහිල්ලා තවලම දිහා ඇහැ ගහගෙන ඉන්න." ඔහු කීය. "ඒකෙන් මටත් ඉගෙන ගන්න ලැබුන දෙයක් ඇත්තේ නෑ."

සතුන් විසින් අවුස්සන ලද දූවිල්ල හා කාන්තාරයේ පැවති නිහැඬියාව අවලෝකනය කිරීම උදෙසා කොලුවා ආපහු හැරුණි. "ගෑණු පිරිමි කාට වුනත් යමක් ඉගෙන ගන්න තමුන්ටම විශේෂ ක්‍රමයක් තියෙනවා." ඔහු තමාටම කියා ගති. "එයාගෙ ක්‍රමේ මගේ එක නෙවෙයි. එයාටත් එහෙමමයි. හැබැයි අපි දෙන්නම ඉන්නෙ අපේ ඉරණම සොයා යන ගමනකයි. අන්න ඒ හින්දා මං එයාට ගරු කරනවා."

* * *

තවලම, දිවා රාත්‍රී දෙකෙහිදීම ගමන් කරන්නට පටන් ගත්තේය.

හිස් ආවරණය කර ගත් රැකවලුන් නිතර නිතර ඔවුන් යන මඟ දිගටම හමුවෙන්නට පටන් ගත් අතර කොලුවාගේ හොඳ යහලුවෙක් බවට දූන් පත්ව සිටි ඔටුවන් දක්කන්නා කියා සිටියේ ගෝත්‍ර අතර යුද්ධය දැනටමත් ඇරඹී ඇති බවයි. එහෙයින් ක්ෂේම භූමිය කරා යා ගන්නට නම් තවලම වාසනාවන්ත විය යුතුය.

සතුන් අධික වෙහෙසට පත්ව ඉඳිද්දී මිනිසුන් අතර කතා බහ වඩ වඩාත් අඩු වී ගියේය. නිහඬතාවය යන්න රාත්‍රිය තුළ පැවති අන්ත නරකම දෙය බවට පත් වූ අතර ඔටුවකුගේ තප්පුලෑම - පෙරදී කිසිම වැදගත්කමක් හිමි

නොවූ හුදෙක් නිකම්ම නිකම් ඔටු තප්පුලෑමක් පමණක් වූ දූන් සැම දෙනාවම භීතියෙන් වෙළාලූවේ, එය වටලෑමක්, ප්‍රහාරයක් අඟවන අනතුරු සංඥාවක් විය හැකිව තිබූ හෙයිනි.

කෙසේ වෙතත් ඔටුවන් දක්කන්නා වෙතින් පළ වූවේ යුද්ධයක් පිළිබඳ අනතුර එතරම් නොතැකූ බවකි.

"මම තාමත් පණ පිටින් නේ." සඳ නැති රැයක ගිනිමැලයක් පවා නැතිව ඔවුන් රට ඉඳි වල්ලක ගෙඩි කමින් ඉන්නා අතරතුරක දී ඔහු කොලුවාට කීවේය.

"ඔන්න මොනව හරි ගිලදාන කොට මං හිතන්නේ ඒ ගැන විතරමයි. ගමනක යෙදිල ඉන්නවනං මගේ කල්පනාව ගමන ගැනමයි. ඉතිං කොහොමින් හරි මට යුද්ධ කරන්න වුනොත් ඒකත් ඔය මැරෙන්න තියෙන අනිත් ඕනෑම හොඳ දවසක් වගේම වෙයි."

"ඒ ඇයි කිව්වොත් මං ජීවත් වෙන්නෙ අතීතයේවත් අනාගතයේවත් නොවෙන හින්දයි. මගේ මනාපෙ තියෙන්නෙ මේ ගෙවෙන වර්තමානය ගැන විතරමයි. තමුන්ගේ වර්තමානෙ ගැන විතරක් හිත යොමන්න ඔයාටත් පුළුවන් වෙනොත් ඔයත් හරිම තෘප්තිමත් මිනිහෙකු වේවි. කාන්තාරේ ඇතුලෙත් ජීවිතේ තියෙන බවත්, ස්වර්ගයේ තාරකා දිළිසෙන බවත්, මේ ගෝත්‍රිකයෝ රණ්ඩු සරුවල් කරන්නෙ ඔවුනුත් මිනිස් වර්ගයාගේම කොටසක් වීම නිසා බවත් එතකොට ඔයාට පෙනේවි. ජීවිතය කියන්නෙ හරියටම මේ අපි ගෙවා දමන නිමේශය නිසාවෙන්, ඔයාට ජීවිතය උත්සවයක්, මහා සැණකෙළියක් බවට පෙරලේවි."

රාත්‍රී දෙකක ඇවෑමෙන් පසු එළඹුණ රැයේදී නින්දට සූදානම් වෙන අතර කොලුවා, ඔවුන් හැමදාම මඟ ලකුණු සේ භාවිතා කළ තාරකා දෙස බලා සිටින්නට විය.

කාන්තාරය මතද තාරුකා පහලව ඇතිවාක් මෙන් පෙනෙන්නට වූ හෙයින් ඔහු කල්පනා කළේ ක්ෂිතිජය පෙර පැවතියාට වඩා තරමක් පහලින් පිහිටා ඇතැයි කියාය.

"ඒ තමයි ක්ෂේම භූමිය." ඔටුවන් දක්කන්නා කීවේය.

"හොඳයි. ඇයි එහෙනම් අපි දැන්ම එතනට යන්නෙ නැත්තේ?" කොලුවා ඇසීය.

"අපිට දැන් නිදාගන්න තියෙන නිසා."

* * *

අරුණ උදාවෙද්දී කොලුවා අවදි වුණි. එහි, ඔහු ඉදිරියේ පෙරදින රාත්‍රී පුංචි පුංචි තාරකා බබලමින් තිබූ දිශාවේ වූයේ මුළු කාන්තාරය හරහාම විහිද පැතිර ගියා වූ නිමක් නොපෙනෙන රට ඉඳි ගස් පේලියකි.

"අපි කොහොම හරි වැඩේ කළා." වේලාසනින්ම අවදිව සිටි ඉංග්‍රීසිකාරයා කීවේය.

එහෙත් කොලුවා උන්නේ නිහඬවය. කාන්තාරයේ ගුප්ත නිහැඬියාව තුළ හුදෙකලාව සිටි ඔහුට ගස් දෙස බැලීම පවා සතුටක් ගෙන දුනි. තවමත් ඔහුට පිරමීඩ කරා ළඟා වීම සඳහා බොහෝ දුරු කතර ගෙවීමට තිබූ සේම යම් දිනයකදී මේ උදෑසනද හුදු මතකයක් පමණක් බවට පත්වෙනු ඇත්තේය. එහෙත් මේ වනාහී පවත්නා නිමේෂයයි. අර ඔටුවන් දක්කන්නා විසින් සඳහන් කරන ලද උත්සවාකාරී සැණකෙළියයි. එහෙයින් අතීතයේ පාඩම් උගත් හා අනාගතය පිළිබඳ සිහින දුටු පරිද්දෙන්ම මේ පවත්නා මොහොත අත්පත්කර ගැනීමට ඔහුට අවශ්‍ය වුණි. දැන් ඔවුන් හමුවේ දර්ශනය වන රට ඉඳි ගස් පෙලද අනාගතයේ දී යම් දිනෙක

හුදු මතකයක් බවට පත් වෙන්නේ වී නමුදු දැන් මේ මොහොතේදී එයින් නිරූපණය වූයේ ආවරණය, ජලය හා යුද්ධයෙන් රැකවරණයයි. ගත වූ ඊයේ ඔටුවෙකුගේ තප්පුලෑම අනතුරක් ඇඟ වූ අතර අද රට ඉඳි ගස් පෙලකට ප්‍රාතිහාර්යක් බවට පත්වීමටද පුළුවන් කම ලැබී ඇත්තේය.

"ලෝකයේ මොන තරම් භාෂාවන් භාවිතා වෙනවද." කොලුවාගේ කල්පනාව එසේ වීය.

* * *

"කාලය වේගයෙන් ගෙවිල යනවා. ඒ වගේම තමයි තවලමුත්." ක්ෂේම භූමියට ළඟා වෙමින් සිටියා වූ සිය ගණන් මිනිසුන් හා සතුන් දෙස බලා ඉන්නා ගමන් රස විද්‍යාඥයා කල්පනා කළේය. අලුතින් පැමිණෙන්නන් වෙත මිනිස්සු කෑ ගාද්දී, කාන්තාරයට ඉහලින් පායා තිබූ හිරු දූහුවිල්ලෙන් වැසී ගිය අතර, පැමිණෙමින් සිටි අමුත්තන් ගේ දර්ශනයෙන් ක්ෂේම භූමියේ සිටි ළමෝ ප්‍රමෝදයෙන් ඉපිල ගියෝය. ගෝත්‍රික නායකයන් පැමිණ තවලම් නායකයාව පිළිගෙන ඔහු හා දීර්ඝ කතාබහක නිරතවෙන අයුරු රස විද්‍යාඥයාට පෙනුණි.

එහෙත් රස විද්‍යාඥයාට මේ කිසිවක වැදගත්කමක් නැත. බොහෝ මිනිසුන් පැමිණ පිටව යනුද, එහෙත් කාන්තාරය හැමදාම පැවති පරිද්දෙන් පැවතෙනුද ඔහු දැක තිබුණි. කාන්තාරයේ වැල්ල මැදින් රජුන් මෙන්ම සිඟන්නන්ද ඇවිද යනු ඔහු ඕනෑ තරම් දැක තිබුණි. තියත වශයෙන්ම සුළඟින් වැලිකඳු වෙනස් වී ගියේ වී නමුදු තවමත් එහි තිබුණේ ළමා වියේ සිටම ඔහු දැන සිටි එම වැල්ලමය. පුරා සති ගණනාවක් තිස්සේ එකම කහ පාට වැල්ල හා නිල්

අහස දකිමින් ගමන් කරනා සංචාරයක් තුළ, කෂ්ම භූමියක රට ඉඳි ගස්වල කොළ පැහැය දකිනා පළමු මොහොතේම ඇති වන්නා වූ ප්‍රහර්ෂය ඔහු හැම විටම අත් වින්දේය. සමහර විට දෙවියන් වහන්සේ කාන්තාරය මවන්න ඇත්තේත් මේ මිනිස්සුන්ට ඉඳි ගස්වල වටිනාකම තේරල දෙන්න වෙන්න ඇතැ යි කියා ඔහු කල්පනා කළේය.

වඩාත් ප්‍රායෝගික කරුණු ගැන සිය අවධානය යොදවන්නට ඔහු තීරණය කළේය. තමාගේ රහස් වලින් සමහරක් කියා දිය යුතු එක් මිනිසෙකු මේ තවලම තුළ ඉන්නා බව ඔහු දැන සිටියේය. නිමිති වලින්ද ඒ පිළිබඳව ඔහුට පවසනු ලැබ තිබුණි. තවමත් ඒ මිනිසා කවුරුදැයි ඔහු නොදැන සිටියද, දුටු මතින් ඔහුගේ පළපුරුදු දෑසට ඒ තැනැත්තා හඳුනා ගැනීමට හැකි වෙනු ඇත. ඔහු කවුරු වුනත් කලින් තමා දැන සිටි ආධුනිකයා වැනිම වූ දක්ෂයෙක් වනු ඇතැයි ඔහු බලාපොරොත්තු වුණේය.

"මේ දේවල් කටින් පිට කරන වචන වලින්ම පළ කරන්න සිද්ධ වෙලා තියෙන්නෙ ඇයි කියන එක නම් මට තේරෙන්නෙ නෑ" යි ඔහු කල්පනා කළේය. "මේවා රහස් වීම නෙවෙයි කාරණේ. මොකද දෙවියන් වහන්සෙ තම සියලු සත්ත්වයන්ට උන්වහන්සේගෙ රහස් හරිම ලේසියෙන් අනාවරණය කරලා තියෙනවා."

මේ කාරණය සම්බන්ධයෙන් ඔහුට තිබුණේ එකම එක පැහැදිලි කිරීමකි. එනම් යම් දේවල් මේ අයුරින් සන්නිවේදනය කිරීමට සිදුව තිබෙන්නේ අන් කිසි හේතුවක් නිසා නොව ඒවා නිර්මල ජීවයෙන් තනා තිබීමත්, එවැනි තාලේ ජීවයක් වචන හෝ පින්තූර වලින් ග්‍රහණය කර ගැනීමට නොහැකි වීමත් නිසාය.

එසේම පින්තූර හා වචන වලින් වශීවෙන මිනිසුන් විශ්ව භාෂාව ඉගෙනීම අමතක කර දමනා නිසාත්ය.

* * *

තමා දකිමින් සිටිනා දෙය, එනම් ක්ෂේම භූමිය යනු වරක් භූගෝල විද්‍යා පොතකින් ඔහු දුක තිබූ, රට ඉඳි ගස් කීපයකින් හොඳින් වටවූ ළිඳකට වඩා විසල් එමෙන්ම ස්පාඤ්ඤයේ බොහෝ නගර වලටත් වඩා විසල් භූමියක් බව කොලුවාට නම් අදහා ගන්නටත් බැරි තරමය. එහෙත් ළිං තුන් සියයක්, රට ඉඳි ගස් පනස් දහසක් පමණක් නොව ගණන් කළ නොහැකි තරම් කූඩාරම් සංඛ්‍යාවක් මේ භූමිය පුරා විහිද තිබුණි.

"මේක හරියට එක් දහස් එක් රැය වගේනේ පේන්නෙ." රස විද්‍යාඥයා හමුවීමට නොඉවසිල්ලෙන් උන් ඉංග්‍රීසිකාරයා කීවේය. ළඟා වෙමින් උන් සතුන් හා මිනිසුන් දක ගැනීමේ කුතුහලයෙන් ඇවිලුණු ළමයි රංචුවක් විසින් ඔවුන්ව වටකර ගන්නා ලදී. තවලමේ මිනිසුන්ට කිසියම් යුද්ධයක් දක ගන්නට ලැබුණිදැයි දැන ගැනීමට ක්ෂේම භූමියේ උන් මිනිසුන්ට අවශ්‍ය වෙද්දී, එහි උන් ගැහැණු එකිනෙකා පරයමින් දූඹලුවේ වෙළෙන්දන් විසින් ගෙනෙනු ලැබ ඇති රෙදි පිළි හා වටිනා මැණික් ගල් අත්පත් කර ගැනීමටය. කාන්තාරයේ ගුප්ත නිහැඬියාව යනු දුන් දුරස් වූ සිහිනයකි. තවලමේ මිනිස්සු උන්නේ අනොරක් නැතිව කතා කරමිනි. සිනාවෙමිනි, කෑ ගාමිනි. එය හරියට ඔවුන් අධ්‍යාත්මික ලෝකයෙන් ප්‍රාදුර්භූත වී යළිත් වරක් හැබෑ මිනිසුන් අතර තමුන් ඉන්නා බව දැනගත් විටෙක මෙනි. ඔවුන් දුන් උන්නේ සහනශීලී හැඟීමෙනි. උද්දාමයෙනි.

කාන්තාරයේදී ඔවුන් පරිස්සම සහගත පෙර සූදානමකින් සිටිය මුත් ඔටුවන් දක්කන්නා කොලුවාට තේරුම් කළේ, ක්ෂේම භූමිය තුළ වාසය කළ පිරිසෙන් බහුතරයක් ගැහැණුන් හා ළමයින් වූ බැවින් එය සෑම විටම පාහේ සාමකාමී ප්‍රදේශයක් සේ සැළකුණු බවයි. කාන්තාරය පුරාම ක්ෂේම භූමි පිහිටා තිබූ සේම ගෝත්‍රික මිනිසුන්ද කාන්තාරය තුළ යුද්ධ කළ මුත් ඔවුන් එසේ යුද වැදුණේ ද ක්ෂේම භූමිය සරණාගතයන් සඳහා වන බිම් කඩක් ලෙස පවතින්නට ඉඩ හරිමිනි.

යම් පමණක අපහසුතා මධ්‍යයේ තම පිරිස එක් තැන් කළ තවලම් නායකයා ඔවුනට තම උපදෙස් ප්‍රකාශ කර සිටියේය. ඒ අනුව ගෝත්‍ර අතර යුද්ධය හමාර වන තුරුම මුළු කණ්ඩායමටම එහි රැඳී සිටීමට සිදුවනු ඇත්තේය. ඔවුන් හුදු අමුත්තන් වූ හෙයින් ක්ෂේම භූමිය තුළ ජීවත් වන්නවුන් හා ඉඩ කඩ බෙදා ගැනීමට සිදුවනු ඇති වුවද ඔවුනට හොඳම නවාතැන් පහසුකම් ලැබෙනු ඇත්තේය. ඒ වනාහී ආගන්තුක සත්කාරයේ මූලධර්මයයි. අනතුරුව, තම රැකවලුන් ඇතුලු සියලුම දෙනා හට කතා කළ ඔහු තමන් සතුව ඇති අවි ආයුධ, ගෝත්‍රික නායකයන් විසින් නම් කරනු ලැබ ඇති නියෝජිතයන් වෙත භාර දෙන මෙන් ඉල්ලා සිටියේය.

"මේවා තමයි  යුද්ධයේ නීති රීති." නායකයා එසේ විස්තර කළේය. "ක්ෂේම භූමියක් කවදාවත් හමුදාවකට හරි හට කණ්ඩායම් වලට හරි හෙවන දෙන්නෙ නෑ."

කොලුවාගේ ඉමහත් පුදුමයට, ඉංග්‍රීසිකාරයා ද තම බෑගයෙන් නිකල් ආලේපිත රිවෝල්වරයක් එළියට ගෙන එය ආයුධ භාර ගනිමින් හුන් මිනිසුන්ට භාර දුන්නේය.

"ඇයි මේ රිවෝල්වරයක්?" ඔහු ඇසීය.

"මිනිසුන්ව විශ්වාස කරන්න මට ඒක උපකාර වෙනවා." ඉංග්‍රීසිකාරයා පිළිතුරු දුන්නේය.

මේ අතර වාරයේදී කොලුවා තම නිධානය ගැන කල්පනා කරන්නට පටන් ගති. තම සිහිනය යථාර්ථයක් බවට පත්කර ගැනීමට ඔහු ළඟා වෙන තරමටම වඩ වඩාත් අසීරු දේවල් ඔහු හමුවේ මතු වී ඇත. ඉන් පෙනෙනුයේ අර මහලු රජු කී 'කෝඩුකාරයාගේ වාසනාව' යන සංකල්පය තව දුරටත් ක්‍රියාත්මක නොවනා බවයි. තම සිහිනය ලුහු බැඳ යන මේ ගමනේදී නිරන්තරයෙන්ම ඔහුගේ අනවරත උත්සාහය හා ධෛර්යය පරීක්ෂාවට ලක් වී ඇත්තේය. එහෙයින් ඔහුට දඩිබිඩිකාරයෙක් වීමට හෝ නොඉවසිලිමත් වීමට නොහැකිය. ඉදින්, යම් හෙයකින් ඔහු කලබලකාරී ලෙස ඉදිරියට දුවන්නේ නම්, එවිට ඔහුගේ මාවත දිගටම දෙවියන් වහන්සේ විසින් අතුරනු ලැබ ඇති නිමිති හා සංඥා හඳුනා ගැනීමට ඔහු අසමත් වනු ඇත්තේය.

"දෙවියන් වහන්සේ තමයි ඒවා මගේ මඟ දිගටම දමල තියෙන්නෙ." එම සිතිවිල්ලත් සමඟ ඔහු පුදුමයට පත් වුණි. ඒ වෙන තුරුත් ඔහු සලකාගෙන උන්නේ නිමිති යනු මේ ලෝකයෙහිම පවත්නා දේවල් කියාය. හරියට කෑම හා නින්ද වැනි, නැතිනම් ආලය පතා යාම හෝ රැකියාවක් සොයා යාම වැනි සාමාන්‍ය දේවල් කියාය. මඟ ලකුණු හා නිමිති යනු තමා කළ යුතු දෙය කුමක් දැයි යන්න අඟවනු පිණිස දෙවියන් වහන්සේ විසින් භාවිතා කරනු ලැබූ භාෂාවක් හැටියට ඔහු කවදාවත් කල්පනා කර තිබුණේ නැති.

"කලබල වෙන්න විතරක් එපා." ඔහු යළි තමාටම කියා ගති. "ඒක හරියටම අර ඔටුවන් දක්කන්නා ගේ කියමනක් වගේ - වෙලාව ආවම කාපං, පිටත් වෙන වෙලාව ආවම ගමන පටන් ගනිං."

ප්‍රථම දිනයේදී දැඩි වෙහෙසින් පීඩිතව, ඉංග්‍රීසිකාරයාද ඇතුළුව සියලු දෙනාම නින්දට වැටුණහ. සිය මිත්‍රයාගෙන් දුරස්ව පිහිටි කූඩාරමක තම වයසේම වූ තවත් යෞවනයන් පස් දෙනෙකු සමඟින් කොලුවාට ඉඩ වෙන් කර දෙනු ලැබිණ. කාන්තාරයේ මිනිසුන් වූ ඔවුහු මහා නගර පිළිබඳ කොලුවාගේ කතා ඇසීමට ඔහු වටා රොක් වූවෝය.

තම එඬේර ජීවිතය පිළිබඳව පළමුව ඔවුනට කියූ කොලුවා පළිඟු සාප්පුවේ ජීවිතය පිළිබඳව තමාගේ අත්දැකීම් පවසන්නට හදන විටම ඉංග්‍රීසිකාරයා කූඩාරමට ඇතුල් වුණි.

"මුළු උදේ වරුව පුරාම මං ඔයාව හෙව්වනේ." කොලුවා පිටතට කැඳවාගෙන යමින් ඔහු කීවේය. "රස විද්‍යාඥයො කොහේ ජීවත් වෙනවද කියල හොයා ගන්න ඔයා මට උදව් කරන්න ඕනෑ."

පළමුව ඔවුහු තම තමන් අතර ඉන්නා මිනිසුන් අතරේ විපරම් කළෝය. සමහර විට රස විද්‍යාඥයෙකු මේ ක්ෂේම භූමිය තුළ වෙසෙන සෙසු මිනිසුන්ට වෙනස් අයුරකින් ජීවත් වෙනවා වන්නටත් බැරි නැත. එය හරියට ඔහු නවාතැන් ගෙන ඉන්නා කූඩාරම තුළ නොනැවතී ගිණි උදුනක් දැල්වෙන්නාක් මෙනි. හැම අස්සක් මුල්ලක් නෑරම පරීක්ෂා කළ ඔවුන් අන්තිමට තේරුම් ගත්තේ ක්ෂේම භූමිය ඔවුන්ට සිතාගත හැකි ප්‍රමාණයටත් වඩා බොහෝ විශාල ස්ථානයක් බවයි. එහි සිය ගණනින් කූඩාරම ඉදිකර තිබුණේය.

"අපි මුළු දවසක්ම කාල දැම්මා." එහි වූ ළිඳක් අසල ඉඳගන්නා ගමන් ඉංග්‍රීසි කාරයා කොලුවාට කීවේය.

"මං හිතන්නෙ අපි කාගෙන් හරි අහන එක හොඳයි." කොලුවා යෝජනා කළේය.

ක්ෂේම භූමිය තුළ රැඳී සිටීමට තමාට බලපෑ කාරණාව පිළිබඳව කිසිවකුට හෝ පැවසීමේ කිසිදු කැමැත්තක් නොවූයෙන් ඉංග්‍රීසිකාරයාට ඒ යෝජනාවට එකඟ වීම සඳහා හිත හදාගත නොහැකි වී. එහෙත් අන්තිමේදී තමාට වඩා හොඳින් අරාබි බස කතා කළ කොලුවා එසේ කිරීම මැනැවැයි කියා ඔහු ඊට එකඟ වුණි. එහෙයින්, එලු හමින් කළ ඔලොගුවකට වතුර පුරවා ගැනීම සඳහා ළිඳ ළඟට පැමිණි කාන්තාවක් කරා කොලුවා හෙමිහිට කිට්ටු වුණි.

"සුබ සැන්දෑවක්, නෝනා මම මේ උත්සාහ කරන්නේ ක්ෂේම භූමියෙ කොතැනද රස විද්‍යාඥයා පදිංචිවෙලා ඉන්නෙ කියල දැන ගන්නයි."

එවැන්නෙකු ගැන කිසිම කිසි දවසක නෑසූ බව කියූ කාන්තාව ඉක්මනින් ඉවත ගියාය. එහෙත් එසේ පලා යාමට පෙර ඇය කොලුවාට උපදෙස් දුන්නේ, කළු වතින් සැරසී ඉන්නා කාන්තාවක් හා කතා බහේ යෙදීමට - ඔවුන් වනාහී විවාහක කතුන් වූ හෙයින් - තැත් නොකිරීම වඩා ඥාණවන්ත ක්‍රියාවක් වනු ඇත කියාය. ඔහු සම්ප්‍රදාය ගරු කළ යුතුව තිබුණි.

ඉන්, ඉංග්‍රීසිකාරයා අපේක්ෂා භංගත්වයට පත් වුණි. එයින් පෙනුනේ ඔහු මෙසා දිගු ගමනක් පැමිණ ඇත්තේ නිෂ්ඵල අයුරින් බවයි. කොලුවාටද කණගාටුවක් දැනුණි. ඒ ඔහුගේ මිත්‍රයා මේ පැමිණ ඉන්නේ සිය ඉරණම ලුහුබැඳගෙන වූ හෙයිනි. එසේම යමකු තම ඉරණම ලුහු බැඳ යන්නේ නම් ඔහුට එය ජය ගැනීමට උදව් කිරීම උදෙසා මුළු විශ්වයම තැත් දරනු ඇත්තේය. මහලු රජු පවසා තිබුණේ එයයි. ඔහුට වරදින්නට ඉඩක් නැත්තේය.

"මම නම් මීට කලින් කවමදාවත් රස විද්‍යාඥයින් ගැන අහලා නෑ." කොලුවා කීවේය. "මං හිතන්නේ මෙහෙ ඉන්න කවුරුත් අහල නැතුවත් ඇති."

ඉංග්‍රීසිකාරයාගේ දෑස් ක්ෂණිකව බැබලුණේය. "අන්න ඒක තමයි කාරණේ! සමහර විට මෙහෙ ඉන්න කවුරුවත් දන්නෙ නැතුව ඇති රස විද්‍යාඥයා කියන්නෙ කොහොම කෙනෙක් ද කියලා. ඒ හන්දා ඔයා මිනිස්සුන්ගෙ ලෙඩ හොඳ කරන්නෙ කවුද කිය කියා අහමින් හොයන්න."

කළු වතින් සැරසුනු කතුන් කීප දෙනෙකු දිය ගෙන යෑම පිණිස ළිඳට ආ නමුත්, ඉංග්‍රීසිකාරයා කොතරම් පෙරැත්ත කළද කොලුවා නොවේ ඉන් එකියක සමඟවත් කතා කළේ. අන්තිමේදී පිරිමියෙක් එතනට ආවේය.

"මෙහෙ ඉන්න මිනිස්සුන්ගෙ ලෙඩ සනීප කරන කවුරු හරි ගැන ඔහේ දන්නවද?" කොලුවා ඇසුවේය.

"අල්ලා තමයි අපේ ලෙඩ සනීප කරන්නෙ." අමුත්තන් නිසා පැහැදිලිවම බියට පත් මිනිසා කීවේය. "ඔහේල ඔය අහන්නෙ හූනියං කාරයන් ගැන." කුරාණයෙන් පාඨ කීපයක් මැතිරූ ඔහුද යන්නට ගියේය.

අනතුරුව තවත් පිරිමියෙකු ආවේය. වඩා යහපත් මිනිසෙකු වූ ඔහු කුඩා බාල්දියක් රැගෙන ආවේය. ඔහුගෙන් ද කොලුවා අර පැණයම විමසා සිටියේය.

"මොන එහෙකටද ඔහේලට ඔය ජාතියෙ මනුස්සයෙක්ව හොයන්න ඕන කරල තියෙන්නෙ?" එම අරාබියා ඇසීය.

"වෙන මොකුත් නිසා නෙවෙයි. මේ මෙතන ඉන්න මගේ මිත්‍රයා මාස ගණනාවක් තිස්සෙ මෙච්චර දුර කතරක් ගෙවාන ඇවිත් ඉන්නෙ ඒ වගේ කෙනෙක් මුණ ගැහෙන්න." කොලුවා උත්තර දුන්නේය.

"ඔය කියන තාලෙ කෙනෙක් මේ ක්ෂේම භූමියේ ඉන්නවනං හෙම ඉතිං එයා තමයි වඩාම බලවත් මිනිහා." සුළු මොහොතක් කල්පනාවේ ගැලී උන් මහලු මිනිසා එසේ

කිවේය. "ගෝත්‍රික නායකයින්ටවත් ඕන ඕන වෙලාවට එයාව දකින්න ලැබෙන්නෙ නෑ. එයාම කැමති වෙලාවක ඇරෙන්න."

"මේ යුද්දෙ අහවරක් වෙනකම් ඉන්න. ඊට පස්සෙ තවලමත් එක්ක පිටත් වෙන්න. සේම භූමියේ පවතින ජීවිතේට ඇතුල්වෙන්න උත්සාහ කරන්න විතරක් එපා." එසේ කී මිනිහා ද යන්නට ගියේය.

එහෙත් ඉංග්‍රීසිකාරයා නම් සිටියේ උද්යෝගයෙන් ඉපිල යමිනි. ඔවුන් මේ ඉන්නේ හරි පාරට වැටිලාය.

අන්තිමේදී කළු ඇඳුමින් සැරසී නොසිටි තරුණ කාන්තාවක් එහි ළඟා වූවාය. උර මත භාජනයක් තබාගෙන පැමිණි ඇගේ හිස සළුවකින් වැසී තිබුණත් මුහුණ නිරාවරණය වෙලාය. රස විද්‍යාඥයා ගැන අසනු රිසින් කොලුවා ඈ වෙත ළං විය.

ඒ නිමේෂයේදී ඔහුට පෙනුණේ කාලය එහෙමම ගල් වී විශ්වාත්මය ඔහු තුළ රළ නගා හැපෙනා බවයි. ඇගේ අඳුරු දෑස් වෙත එබී බලනා ඔහු දුටුවේ ඇගේ දෙතොල් සිනාවක් හා ගොලු වතක් අතර දෝලනය වෙන බවයි. එසේම ඒ මොහොතේදී ඔහු මුළු ලොවම කතා කරනා භාෂාවේ ඉතාම වැදගත් කොටස එනම්, මිහිපිට වෙසෙනා සෑම සියලු දෙනාම මුලු හදින් වටහා ගැනීමට සමත් වූ භාෂාව අවබෝධ කර ගැනීමට සමත් වූවේය. ඒ වනාහී අන් කිසිවක් නොවේ, ප්‍රේමයයි. එය මනුෂ්‍යත්වයටද වඩා වියපත්ය. කාන්තාරයටත් වඩා පැරණිය. මේ මොහොතේදී ළිඳ ළඟ හමු වූ ඔවුන් දෙදෙනා අතරින් ගලා ගියේ මෙවන් දෑස් යුගලයන් දෙකක් හමුවෙන සෑම විටකම නොවැරදීම හුවමාරු වූ එකම බලයයි. සැබැවින්ම ප්‍රේමයයි. ඇය සිනාසුණාය. එමෙන්ම ඒ මුළු ජීවිත කාලය පුරාම ඔහු බලාපොරොත්තුවෙන් සිටියා වූ එහෙත් නිශ්චිතවම දන

නොසිටියාවූ සුබ නිමිත්තයි. තම බැටළු රංචුව සමඟින්, තම පොත් තුළ ගැලෙමින්, පළිඟු භාණ්ඩ අතරින් මෙන්ම කාන්තාරයේ ගුප්ත නිහැඬියාව මැදින් සොයා ගැනීම සඳහා ඔහු වෙර දූරූ සුබ නිමිත්තයි.

මේ වනාහී ලෝකයේම භාවිතා වන නිමල භාෂාවයි. එයට කිසිම විස්තර කිරීමක් අවශ්‍ය නොවූවේ හරියටම, නිමා නොවෙනා කාලය තුළින් කරනා සංචාරයේදී විශ්වයට කිසිවක් අවශ්‍ය නොවෙන්නාක් මෙනි. එම මොහොතේදී කොලුවාට දැනුන එකම හැඟීම නම් තමා මේ ඉත්තේ ජීවිත කාලය පුරා හමු වූ එකම එක කාන්තාව ඉදිරියේ බවයි. එසේම වදන් වල ආනුභාවයකින් තොරවම ඇයද එම හැඟීම එලෙසින්ම හඳුනා ගත්තාය. ලොව පවතින කවරම දෙයකටත් වඩා ඔහුට එය සහතිකය.

එසේම, දෙමාපියන් හා ආතා ආච්චි විසින්ද ඔහුට පවසනු ලැබ තිබුණේ ඔහු අනිවාර්යයෙන්ම ප්‍රේමයෙන් බැඳිය යුතු බවත්, බැඳීමට ඇතුලු වීමට පෙර පුද්ගලයා සැබැවින්ම දූන හඳුනා ගත යුතු බවත්ය. එහෙත්, සමහර විට මේ ආකාරයේ හැඟීමක් දූනුනා වූ මිනිසුන් කිසිම දිනකත් විශ්ව භාෂාව අවබෝධ කරගෙන නොසිටින්නට ඇත. ඒ, ඔබ මේ භාෂාව දූන සිටිනා විට, කාන්තාරයක් මධ්‍යයේ හෝ විසල් නගරයක් තුළ සිටියේ වුවද ලොව වෙසෙනා යමකු ඔබ වෙනුවෙන් බලා ඉන්නා බව වටහා ගැනීමට පහසු වෙන හෙයිනි. එසේම මෙවන් දෙදෙනෙකු එකිනෙකා හමු වූ විට, එකිනෙකාගේ දෑස් එකට පැටලැවුණු විට, අතීතය මෙන්ම අනාගතයද එසැනින්ම නොවැදගත් වී යන්නේය. ඉදින් පවතිනු ඇත්තේ එම පවත්නා නිමේෂය පමණි. ඇදහිය නොහැක්කක් වූ ස්ථිරසාර එකම දෙය නම් මේ ඉර හඳ යට පවතින සෑම සියලු දෙයම පාහේ ලියනු ලැබ ඇත්තේ එක් මැවුම්කාර අතකින් වීම බවයි. ඒ වනාහී

ආදරය පුබුදුවා ලූ හස්තයයි. ලොව වෙසෙනා සෑම මිනිසෙකු උදෙසාම නිවුන් ආත්මයක් නිර්මාණය කළා වූ හස්තයයි. එවන් වූ ප්‍රේමයකින් තොර වූ විට කෙනෙකුගේ සිහින හුදු අරුත් සුන් දෙයක් පමණක්ම වනු ඇත.

"මක්තුබ්!" කොලුවා එසේ ප්‍රාර්ථනා කළේය.

ඉංග්‍රීසිකාරයා කොලුවාව පෙළඹීය. "එන්න ඇගෙන් අහන්න." කොලුවා යුවතියට සමීප වූවේ, ඇය සිනාසුන විට තෙමේද ප්‍රති සිනා පෑවේය.

"ඔයාගේ නම මොකක්ද?" ඔහු ඇසීය.

"ෆාතිමා." සිය බැල්ම ඉවත හරවමින් ඇය පිළිතුරු දුන්නාය.

"ඒක මගෙ රටේ ඉන්න සමහර ගෑනු අයවත් අමතන නමක්."

"ඒක තමයි අනාගත වක්තෘගේ දුවගේ නම." ෆාතිමා කීවාය. "ආක්‍රමණිකයෝ ඇගේ නම ලෝකෙ පුරාම අරං ගියා." මේ ලස්සන කෙල්ල ආක්‍රමණිකයන් පිළිබඳව කතා කළේ අභිමානයෙනි.

මෙවිට ඉංග්‍රීසිකාරයා කොලුවාගේ අතින් අදිමින් පොළඹවන්නට වූයෙන් ඔහු ඇගෙන් ලෙඩ සුව කරන මිනිසා පිළිබඳ ප්‍රශ්නය අසා සිටියේය.

"එයා තමයි මේ ලෝකෙ තියෙන හැම රහසක්ම දන්න කෙනා." ඈ කීවාය.

"එයා කාන්තාරෙ ඉන්න භූතයොත් එක්කත් කතාබහ කරනවා."

භූතයෝ වනාහි හොඳ හා නරක දෙකෙහි ආත්මයෝ වෙත්. මෙවිටම අමුතු මිනිසා ජීවත් වෙන්නේ එහි යැයි අඟවමින් යුවතිය දකුණු දිශාව දක්වා සිටියාය. අනතුරුව සිය බඳුන ජලයෙන් පුරවා ගත් ඈ යන්නට ගියාය.

ඉංග්‍රීසිකාරයාද අතුරුදන් වී ගොස් සිටියේය. ඔහු රස විද්‍යාඥයා සොයන්නට ගොසිනි. මේ අතර, එක්තරා දවසක ටාරිෆාවේ හිඳිනා විට හමා ගිය ලැවෙන්ටර් සුළඟින් මෙම යුවතියගේ සුගන්ධය තමා වෙත රැගෙන ආ බව යළි සිහි කරමින් හා එවැන්නියක් ජීවත්ව හිඳිනා බව දැන ගැනීමට පෙරදී පවා ඔහු ඇයට පෙම් කළ බව අවබෝධ කර ගනිමින් කොලුවා බොහෝ වේලාවක් ළිඳ ලඟ ඇණ තියාගෙන උන්නේය. එසේම, මෙම යුවතිය වෙත වූ ඔහුගේ ප්‍රේමය විසින් ලොව පවතින්නා වූ සෑම නිධානයක්ම හාරා පාදා ගැනීමට තමාට හැකියාව ලැබ දෙනු ඇති බව ඔහු හොඳින් වටහා ගත්තේය.

ඊළඟ දවසේ දී යළි අර යුවතිය දැක ගැනීමේ අපේක්ෂාවෙන් කොලුවා ළිඳ ළඟට සේන්දු වුණේය. ඔහුගේ පුදුමයට කාන්තාරය දෙස බලමින් ඉංග්‍රීසිකාරයාද එහි උන්නේය.

"මද්දහනෙ ඉඳලා, මුළු හැන්දෑවම වගේ මං මෙතනට වෙලා බලං උන්නා." ඔහු කීවේය. "හැන්දෑවේ පළමු තරුව පායනවත් එක්කම ඔහු පෙනී උන්නා. මං එතකොට එයාට කිව්වා 'මම මේ තරම් හොයමින් ඉන්න දේ ගැන. එයා ඒ පාර ඇහුවා මං කවදා හරි මිනිරන් රත්තරන් බවට හරවලා තියෙනවද කියලා. මං කිව්වා මේ ඇවිත් ඉන්නෙ ඒක කරන හැටි ඉගෙන ගන්න තමයි කියලා."

"ඊට පස්සෙ එයා කිව්වා, මං ආයෙත් ඒක කරන්න උත්සාහ කළ යුතුය කියලා. එච්චරමයි කිව්වෙ. යන්න, ගිහිං ආයෙත් වරක් උත්සාහ කරල බලන්න."

කොලුවා කිසිවක් නොකීය. අනේ මේ අසරණ ඉංග්‍රීසිකාරයා මේ සා දුරු කතරක් ගෙවාගෙන පැමිණ ඇත්තේ මෙතෙක් කළ දෙය යළිත් මුල සිට කළ යුතු බව අසා ගන්නටය.

"ඉතිං, එහෙනං ආයෙත් උත්සාහ කරලා බලන්න." ඔහුද ඉංග්‍රීසිකාරයාට කීවේය.

"ඒකම තමයි මම මේ කරන්න යන්නෙ. දැන් මේ මොහොතෙ ඉඳලම පටන් ගන්නයි මං හදන්නෙ."

ඉංග්‍රීසිකාරයා පිටව ගිය පසුව ෆාතිමා එහි පැමිණ බඳුන ජලයෙන් පුරවා ගත්තාය.

"මං මේ ආවේ ඔයාට එකම එක දෙයක් කියන්න." කොලුවා කීවේය. "මට ඕනෑ ඔයාව මගෙ බිරිඳ කර ගන්නයි. මං ඔයාට ආදරෙයි."

දැරිය අතින් බඳුන ගිලිහුණෙන් ජලය ඉහිරී ගියේය.

"මං හැම දවසෙම මෙතනට වෙලා ඔයා එනකම් බලා ඉන්නවා. මං මේ කාන්තාරෙ හරහා ඇවිදගෙන ආවෙ පිරමීඩ කිට්ටුව කොහේ හරි තියෙන නිධානයක් හොයා ගන්න හිතාගෙන. ඒත් මං ගැන හිතුවම, මට නම් පෙනුනෙ මේ යුද්දෙ ශාපයක් කියලයි. හැබැයි දැන් බැලුවම ඒක ආශිර්වාදයක්. මොකද යුද්දෙ තමයි මාව ඔයා ළඟට අරන් ආවේ."

"කවදාහරි දවසක යුද්දෙ අහවර වේවි." යුවතිය කීවාය.

කොලුවා තමා වටා ඇති රට ඉඳි ගස් දෙස බැලුවේය. තමා වරෙක එඬේරෙකුව සිටි බවත්, එසේම යළිත් වරක් තමාට එඬේරෙකු වීමට හැකියාව ඇති බවත් ඔහු තමාටම සිහිපත් කර දුන්නේය. තම නිධානයට වඩා මේ ෆාතිමා බොහෝ සේ වටී.

"ගෝත්‍රිකයො හැම වෙලාවෙම ඉන්නෙ නිධාන හොය හොයා." ඔහු සිතන්නේ කුමක්දැයි අනුමාන කළ විලසින් යුවතිය කීවාය. "ඒ වගේම තමයි කාන්තාරෙ ඉන්න

කාන්තාවො ඔවුන්ගෙ ගෝත්‍රික මිනිස්සු ගැන ආඩම්බර වෙනවා."

යළිත් බඳුන පුරවාගත් ඇය පිටව ගියාය.

ෆාතිමා හමුවීමට කොලුවා හැම දිනකම පාහේ ළිඳ ළඟට ගියේය. එඬේරෙකු වශයෙන් ගෙවුන තම ජීවිතය ගැන, රජු, පළිඟු සාප්පුව ගැන ඔහු ඇයට විස්තර කර දුන්නේය. ඔවුහු දෙදෙන මේ වන විට මිතුරන්ව සිටියහ.

ඔහු ඇය හා ගෙවූ මිනිත්තු පහලොව හැරුණු විට හැම දවසක්ම පෙනුනේ කිසිම දාක ගෙවී නොයනා බවයි. මෙසේ, ඔහු ක්ෂේම භූමියට සේන්දු වී මසක් ඉක්ම ගිය තැන තවලම් නායකයා ඔහු හා ගමන් කරමින් සිටි සියලු දෙනාවම රැස් කර වූවේය.

"මේ යුද්දෙ ඉවර වෙන්නෙ කවදද කියල අපි දන්නෙ නෑ. ඒ හන්දා අපිට ඉස්සරහට යන්න බැරි වේවි." ඔහු කීවේය. "යුද්දෙ හුඟක් කල් අල්ලල හිටීවි වගේ. සමහර විට අවුරුදු ගාණක් වෙන්නත් බැරි නෑ. දෙපැත්තම එක වගේ බලවත්. අනික දෙපැත්තෙම හමුදාවලට මේ යුද්දෙ හරිම වැදගත්. මේක අයහපතට එරෙහි යුද්ධයක් නෙවෙයි. බල තුලනය පවත්වා ගැනීම සඳහා දෙපැත්තක ඉන්න බලවේගයන් ගෙනියන යුද්ධයක්. ඉතිං මේ තාලෙ යුද්ධයක් පටන් ගත්තම අනික් යුද්ධ වගේ නෙවෙයි අවුරුදු ගණන් ඇදී ඇදී යනවා. වෙන දෙයක් නිසා නෙවෙයි දෙපැත්තෙම අල්ලා දෙවියන් ඉන්න නිසා."

රැස්වීමෙන් පසුව සියලු දෙනා තම තමන් ගේ වාසස්ථාන කරා ආපසු ගිය අතර කොලුවා එම සැන්දෑවේදී යළිත් ෆාතිමා හමුවීම සඳහා ගියේය. ඔහු ඇයට උදේ පැවති රැස්වීම ගැන කියා සිටියේය. "අපි හමුවුන දාට පස්සෙන්දා..." ඇය කියන්නට වූවාය.. "ඔයා මට ආදරෙයි කිව්වා. ඉතිං

එහෙම ඔයා මට විශ්ව භාෂාවෙන් ටිකක් වගේම විශ්වාත්මය ගැනත් ඒ විදිහට කියල දුන්නා. අන්න ඒ නිසා මම දැන් ඔයාගෙම කොටසක් වෙලා ඉවරයි."

ඇගේ කට හඬට සවන් දෙන කොලුවා කල්පනා කළේ රට ඉඳි ගස් අතරින් හමනා සුළඟේ හඬට වඩා ඇගේ කට හඬ බොහෝ සේ මිහිරි බවයි.

"මං මේ ක්ෂේම භූමියට වෙලා ඔයා එනතුරු හුඟ කාලයක් බලං උන්නා. මට මගේ අතීතය, මගේ චාරිත්‍ර වගේම, කාන්තාරෙ ඉන්න මිනිස්සු කාන්තාවන්ගෙන් බලාපොරොත්තු වෙන්නෙ මොන වගේ ගති පැවතුම්ද කියන මේ හැම එකම අමතක වෙලා. පුංචි ළමයෙක් වෙලා උන්න කාලෙ පටන්ම, කාන්තාරෙ කවදාම හරි මට හරිම කදිම තෑග්ගක් ගෙනේය කියල මං හීන දැක්කා. ඔන්න දැන් අන්තිමේදී මගේ තෑග්ග මට ලැබිලා. ඒ තමයි ඔයා."

කොලුවාට ඒ මොහොතේදී ඇගේ අත ගැනීමට උවමනා වීය. එහෙත් ෆාතිමාගේ දෑත් වෙලී තිබුණේ ජෝගුවක අඬු සමඟිනි.

"ඔයා මට ඔයාගෙ හීන, අර මහලු රජ්ජුරුවෝ, තව ඔයාගේ නිධානෙ ගැන කියලා දුන්නා. ඒ වගේම තමයි ඔයා මට නිමිති ගැනත් කිව්වා. ඉතිං දැන් නම් මං කිසිම දේකට බය නෑ. මොකද ඔයාව මගෙ ළඟට එව්වෙ ඔය කියපු සුබ නිමිති නිසා. ඔන්න දැන් මාත් ඔයාගෙම හීනෙ කොටසක්. ඔයාගෙ ඉරණමේම කොටසක්. හරියට ඔයා කියන්නා වගේම."

"අන්න ඒ නිසා තමයි ඔයා දිගටම තමුන්ගෙ ඉරණම ජය ගන්න තුරු ඉස්සරහට යනවා දකින්න මට ඕනෑ. යුද්දෙ ඉවර වෙනකම් ඔයාට මෙහෙ නවතින්න වෙනව නං නැවතිලා ඉන්න. ඒත් හැබැයි ඊට කලියෙන් යා යුතු නං,

ඒත් කමක් නෑ. ඔයා ඔයාගේ හීන ලුහුබැඳගෙන යන්න. හුළඟට වැලි කඳුවල හැඩේ වෙනස් වෙනවා. ඒත් කවදාවත් කාන්තාරෙ වෙනස් වෙන්නෙ නෑ. එකිනෙකා ගැන අපේ තියෙන ආදරෙත් අන්න ඒ වගෙයි."

"මක්තුබ්!" ඇය කීවාය. "ඉතිං මං ඇත්තටම ඔයාගෙ හීනෙ කොටසක් නම් ඔයා කවදාම හරි දවසක ආපසු ඒවි."

එදින ඇගෙන් වෙන්ව යන විට කොලුවාගේ සිතට දැනුනේ මහා දුකකි. තමා දන සිටි සියලුම විවාහක එඬේරුන් ගැන ඒ මොහොතේදී ඔහු දිගින් දිගටම කල්පනා කළේය. බොහෝ දුරු කතර තණ බිම් කරා යා යුතු වන අවස්ථාවලදී ඔවුනට ඒ බැව් සිය බිරින්දෑවරුන්ට ඒත්තු ගැන්වීමට බෙහෙවින් අසීරුය. ආලයට සෑම විටම වුවමනා වන්නේ ඔවුන්ව සිය ආදරවන්තිය හා නතර කරවාලීමටය.

"කාන්තාරෙ අපේ මිනිස්සුන්ව අපෙන් වෙන් කරලා අරගන්නවා. ඒ වගේම හැම තිස්සෙම එයාල ආපහු එන්නෙ නෑ." ඇය කීවාය. "අපි ඒ ගැන හොඳට දන්නවා වගේම ඒවට පුරුදු වෙලා ඉන්නෙ. ආපහු නොඑන හැම කෙනෙක්ම වළාකුලු වල, දෙණි බිම් වල හැංගිල ඉන්නා සත්තුන්ගේ වගේම මහ පොළොවෙන් උනන වතුරෙත් කොටස් බවට පත්වෙනවා. මෙහෙම ඒ ගොල්ල පවතින හැම දේකම කොටස් බවට පත් වෙනවා. ඒ කියන්නේ ඒ ගොල්ලො විශ්වාත්මය බවට පත් වෙනවා."

"හැබැයි ආපහු එන අයත් ඉන්නවා. අන්න එතකොට අනෙක් ගෑණුන්ටත් සතුටක් දැනෙනවා. මොකද එයාලගේ මිනිස්සුත් කවදා හරි දවසක ආපහු එයි කියන විශ්වාසය ඇතිවෙන හන්දා. මං ඒ වගේ අය දිහා බලන්න හුරු වෙලා හිටියා. ඉතිං එතකොට මට ඒ ගෑණුන්ගේ සතුට ගැන ඉරිසියාවක් දැනෙනවා. ඔන්න දැන් අන්තිමේදී මමත් අර බලා ඉන්න ජාතියේ ගෑණියෙක් වෙන්නයි යන්නෙ."

"මං කාන්තාරේ ගෑණියෙක්. ඒ ගැන මං ආඩම්බර වෙනවා. ඒ හින්දා මට ඕනෑ මගේ ස්වාමි පුරුෂයත් අර වැලි කඳු වලට හැඩයක් ලබා දෙන සුළඟ වගේ නිදහසේ ඇවිදිනවා බලන්න. ඉතිං කොහොම හරි මටත් එයාව වැලි කඳු වල, සතුන්ගේ, කාන්තාරෙ දිය උල්පත් වල කොටසක් හැටියට බාර ගන්න සිද්ධ වුනොත් මං ඒකටත් හිත හදා ගන්නවා."

කොලුවා ඉංග්‍රීසිකාරයා සොයා ගැනීම පිණිස ගියේය. ඔහුට උවමනා වූයේ ඉංග්‍රීසිකාරයාට ෆාතිමා ගැන කියන්නටය. ඉංග්‍රීසිකාරයා තම කූඩාරමට පිට පැත්තේ ගිණි උදුනක් තනිවම හදාගෙන තිබෙනු දුටු විට කොලුවා පුදුමයට පත් වුණේය. එය බෙහෙවින් අමුතු තාලේ උදුනක් වී. ඊට ඉන්ධන ලෙස එකතු කරනු ලැබුවේ වියලි දරය. උදුන මත විනිවිද පෙනෙනා බෝතලයක් රත් වෙමින් තිබුණේය. ඉංග්‍රීසිකාරයා උදුනෙන් දෑස් ඉවතට ගෙන කාන්තාරය වෙත යොමද්දී, ඔහු පොත් කියවමින් ඉඳින විට පවතිනවාට වඩා වැඩි දීප්තියක් ඒ දෑස් තුළ බබලන බවක් පෙනුණේය.

"මේක තමයි කටයුත්තේ පළමු අදියර." ඔහු කීවේය.

"මං ඉස්සෙල්ලම සල්ෆර් වෙන් කර ගන්න ඕනෑ. ඒක ටක්කෙටම කර ගන්න නං මං අසාර්ථක වීම ගැන බය කොහෙත්ම තියාගත යුතු නෑ. ප්‍රධාන කාරණේ ගැන උත්සාහ කරන එකෙන් මාව පිටට අදින පළමු කාරණේ තමයි අසාර්ථක වේය කියල ඇතිවෙන බය. දැන් මම මේ පටන් ගන්නෙ මීට අවුරුදු දහයකට කලියෙන් මට කරන්න පුළුවන් කම තිබ්බ දෙයක්. කොහොම වුණත් අන්තිමේදී මට සතුටුයි, අවුගානෙ මම මේක පටන් ගන්න අවුරුදු විස්සක් බලා නොඉඳපු එක ගැන."

ඉංග්‍රීසිකාරයා දිගින් දිගටම ගින්දර අවුලුවද්දී, බැස යන හිරුගේ රශ්මියට හසුව කාන්තාරය රක්ත වර්ණයෙන්

නැහැවෙන තුරා කොලුවා එහි බලා උන්නේය. මේ අතර තම ප්‍රශ්නවලට පිළිතුරු කාන්තාරය ඇගේ ගුප්ත තිහැඬියාව තුළ සඟවාගෙන සිටින්නේ දැයි බැලීමට කාන්තාරය වෙත යාමේ ආශාවෙන් කොලුවා දැවෙන්නට පටන් ගත්තේය.

ක්ෂේම භූමියේ වැවී ඇති රට ඉඳි ගස් පෙනෙනා මානයේ කොලුවා ටික වෙලාවක් අරමුණකින් තොරව එහෙ මෙහෙ සැරි සැරුවේය. කාන්තාර සුළඟට සවන් යොමනා ඔහුට සිය පයට පෑගෙන ගල් කැට වල පහස දැනුණි. අතනින් මෙතනින් සිය පයට බෙලි කටුවක් පෑගෙන විට ඔහු වටහා ගත්තේ බොහෝ ඈත යුගයකදී කාන්තාරය සමුද්‍රයක් බවට පත්ව තිබී ඇති බවයි. ගලක් මත ඉඳගත් ඔහු ක්ෂිතිජයට තමාව මෝහනය කරන්නට ඉඩ දී බලා හිඳින්නට වීය. ආලය යන සංකල්පය, සතුකර ගැනීම යන්නෙන් වෙන්ව ගෙන බලන්නට ඔහු උත්සාහ දැරූ මුත් ඒවා එකිනෙකින් වෙන්කර ගැනීමට අසමත් වීය. එහෙත් ෆාතිමා යනු කාන්තාරයේ ගැහැණියකි. එසේම ඔහුට ඇයව තේරුම් ගැනීමට උදව් කළ හැකි යමෙකු වෙත්නම් ඒ වනාහී අන් කිසිවක් නොවේ. කාන්තාරයමය.

එතැන හිඳ එසේ කල්පනාවේ නිමග්නව ඉන්නා විට ඔහුට තම හිස මතින් වූ කිසියම් චලනයක් දැනුනි. ඉහලට නෙත් යොමු කළ ඔහු ඉතා ඉහල ආකාශය තුළ රවුම් ගසනා උකුස්සන් ජෝඩුවක් දුටුවේය.

සුළඟට අනුව පියා සලනා උන් දෙස ඔහු නෙත් යොමා ගත්වනම උන්නේය. උන්ගේ පියාසැරියේ කිසිදු රටාවක් ඇති බවක් නොපෙනුනද ඉන් කොලුවා තුළ කිසියම් හැඟීමක් උපන්නේය. එහෙත් ඒ කුමක් දැයි ප්‍රශ්න කරන්නට ඔහු අසමත්ය. ඔහු කුරුල්ලන්ගේ පියා සැරිය සමඟින් නෙත දිවෙව්වේ ඉන් යමක් කියවීමට උත්සාහ දරමිනි. සතුකර ගැනීමකින් තොරව සැබෑ ආලය යන්නේ තේරුම කුමක්ද

යන්න ඔහුට වටහා දීමට මේ කාන්තාර කුරුල්ලන් සමහරවිට සමත් වෙනු ඇත.

කොලුවාට නිදිමත ගතියක් දැනුනි. හෘදාභ්‍යන්තර යෙන් ආ පෙළඹවීමකින් ඔහු තුළ අවදි වී සිටීමට අවශ්‍යතාවයක් ඇති කළද, ඔහුටමත් අවශ්‍ය වූවේ නින්දට වැටීමටය. "කෙනෙක් ආදරෙන් බැඳිල ඉන්නකොට හැම දෙයක්ම ඔහු කරා වැඩි හැඟීමක් ඇති කරනවා." ඔහු එසේ කල්පනා කළේය.

හදිසියේම එක් උකුස්සෙකු ක්ෂණිකවම වේගයෙන් පියාඹා විත් අනෙකාට පහර දෙන්නට විය. එය සිදු වූ වේගයටම ළමයා තුළ කිසියම් ක්ෂණික ඡායාවක් වහා ඇති වී නැති වී ගියේය. හමුදාවක්! සිය අසිපත් සූදානම් කරගෙන හමුදාවක් ක්ෂේම භූමිය වෙත අසුන් පන්නාගෙන එමින් සිටියෝය. එම දසුන සැනෙකින් අතුරුදන් වී ගියද, ඉන් ඔහු සැලී ගියේය. මිනිසුන් මිරිඟුව ගැන කතා කරනු අසා තිබූ අතර ඔහුමත් එවැනි දෑ දැක තිබුණි. ඒවා වනාහී අපේක්ෂාවන්ය. කොතරම් දැඩි අපේක්ෂාවන්දැයි කිවහොත් එහි උග්‍ර බව නිසාම කාන්තාරයේ වැල්ල මත ඒවා සැබෑවන් සේ මැවී පෙනෙන්නට පටන් ගනියි. කෙසේ වෙතත් ඔහු ක්ෂේම භූමිය වෙත හමුදා ආක්‍රමණයක් නම් මොන විදිහෙන්වත් අපේක්ෂා කළේ නැති.

මෙම දසුන සිතින් අකා මකා දමා යළි තම භාවනාව වෙත එළඹීමට කොලුවාට අවශ්‍ය විය. එහෙයින් කාන්තාරයේ වූ රන් පැ ආවරණ මත කාන්තාරයේ ඇති ගල් කුලු මත, සිය අවධානය රැඳවීමට ඔහු යළි උත්සාහ දැරීය. එහෙත් හෘදයාභ්‍යන්තරයේ වූ කිසියම් දෙයක් මඟින් ඔහුට එසේ කිරීමට ඉඩ නොදුනි.

"හැම වෙලාවෙම නිමිති ගැන කල්පනාවට ගන්න." මහලු රජු එසේ කියා තිබුණි. අර ක්ෂණික දසුන තුළ තමා

දුටු දෑ යළි සිහිපත් කළ ළමයාට දැනුනේ ඒවා සැබැවින්ම සිදුවීමට යන බවයි.

හුන් තැනින් නැගිට ගත් කොලුවා ආපසු රට ඉඳිගස් ගොන්න දෙසට පා එසවීය. යළිත් වතාවක් ඔහු තමා වටා ඇති දේවල් තුළ පවතින බොහෝ භාෂාවන් අවබෝධ කර ගත්තේය. මේ වතාවේදී නම් අභයස්ථානය වනු ඇත්තේ කාන්තාරයයි. මරු කතර යනු ක්ෂේම භූමියයි.

ඔටුවන් දක්කන්නා ඉර බසිනා අයුරු නරඹමින් තල් ගස් මුල ඇණ තබාගෙන උන්නේය. වැලි කඳු වලට එහා පැත්තේ සිට කොලුවා මතුවෙනු ඔහු දුටුවේය.

"ඔන්න හමුදාවක් මෙහෙට කඩා පනින්නයි යන්නෙ." කොලුවා කීවේය. "මට එහෙම දෙයක් පෙනුණා."

"කාන්තාරෙ මිනිස්සුන්ගෙ හදවත් අනන්තවත් දර්ශනවලින් පුරවනවා." ඔටුවන් දක්කන්නා කොලුවාට එසේ පිළිතුරු දුන්නේය.

එහෙත් කොලුවා ඔහුට උකුස්සන් පිළිබඳ පුවත, එනම් උකුස්සන්ගේ පියාසැරිය නරඹමින් ඉන්නා විට හදිසියේම තමා විශ්වාත්මය තුළට ගිලී ගියාක් මෙන් දැනුන බව කියා සිටියේය.

කොලුවා මේ කියන්නේ කුමක් දැයි ඔටුවන් දක්කන්නා වහාම වටහා ගත්තේය. මහ පොළොව මත ඇත්තා වූ ඕනෑම දෙයකට ලොවේ පවත්නා හැම දෙයකම ඉතිහාසය අනාවරණය කරගත හැකි බව ඔහු දැන උන්නේය. යමෙකුට පොතකින් කවර හෝ පිටුවක් පෙරලීමට පුළුවන. යමෙකුගේ අතක් බලා විස්තර කීමට, කාඩ්පතක් පෙරළීමට හෝ පක්ෂීන්ගේ පියාසැරිය නැරඹීමට පුළුවන. මෙසේ නිරීක්ෂණයට ලක් වෙන්නා වූ දෙය කවරක් වුවද යමෙකුට එම මොහොත හා තම අත්දැකීම් අතර වන සබඳතාවක්

එහා හඳුනාගත හැකිවෙනු ඇත්තේය. සත්‍ය වශයෙන්ම මෙම කවර වූ හෝ දෙයක් කොහෙත්ම කිසිවක් අනාවරණය කරනවා නම් නොවේ. තමා වටා සිදුවෙමින් පවත්නා දෙය දකිනා මිනිසුන් හට, විශ්වාත්මය කරා විනිවිද යා හැකි මගක් සොයා ගැනීමට ඉඩ ලැබෙනවා පමණි.

සිය ජීවිතය ඉතා පහසුවෙන් ගෙන ගියා වූ එහෙයින්ම විශ්වාත්මය තුළට විනිවිද යාමට හැකියාව ලැබූ පුද්ගලයෝ බොහෝ ගණනක් කාන්තාරය තුළ විසුවෝය. ඔවුන් අනාගත වක්තෘන් ලෙස හඳුන්වනු ලැබූ අතර කාන්තාවන් හා වැඩිහිටියන් ඔවුන් වෙත දැක්වූවේ ගෞරව සම්ප්‍රයුක්ත බියකි. ගෝත්‍රික මිනිස්සු පවා ඔවුන් වෙතින් උපදෙස් ගැනීමට නොයාමට ප්‍රවේශම් වූවේ යුද්ධයකදී මිය යාමේ ඉරණම දරා ඉන්නවුන් පිළිබඳව කල් තියා දැන ගැනීම එහි සාර්ථකත්වයට අහිතකර අයුරින් බලපානා බැවිනි. ගෝත්‍රිකයෝ යුද කාමයට හා යුද්ධයේ ප්‍රතිඵලය කුමක්දැයි කල් තියා නොදැන සිටීම නිසා අත් විඳින්නා වූ ත්‍රාසයට හුරු පුරුදුව සිටියෝය. අනාගතය දැනටමත් අල්ලා විසින් ලියනු ලැබ ඇත්තේය. එසේම ඔහු ලියා ඇත්තේ කවරක්ද ඒ මිනිසාගේ යහපත උදෙසාමය. එහෙයින් ගෝත්‍රිකයන් ජීවත් වූවේ පවත්නා මොහොත උදෙසාම පමණි. මක් නිසාද යත්, එම පවත්නා නිමේෂය පුදුමයන්ගෙන් පිරී පවතින හෙයිනි. එසේම සතුරාගේ අසිපත ඇත්තේ කොහිද, ඔහුගේ අසු ඇත්තේ කොහිද, ජීවිතය බේරා ගැනීමට නම් ඊළඟට යමකු විසින් හෙලනු ලැබිය යුත්තා වූ පහර කුමක්ද යනාදී බොහෝ දේවල් පිළිබඳව ඔවුහු දැන සිටිය යුතු වන්නෝය. ඉදින්, සටන්කාමියෙකු නොවූ හෙයින් ඔටුවන් දක්කන්නා අනාගත වක්තෘන්ගෙන් උපදෙස් පතා සිටියේය. මෙම අනාගත වක්තෘන්ගෙන් බොහෝ දෙනෙකු විසින් පවසන ලද දෙය සත්‍යම වූ නමුත් ඉන් සමහර දෙනෙකු විසින්

පවසන ලද දෑ බොරුව ගිය අවස්ථාද තිබුණි. මෙසේ එක්තරා දිනකදී, ඔටුවන් දක්කන්නා විසින් සොයා ගන්නා ලද වියපත්ම අනාගත වක්තෘවරයා, (එසේම වැඩියෙන්ම බය පක්ෂපාතකම් දක්විය යුතු වූ) ඔටුවන් දක්කන්නා එතරම් අනාගතය ගැන උනන්දු සහගත වන්නේ ඇයිද කියා අසා සිටියේය.

"හොඳයි... ඒ ඇයි කියල කිව්වොත්, මටත් යමක් කමක් කර කියා ගන්න පුළුවන් හින්දයි." ඔහු එසේ පිළිතුරු දුන්නේය. "අනික එතකොට මට පුළුවනි, සිද්ධ වෙනවා දකින්න මං අකමැති දේවල් වෙනස් කරන්නත්."

"ඒත් එතකොට ඒ දේවල් ඔබේ අනාගතේ කොටස් බවට පත්වීම වැලකෙනවා." අනාගත වක්තෘ එවිට කීය.

"හොඳයි, සමහර විට මට අනාගතය ගැන දැනගන්න ඕන වෙලා තියෙන්නෙ, එහෙම දැන ගත්තම එළඹෙන දේවල් වලට කල් තියා සූදානම් වෙන්න මට පුළුවන් වෙන නිසා වෙන්නැති..."

"ඉතිං එළඹෙන්නෙ හොඳ දේවල් නම් ඒවා බොහොම ප්‍රිය උපදවන පුදුමයන් බවට පත් වේවි." අනාගත වක්තෘ පැවසුවේය. "ඒත් ඒවා නරක දේවල් නම්, කල් තියා දැනගත්තම ඒවා සිද්ධ වෙන්නත් කලින් ඉඳලම ඔබ බොහොම බරපතල විදිහට විඳවාවි."

"අනාගතය ගැන දැනගන්න මට ඕනෑ මං මනුස්සයෙක් නිසා." ඔටුවන් දක්කන්නා එවිට අනාගත වක්තෘට එසේ පැවසීය. "අනික මිනිස්සු හැම වෙලාවෙම අනාගතය පදනම් කරගෙනයි ජීවත් වෙන්නෙ."

"මං ජීවත් වෙන්නෙ මිනිස්සුන්ට අනාගතේ ගැන පේන කියලයි." ඔහු කීය. "මං දන්නවා අතු රිකිලි වල විද්‍යාවත්. ඒ වගේම මං දන්නවා සියලුම දේවල් ලියැවු

ලැබ ඇත්තා වූ ස්ථානය කරා ළඟා වීමට ඒවා භාවිතා කරන ආකාරයත්. මට පුළුවනි අතීතය කියවන්න. කෙනෙකුට දැනටමත් අමතක වෙලා තියෙන දේවල් මතුකර ගන්න. ඒ වගේම මෙහි වර්තමානයේ පවත්නා නිමිති මොනවද කියල හොඳින් වටහා ගන්න.

"මිනිස්සු මගේ උපදෙස් පතා ආවම මං ඔවුනට අනාගතේ ගැන පේන කියනවා නෙවෙයි. අනාගතය ගැන අනුමාන කරනවා විතරයි. අනාගතය අයිති දෙවියන් වහන්සේටයි. සුවිශේෂී තත්ත්වයක් යටතේ එය අනාවරණය කරන්න පුළුවන් උන්වහන්සේට විතරමයි. මං කොහොමද අනාගතය ගැන අනුමාන කරන්නෙ? වෙන කෙහොමවත් නෙවෙයි. වර්තමානයේ තියෙන නිමිති මත පිහිටලයි. රහස තියෙන්නෙ වර්තමානයෙයි. ඔයා වර්තමානය ගැන අවධානය යොමු කරනව නම්, ඔයාට ඒ මත තම දියුණුව ගොඩ නගා ගන්න පුළුවනි. ඒ වගේම ඔයා වර්තමානය ගොඩ නගා ගන්නවා කියන්නෙ පසුව පැමිණෙන්න තියෙන දේවල් පවා වඩා යහපත් බවට පෙරල ගන්නවා කියන එකයි. ඒ නිසා අනාගතය ගැන අමතක කරල දාන්න. දෙවියන් වහන්සේගේ ඉගැන්වීම්, උන්වහන්සේ තම දරුවන්ට ආදරය දක්වූවාය කියන විශ්වාසය යන මේ දේවල් අනුව යමින් දවස් ගෙවන්න. එතකොට එළඹෙන හැම දවසක්ම, එයත් සමඟින් සදාතනිකත්වය රැගෙන ඒවි."

එවිට, දෙවියන් වහන්සේ තමාට අනාගතය දැකීම සඳහා ඉඩ ලබාදෙනු ඇත්තේ කවර වාතාවරණයක් යටතේ දැයි ඔටුවන් දක්කන්නා විමසා සිටියේය.

"උන්වහන්සේ එය, එනම් අනාගතය අනාවරණය කර ගන්නා විට පමණි. අනික උන්වහන්සේ විතරමයි අනාගතය නියම විදිහට අනාවරණය කර ගන්නෙත්. හැබැයි උන්වහන්සේ ඒ විදිහට අනාගතය දෙස බලන්නෙ එකම

එක හේතුවකදී පමණයි. ලියා තිබෙන්නා වූ අනාගතයක් වෙනස් කළ යුතු වෙන්නා වූ අවස්ථාවකදී පමණයි."

දෙවියන් වහන්සේ මේ කොලුවාට අනාගතේ කොටසක් පෙන්නල දීල තියෙනවා යි ඔටුවන් දක්කන්නා කල්පනා කළේය. "ඒ කොලුවා උන්වහන්සේගේ උපකරණයක් වශයෙන් සේවය කරනවා දකින්න එතුමාට උවමනා කරල තියෙන නිසාද?"

"ඔයා ගිහිල්ල ගෝත්‍රික ප්‍රධානීන්ට කතා කරන්න ඕනෑ." ඔටුවන් දක්කන්නා කොලුවාට කීවේය. "ගිහිල්ල ඔයා ඒ අයට මඟ එමින් සිටින හමුදාව ගැන කියන්න."

"අපොයි, ඒ ගොල්ලො මාව විහිලුවට ගනීවිනෙ."

"ඒ අය කාන්තාරයේ පුත්‍රයෝ. ඒ වගේ අය නිමිති එක්ක කරන ගණුදෙනු වලට හුරුවෙලා ඉන්නෙ."

"ඉතිං ඒකත් එහෙමනං දැනටමත් ඒ ගොල්ල මේ ගැන දන්නවා ඇති."

"මේ මොහොතෙදී ඔවුන් ඒ ගැන තකන්නේ නෑ. ඔවුන් විශ්වාස කරන්නෙ, තමුන් දැනගත යුතුව තිබෙනවාය කියා අල්ලා දෙවියන් වහන්සෙ අදහස් කරන යමක් තියෙනව නං, ඔවුනට ඒ ගැන යමකු කියාවිය කියලයි. ඒ වගේ දේවල් මීට කලියෙන් බොහෝ වතාවල සිද්ධ වෙලා තියෙනවා. හැබැයි මේ වතාවෙදී නම් එය පවසන්නා වෙන කවුරුවත් නෙවෙයි, ඔයා."

කොලුවා ෆාතිමා ගැන කල්පනා කළේය. අනතුරුව ඔහු ගෝත්‍රික ප්‍රධානීන් හමුවීම සඳහා යාමට තීරණය කළේය.

* * *

ක්ෂේම භූමිය මධ්‍යයේම ඉදිකර තිබූ සුදු පැහැ විසල් කූඩාරම ඉදිරියේ හුන් රැකවලා වෙත කොලුවා කිට්ටු වුණේය.

"මට ප්‍රධානීන් හමුවෙන්න ඕනෑ. මං කාන්තාරයෙන් නිමිති දැනගෙනයි ඇවිල්ල ඉන්නෙ."

කිසිදු ප්‍රතිචාරයක් නොදක්වා රැකවලා කූඩාරමට ඇතුල් වී ටික වේලාවක් එහි රැඳුණේය. ඔහු යළි පිටත පැමිණියේ රනින් සහ ධවල පිළියෙන් සැරසුණ තරුණ අරාබියෙක් සමඟිනි. කොලුවා එවිට එම තරුණ අරාබියාට තමා දුටු දෙය පැවසූ අතර කොලුවාට එහි රැඳී ඉන්නා ලෙස පවසා ඔහු යළි කූඩාරම තුලට වැදී අතුරුදන් වුණේය.

රාත්‍රිය උදා වුණි. සටන්කාමීහු කණ්ඩායමක් හා වෙළෙන්දෝ කූඩාරම තුළට ඇතුල් වී යළි පිටව ගියෝය. කඳවුරු ගිණිමැල එකින් එක නිවී ගියේ, ක්ෂේම භූමියද කාන්තාරය මෙන්ම නිහැඬියාව තුළ ගිලී ගියේය. ඉතිරි වූවේ විසල් කූඩාරම තුළ දැල්වෙමින් තිබුණා.වූ ආලෝකය පමණි. මේ මුළු කාලය තුළම කොලුවා නොනැවතී ෆාතිමා ගැන කල්පනා කළද ඔහුට ඇය සමඟ වූ අවසන් අල්ලාප සල්ලාපය වටහා ගැනීමට නම් ඒ වනතුරුත් නොහැකි වුණි.

අන්තිමේදී, පැය ගණනක් බලා සිටි පසුව, රැකවලා කොලුවා කූඩාරම තුළට කැඳවීය. කූඩාරම තුළ දුටු ඔහු විශ්මයට පත් වුණි. මෙවන් දෙයක්, එනම් මෙවැනි කූඩාරමක් කාන්තාරය මධ්‍යයේ තිබේදැයි කියා ඔහුට කිසිම දවසක සිහිනෙන්වත් සිතා ගන්නට බැරිව තිබුණි. කිසිම දිනෙක

ඔහුගේ පා පහස නොලද තරම් ලස්සන පලස් වලින් බිම ආවරණය වී තිබුන අතර කූඩාරම මැද, මුදුනේම රතින් නිමවන ලද පොකුරු පහන් එල්ලා තිබුණි. ඒ හැම පහනකම දල්වන ලද ඉටිපන්දම බැගින් වී. කූඩාරමේ පසු පසට වෙන්නට, විල්ලුද රෙදි-පිළියෙන් සරසන ලද මෙට්ට මත ගෝත්‍රික ප්‍රධානීහු අඩ කවයක හැඩයට ඉඳගෙන උන්නෝය. තේ හා විවිධ කුළු බඩු තබා තිබූ රිදී බන්දේසි රැගත් සේවකයෝ කූඩාරමට ඇතුල් වී යළි පිට වූවෝය. තවත් සේවකයෝ පිරිසක් එහි තිබූ හූකාවන් හි ගින්දර දිගටම දල්වෙන බවට වග බලා ගත්තෝය. පරිසරය ඇළලී තිබුණේ නිරතුරු හමා ගිය දුම් රැළිවල මියුරු සුවඳිනි.

එහි ප්‍රධානීන් අට දෙනෙකුම සිටි නමුත් ඉන් වඩාත්ම වැදගත් පුද්ගලයා කවුදැයි කොලුවා ට එක් බැල්මකින් ම වහා හඳුනාගත හැකි වුණි. ඒ වනාහී ධවල පිළියෙන් හා රතින් සැරසී අඩ කවයේ හරි මැද හිඳගෙන හුන් අරාබි ජාතිකයෙකි. ඔහු ගේ එක් පසෙකින් හිඳගෙන උන්නේ මීට පෙර වතාවේ දී ළමයා කතා කර තිබූ තුරුණු අරාබියායි.

"නිමිති ගැන කතා කරන මේ අමුත්තා කවුද?" කොලුවා දෙස බලමින් එක් ප්‍රධානියෙක් ප්‍රශ්න කළේය.

"ඒ මම." කොලුවා පිළිතුරු දුනි. අනතුරුව ඔහු තමා දුටු දේ ඔවුනට පවසා සිටියේය.

"අපි මේ කාන්තාරෙට වෙලා පරම්පරා ගණනාවක් තිස්සෙ ජීවත් වෙන බව දන දනත් කාන්තාරෙ ඇයි මේ වගේ දේවල් පිටින් ආපු අමුත්තෙකුටම අනාවරණය කරන්නෙ?" තවත් ප්‍රධානියෙක් ඇසීය.

"මගේ ඇස් තාමත් කාන්තාරෙට හුරු වෙලා නැති හන්දයි." කොලුවා කීය. "කාන්තාරෙට හුරු වෙච්ච් ඇස් නොදකින දේවල් දකින්න මට පුළුවනි."

"ඒ වගේම තමයි, මම විශ්වාත්මය ගැන දන්න නිසාත් මට පුළුවනි," යි කොලුවා ඒ අතර කල්පනා කළේය.

"ක්ෂේම භූමිය කියන්නේ සාමකාමී තැනක්. කවුරුවත් ක්ෂේම භූමියට පහර දෙන්නේ නෑ." තෙවෙනියට කතා කළ ප්‍රධානියෙක් කීවේය.

"දැකපු දේ ඔබට කියන්න විතරයි මට පුළුවන්. ඉතිං මං කියන දේ විශ්වාස කරන්නෙ නැත්නම් ඔබට පුළුවනි ඒ පිළිබඳව මොකුත්ම නොකර ඉන්න."

මෙවිට මිනිස්සු උනන්දු සහගත සාකච්ඡාවක් පටන් ගත්තෝය. කොලුවාට තේරුම් ගත නොහැකි වූ අරාබියානු භාෂාවකට සාකච්ඡාව මාරු වූයෙන් ඔහු එතනින් පිටවීමට උත්සාහ කරද්දී, රැකවලා ඔහුට එහි නැවතී හිඳින මෙන් දැන්වීය. කොලුවාට බියක් දැනෙන්නට පටන්ගෙන තිබුණි. නිමිති වලින් ඔහුට පැවසුනේ යම් දෙයක් වැරදී ගොස් ඇති බවයි. කාන්තාරයේදී තමා දුටු දෑ ඔටුවන් බලා ගන්නාට පැවසීම ගැන දැන් ඔහු පසුතැවිලි වුණි.

හදිසියේම අඩ කවයේ මැද හිඳ සිට වැඩිහිටි ප්‍රධානියාගේ මුවෙහි පේන නොපෙනෙනා තරමේ සිහින් සිනහවක් ඇඳුන විට කොලුවාට තරමක සහනයක් දැනෙන්නට විය. සංවාදයට කොහොත්ම මැදිහත් නොවුන ඔහු මේ වන තුරුත් සත්‍ය වශයෙන්ම එකම වදනක් හෝ කතා කර තිබුණේ නැති. එහෙත් දැනටමත් විශ්ව භාෂාව බොහෝ සේ හුරු පුරුදුව උන් කොලුවාට කූඩාරම තුළ පවතින සාමයට ලැදි හැඟීමේ කම්පනය දැනෙන්නට පටන් ගති. සහජ බුද්ධියෙන් දැන් පැවසුනේ මෙසේ පැමිණීමට තීරණය කිරීමෙන් ඔහු නිවැරදිව කටයුතු කළ බවයි.

සාකච්ඡාව නිමා වුණි. වැඩිමහල්ලා කියන දේ අසා සිටිනා විට සුළු මොහොතක නිහැඬියාවක් ප්‍රධානීන් අතර

පැවතුණි. අනතුරුව ඔහු කොලුවා වෙත හැරුණි. මේ වතාවේ නම් ඔහුගේ පෙනුමේ වූයේ බෙහෙවින් සීතල, දුරස් බවකි.

"මීට අවුරුදු දෙදහසකට කලියෙන් බොහෝ දුර රටක හිටපු, හීන විශ්වාස කරපු මිනිහෙකුව බිංගේක දාලා පස්සෙ වහල්කමට විකුණුවා." දූන්, කොලුවාටද තේරෙන අරාබි වහරින් මහලු මිනිසා කතාව පටන් ගති. "අපේ වෙළෙන්දො ඒ මිනිහව මිලට අරං ඊජිප්තුවට අරන් ගියා. හීන විශ්වාස කරන ඕනෑම කෙනෙක් ඒවා තේරුම් කරන්නත් දන්න බව අපි හැමෝම දන්නවා."

වැඩිහිටියා දිගටම කතා කරගෙන ගියේය. "පාරාවෝ රජ්ජුරුවෝ මහත හා කෙට්ටු බැටළු රැලක් හීනෙන් දැකපු වෙලාවේ මං කලින් කියාපු අර මිනිහා ඊජිප්තුව සාගතයකින් ගලවා ගත්තා. එයාගෙ නම තමයි ජෝශප්. එයාත් ඔබ වාගේම ආගන්තුක දේශයක ආගන්තුකයෙක්. ඒ වගේම සමහර විට එතකොට ඔහු ඉන්න ඇත්තෙත් ඔබේම වයසෙ."

ඔහු කතාව මදකට නැවතීය. ඔහුගේ දෑස් තවමත් මිත්‍රශීලී බවින් තොරය.

"අපි හැම වෙලාවෙම සම්ප්‍රදාය නිරීක්ෂණය කරනවා. සම්ප්‍රදාය විසින් ඊජිප්තුව සාගතයෙන් ගලවා ගත්තා වගේම ඔවුන්ව ලෝකයේ ධනවත්ම පුද්ගලයො බවටත් පත් කරනු ලැබුවා. මිනිසුන්ට කාන්තාරය තරණය කරන විදිහ වගේම ඔවුන්ගේ දරුවන් විවාහ විය යුත්තේ කොහොමද කියන එකත් උගන්වන්නෙ සම්ප්‍රදාය විසින්. කාන්තාරය කියන්නෙ ක්ෂේම භූමිය යනු සාමකාමී ප්‍රදේශයකි කියලයි. ඒ දෙපැත්තටම ක්ෂේම භූමියක් තියෙනවා වගේම දෙපැත්තටම පීඩා කරන්නත් පුළුවන් නිසයි."

වියපත් මිනිසා කතා කරගෙන යද්දී අන් කිසිවෙකුත් වදනකින් හෝ බාධා කළේ නැති.

අන්තිමේදී මහල්ලා සංඥාවක් නිකුත් කළ විට සියල්ලෝම නැගිට ගත්තෝය. රැස්වීම අවසන්ය. භූකාවක් නිමා දමනු ලැබිණි. රැකවල්ලු සීරුවෙන් සිට ගත්තෝය. කොලුවාද පිටවෙන්නට සූදානම් වූ නමුත් මහලු මිනිසා යළිත් කතා කළේය.

"ක්ෂේම භූමියෙ ඉන්න කිසිවෙකුත් අවි නොදැරිය යුතුය කියල තියෙන ගිවිසුම හෙට අපි අහෝසි කරනවා. මුළු දවස පුරාම අපි අපේ සතුරන් ලුහු බැඳගෙන යනවා. ඉර බැස්සම, ආයෙත් ඔක්කොම මිනිස්සු තමුන්ගෙ ආයුධ මට භාර දේවි. අපෙන් මැරුම් කන හැම සතුරන් දහ දෙනෙකුටම තෑගි වශයෙන් ඔබට රත්තරන් කැබැල්ල බැගින් ලැබේවි."

"හැබැයි යුද්දෙට නොයන කිසිම කෙනෙකුට තම ආයුධ එළියට ගන්න බෑ. ආයුධත් හරියට මේ කාන්තාරෙ වගේම චපලයි. බැරි වෙලාවත් පාවිච්චි නොකර තිබ්බොත් හෙම ඊළඟ වතාවෙදී ඒවා වැඩ නොකරන්න ඉඩ තියෙනවා. අඩු ගානෙ මේ ආයුධ වලින් එකක්වත් හෙට දවස ගෙවිල අහවර වෙන්න කලියෙන් පාවිච්චි කරල නොතිබ්බොත් හෙම, එයින් එකක් සහසුද්දෙන්ම ඔබ වෙනුවෙන් පාවිච්චි වේවි."

අන්තිමේදී කොලුවා කූඩාරමෙන් පිටව එන විට කාන්තාරය ආලෝකමත් වෙමින් තිබුණේ පායා නැග විත් තිබූ පුර සඳේ රැස් දහරින් පමණි. ඔහු සිටියේ තම කූඩාරමට ළං වීමට මිනිත්තු විස්සක කාලයක් ගත කළ යුතු වන තරමේ දුරකිනි. එහෙයින් ඔහු ගමන පටන් ගති.

සිදු වූ දේවල් නිසා කොලුවා උන්නේ බෙහෙවින් බියපත්වය. කෙසේ හෝ ඔහු විශ්වාත්මය කරා ළඟා වීමට සමත්ව සිටි අතර දැන් ඊට වන්දිය ලෙස උරගා බැලෙන්නේ ඔහුගේ ජීවිතයයි. ඒ වනාහී බියකරු ඔට්ටුවකි. එහෙත් හඹා

යාමේ අදහසින් තම බැටළු පට්ටිය විකුණා දැමූ දිනයේ සිට ඔහු අල්ලා තිබුණේ අනතුරුදායක ඔට්ටුය. අනෙක් අතට අර ඔටුවන් දක්කන්නා කීවාක් මෙන් හෙට දවසේදී මිය යාම අන් කවර දිනෙක හෝ මිය යාමට වඩා නරක් විය නොහැක. හැම දවසක්ම පවතිනුයේ ජීවත්වීම හෝ යමෙකු ගේ මෙලොවින් සමුගැනීම සනිටුහන් කිරීමටය. එසේම හැම දේම රඳා පවතින්නේ එකම එක වචනයක් මතය.

"මක්තුබ්!"

නිහැඬියාවේ ගැලී ගමන් කරනා කොලුවා තුළ කිසිදු පසුතැවිල්ලක් නොවී. ඉදින්, හෙට ඔහුට මිය යාමට සිදු වන්නේ නම් ඒ දෙවියන් වහන්සේට අනාගතය වෙනස් කිරීමේ අපේක්ෂාවක් නොමැති නිසා වන්නේය. කෙසේ වෙතත්, මිය යතත්, ඔහුට එසේ මිය යාමට සිදුවනු ඇත්තේ අඩු ගණනේ සමුදුරු සන්ධියක් තරණය කර, පලිඟු සාප්පුවක වැඩ කර, කාන්තාරයේ රජයන නිහැඬියාව හඳුනාගෙන පමණක් නොව පාතිමා ගේ දෑසද හඳුනාගත් පසුවය. කලකට පෙර තම නිවෙස හැරදා ආ දින පටන් ඔහු තම ජීවිතයේ හැම දවසක්ම ගෙවා තිබුණේ ඔහුට රිසි අයුරිනි. ඉදින්, හෙට ඔහු මිය ගියත් එසේ වන්නේද, අනෙක් කවර හෝ එඬේරෙකුට වඩා බොහෝ දෑ දැක බලාගත් මිනිසකු පරිද්දෙනි. එහෙත් ඔහු ඒ ගැන ආඩම්බර වූයේය.

හදිසියේම ඔහුට ගුගුරා හැලෙන ශබ්දයක් ඇසුණි. ජීවිතයේ කිසිම දිනෙක දැන නොසිටි සැඩ සුළඟක් විසින් ඔහුව බිම හෙළනු ලැබිණි. ප්‍රචණ්ඩ සුළියක් සේ සුළඟ කරකැවෙමින් හමන්නට පටන් ගෙන ඉන් එතෙක් අහසේ බබළමින් තිබූ චන්ද්‍රයා සඟවාලනු ලැබුණි. ඉදිරියේ, ඔහුට ඉහළින්, සිය පස්සා ගාත්වලින් නැගිට ගත් යෝධ ධවල අශ්වයෙක් බියකරු අන්දමින් කෑ ගාමින් උන්නේය.

දෑස් අඳුරු කරවන සුළු දූලි වලාව මඳක් පහව ගිය පසු දුටු දෙයින් කොලුවා බිරාන්ත වී ගියේය. මුළුමනින්ම කළු පිළියෙන් සැරසී ගත් අසරුවෙකු ධවල අසු අරා උන් අතර ඔහුගේ වම් උරය මත උකුස්සෙක් වසා හුන්නේය. තලප්පාවක් හිස වටා බැඳ සිටි ඔහුගේ දෑස් හැරෙන්නට මුළු මුහුණම කළු පැහැ සළුවකින් වැසී තිබුණි. කාන්තාරයේ සිට ආ පණිවිඩකරුවෙකු මෙන් පෙනුනද ඔහුගේ රූපාකාරය හුදෙක් පණිවිඩකරුවෙකුට වඩා මහා බලවත්කමක් විදහා දැක්වීය.

මේ ආගන්තුක අසරුවා සිය සෑදලයේ අමුණා තිබූ කොපුවකින් නැමී ගිය විසල් අසිපතක් එළියට ඇද ගත්තේය. සඳ කිරණට අසු වූ එහි වානේ තලය දිස්න දුන්නේය.

"උකුස්සන්ගේ පියාසැරියේ අරුත තේරුම් කිරීමට තරම් නිර්භීත වූ මිනිසා කවරෙක්ද?" ඔහු මොන තරම හයියෙන් මොර දුන්නේද යත් අල්-ෆෙයොම් හි ගණනින් පනස් දහසක් වූ තල් ගස් අතර එම හඬ රැව් පිළිරැව් දෙන්නාක් මෙන් වී.

"එවැන්නක් කිරීමට තරම් නිර්භීත වූවේ අන් කිසිවෙක් නොව මේ මමයි." කොලුවා පිළිතුරු දුන්නේය. එවේලේ ඔහුගේ මතකයට නැගුණේ අසු පිට නැග උගේ කුරයෙන් මිත්‍යා දෘෂ්ටිකයින් පාගා මැඩගෙන විකුම් පාන සන්තියාගේ මැටමොරොස් ගේ පිළිරුවයි. මේ මොහොතේ එම භූමිකාව කණපිට හැරී තිබුණද මේ මිනිසාත් පෙනුනේ හරියටම ඒ වාගේමය.

"එවැන්නක් කිරීමට තරම් නිර්භීත වූවේ අන් කිසිවෙක් නොව මේ මමයි." යළිත් වරක් එයම කියමින් කොලුවා අසිපත් පහර භාර ගැනීමට සූදානමින් සිය හිස පහතට නැමුවේය.

"විශ්වාත්මය සිසාරා බැලීමට මට හැකි වූ නිසාවෙන්, කෙසේ වුවත් බොහෝ ජීවිත සුරැකේවි."

එහෙත් අසිපත පහත් වුණේ නැති. ඒ වෙනුවට අමුත්තා කළේ අසිපත් තුඩ කොලුවාගේ නළල ස්පර්ශ වෙන තුරු සෙමින් සෙමින් එය පහත් කිරීමයි. ඉන් කොලුවාගේ නළලින් ලේ බිඳුවක් නික්මුණි.

කොලුවා මෙන්ම අසරුවාද මුළුමනින්ම අකර්මණ්‍ය වී ගොසිනි. කොලුවාට නම් එතැනින් පළා යාමට වත් කල්පනා වුණේ නැති. ඔහුගේ හද පත්ලෙන් කිසියම් සන්තුෂ්ටියක් පිළිබඳ හැඟීමක් මතු වෙන්නට පටන් ගත්තේය. ඉරණම සොයා යන මේ චාරිකාවේදී දැන් ඔහු මියෙන්නට යයි. ඉදින් ෆාතිමා ගේ ඉරණමත් එයම වන්නේය.

කෙසේ වෙතත් අන්තිමේදී නිමිති වලින් පැවසුන දෑ සත්‍ය බවට හැරිලාය. දැන් මෙහි, මෙතන ඔහු තම සතුරාට මුහුණ ලා සිටියි. එහෙත් මරණය පිළිබඳව තැවීමේ අවශ්‍යතාවක් නැති. විශ්වාත්මය දැන් ඔහුගේ ආගමනය බලාපොරොත්තුවෙන් හිඳියි. එමෙන්ම ඉතා ඉක්මනින් ඔහු එහිම කොටසක් බවට පත් වන්නේය. තවද උදාවෙන හෙට දවසේ දී ඔහුගේ සතුරාද විශ්වාත්මයේම කොටසක් බවට පත් වෙනු ඇත.

අමුත්තා දිගටම සිය අසිපත් තුඩ කොලුවාගේ නළලට තද කරගත් වනම ඉදිමින් යළිත් ප්‍රශ්න කළේය. "නුඹ පක්ෂීන්ගේ පියාසැරිය අර්ථ නිරූපනය කරන්න උත්සාහ කළේ ඇයි?"

"මං කියෙව්වේ කුරුල්ලන්ට මට කීමට වුවමනා කළ දේ පමණයි. උන්ට ඕන වුණේ ක්ෂේම භූමිය ආරක්ෂා කරන්න. හෙට නුඹලා සියලු දෙනාම මිය යාවි. ඒ නුඹලා සතු මුළු හමුදාවටමත් වඩා වැඩි සංඛ්‍යාවක් ක්ෂේම භූමියේ ඉන්නා නිසා."

තවමත් අසිපත පෙර තිබූ තැනමය. "අල්ලා දෙවියන් වහන්සේගේ කැමැත්ත වෙනස් කිරීමට නුඹ කවරෙක්ද?"

"අල්ලා දෙවියන් වහන්සේ තමයි හමුදාවන් නිර්මාණය කළේ. ඒ වගේම තමයි, උකුස්සන් මැව්වෙත් උන්වහන්සේමයි. ඉතිං උන්වහන්සේ මට පක්ෂීන්ගේ භාෂාවද ඉගැන්නුවා. මෙලොව පවතින හැම දේම ලියනු ලැබ ඇත්තේ එකම හස්තයකිනුයි." ඔටුවන් දක්කන්නාගේ වචන සිහිපත් කළ කොලුවා කීවේය.

මෙවිට අමුත්තා අසිපත ඉවතට ගත් හෙයින් කොලුවාට මහත් සහනයක් දැනුණි. එහෙත් එවිට ද ඔහුට පලා යාමේ හැකියාවක් නොවී.

"නුඹේ ඔය පේන කියවිල්ල ගැන ප්‍රවේශම් වෙයං." අමුත්තා කීවේය. "යමක් ලියා ඇති විටක එය වෙනස් කිරීමට කිසිම ක්‍රමයක් නෑ."

"මං දැක්ක එකම දේ තමයි හමුදාව." කොලුවා කීවේය. "යුද්ධෙ ප්‍රතිඵල මොනවද කියන්න මම දන්නෙ නෑ."

පෙනුනේ එකී පිළිතුරින් අමුත්තා සෑහීමට පත් වූ බවයි. එහෙත් තවමත් ඔහු උන්නේ අසිපත අත දරා ගත් වනමය. "එතකොට ආගන්තුක දේශයකට වෙලා ආගන්තුකයෙක් කරන්නෙ මොනවද?"

"මම මගේ ඉරණම ලුහුබැඳ ගෙනයි යන්නෙ. ඒක ඔබට වටහා ගන්න හැකි දෙයක් නෙවෙයි."

අමුත්තා එවිට අසිපත කොපුවේ දමා ගත්තෙන් කොලුවාට පූර්ණ සහනයක් දැනුණි.

"මට නුඹේ ධෛර්යය පරීක්ෂා කරන්න සිද්ධ වුණා." අමුත්තා කීවේය. "මොකද විශ්ව භාෂාව අවබෝධ කර

ගැනීමේ උත්සාහයේදී අත්‍යවශ්‍යම ගුණාංගය වන්නේ ධෛර්යයයි."

ඉන් කොලුවා පුදුමයට පත් වීය. අමුත්තා කතා කරමින් සිටියේ ඉතා සුළු පිරිසක් පමණක් දැන සිටියා වූ දේවල්ය.

"මේ තරම් දුරක් ආවට පස්සෙ, දැන් ඉතින් නුඹ මොන විදිහකින්වත් අධෛර්යමත් නොවිය යුතුයි." අසරුවා දිගටම කියාගෙන ගියේය. "නුඹ මේ කාන්තාරයට ආදරය කළ යුතු නමුත් කොයිම වෙලාවකවත් එය කෙරේ මුළුමනින්ම විශ්වාසය නොතැබිය යුතුයි. ඒ කාන්තාරය හැම මිනිහෙකුවම පරීක්ෂාවට ලක් කරන නිසයි. කාන්තාරය කෙනෙකුගේ හැම පියවරක් ගානෙම අභියෝග කරනවා. ඒ වගේම තමයි ගමනෙ අතර මඟදි වල්මත් වෙන අයව මරල දානවා."

අසරුවා කී දෙයින් කොලුවාට සිහිපත් වූයේ මහලු රජු පිළිබඳවය. "ඉතිං සටන් කරුවො මෙහෙට කඩා පැන්නොත්, ඒ වගේම ඉර බහින කොටත් නුඹේ ඔලුව ඔය උරහිසට හයිවෙලා තිබුණොත් ඇවිත් මාව මුණ ගැහියං." අමුත්තා කීවේය.

වරකදී අසිපත ලෙල දුන් අතෙහි දැන් වූයේ කසයයි. දූවිලි වලාවක් අවුස්සමින් අශ්වයා යළිත් දෙපයින් සිට ගති.

"කොහෙද ඔබ ජීවත් වෙන්නෙ?" අසරුවා පිටත්ව යන විට කොලුවා කෑ ගා ඇසීය.

කසය දැරූ අත දකුණු දිශාවට යොමු වුණි.

මෙසේ කොලුවා හට රස විද්‍යාඥයා හමු වී තිබුණේය.

* * *

ඊළඟ උදෑසන ගණනින් දෙදහසකට අධික වූ සන්නද්ධ මිනිස් සේනාවක් අල්ෆෙයොම් හි වැඩුන තල්ගස් යාය පුරා විසිරී ගියෝය. සූර්යයා සිය ගමන් මඟෙහි උච්ඡස්ථානයට ළඟා වෙන්නට පෙර ඈත ක්ෂිතිජය මතින් ගෝත්‍රික සටන්කරුවන් පන්සියයක් දිස්වෙන්නට පටන් ගැනුණි. අසුන් පිට නැගී හමුදාව උතුරු දෙසින් ක්ෂේම භූමිය තුළට කඩා වැදුන අතර ඔවුන් දෙස බලනා විට පෙනුනේ හුදෙක් සාමකාමී දූත ගමනක යෙදෙනා පිරිසක් මෙනි. එහෙත් ඔවුන් සියල්ලන්ම උන්නේ සිය සාටකයන් තුළ සඟවාගත් ආයුධ වලින් සන්නද්ධවය. අල්-ෆොයොම් මධ්‍යයේ ඉදිකර තිබූ ධවල පැහැති කූඩාරම වෙත ළඟා වූ විට ඔවුහු එතෙක් සඟවාගෙන හුන් කෙටි කඩු හා රයිෆල් එළියට ඇද ගත්තෝය. අනතුරුව ඔවුහු හිස්ව තිබූ කූඩාරමට ප්‍රහාරයක් එල්ල කළෝය.

ක්ෂේම භූමියේ වැසියෝ කාන්තාරය දෙසින් පැමිණි අශ්වාරෝහකයන්ව වට කළ අතර පැය භාගයක් ගත වෙද්දී ඔවුන්ගෙන් එක් අයෙකු හැර අනෙක් සියලුම ආක්‍රමණිකයන් උන්නේ මරු තුරුළේය. තල් ගස් වදුලකට එහා පැත්තෙහි ළමයින් රඳවා තබන ලද හෙයින් ඔවුහු මේ සිදුවූ කිසිත් දුටුවේ නැති. කූඩාරම් තුළ රැඳී උන් කාන්තාවෝද සිය ස්වාමි පුරුෂයන්ගේ ආරක්ෂාව පතා යාඥා කරමින් උන් හෙයින් මේ කිසිදු දෙයක් නොදුටුවෝය. තැනින් තැන විසිර තිබූ මළ සිරුරු නොවෙන්න ක්ෂේම භූමිය පෙනෙනු ඇත්තේ සාමාන්‍ය දවසක පවතින පරිද්දෙන්මය.

දිවි රැකුණ එකම ගෝත්‍රිකයා වූයේ ආක්‍රමණික හමුදාවේ අණ දෙන්නාය. එම සැඳෑවේදී, පවතින සම්ප්‍රදාය කුමන හේතුවක් මත උල්ලංඝණය කළේ දැයි ඔහුගෙන් ප්‍රශ්න කළ ප්‍රධානීන් හමුවට ඔහු පමුණුවන ලදී. ආක්‍රමණික නායකයා ඊට පිළිතුරු දෙමින් කියා සිටියේ තම මිනිසුන් පා ගමනින් හා පිපාසයෙන් මිරිකී දින ගණනක යුද්ධයෙන්ද හෙම්බත්ව සිටි හෙයින් යළිත් යුද්ධයට එළඹීම සඳහා ශක්තිය ලබා ගැනීම පිණිස ක්ෂේම භූමිය අල්ලා ගැනීමට තීරණය කළ බවයි.

තමාටද එම ගෝත්‍රික මිනිසුන් පිළිබඳව කණගාටුවක් දැනෙන බව කියූ ප්‍රධානියා, කෙසේ වෙතත් සම්ප්‍රදාය සියල්ලටම වඩා උතුම් යැයි ප්‍රකාශ කර සිටියේය. ඒ අනුව ඔහු විසින් ආක්‍රමණික අණ දෙන්නාට ගරු සරු රහිත නීච මරණ දඬුවම නියම කරන ලදින් අසිපතින් ගෙල සිඳ හෝ රයිෆල් මූනිස්සමකින් මරණ දඬුවම ක්‍රියාත්මක කරනු වෙනුවට, මළ සිරුර කාන්තාර සුළඟට අසුව ඇඹරී ඇඹරී තිබෙන පරිද්දෙන් ඔහුව මැරුණ තල් ගසක එල්ලා දමනු ලැබිණ.

අනතුරුව කොලුවා කැඳවා සිටි ගෝත්‍රික ප්‍රධානියා රන් කැබලි පනහක් ඔහුට ත්‍යාග කර, යළිත් වරක් ඊජිප්තුවේ ජෝශප් පිළිබඳ පුවත පවසා, ක්ෂේම භූමියේ ඔවුනගේ අනුශාසකයා වන මෙන් ඔහුගෙන් ඉල්ලා සිටියේය.

* * *

හිරු බැස ගොස් තාරකා එබිකම් කරන්නට පටන් ගත් විට කොලුවා දකුණු දිශාව බලා ගමන් කරන්නට පටන් ගත්තේය. අන්තිමේදී එක් හුදෙකලා කූඩාරමක් ඔහුට දිස්

වූන අතර ඒ මොහොතේදී ඔහු පසුකර යමින් සිටි අරාබීහු පිරිසක් කොලුවාට ඒ භූතයන් ගැවසෙන ස්ථානයකැයි කීවෝය. එහෙත් කූඩාරම වෙත ගිය කොලුවා ඒ ඉදිරිපිට හිඳගෙන බලා සිටින්නට විය.

රස විද්‍යාඥයා කොලුවා අභිමුවට පැමිණියේ සඳත් මුදුන් වූ පසුවය. ඔහු පැමිණියේ මළ උකුස්සන් දෙදෙනෙකු සිය උර මත තබාගෙනය.

"මම මෙහේ." කොලුවා කතා කළේය.

"නුඹ මේ වෙලාවේ මෙතන ඉඳිය යුතු නෑ." රස විද්‍යාඥයා පිළිතුරු වශයෙන් කීවේය. "අනිත් අතට බලද්දී, නුඹව මේ මොහොතෙ මෙහාට අරං ආවෙ නුඹේ ඉරණම වත් ද?"

"ගෝත්‍රිකයන් අතර මහා යුද්ධයක් ඇවිලෙද්දී කාන්තාරය තරණය කරන්න බැරි වැඩක්. ඒ නිසා මං මෙහෙට ආවා."

අසු පිටින් බට රස විද්‍යාඥයා කොලුවාටද තමා සමඟින් කූඩාරමට ඇතුල් වෙන ලෙසට සන් කළේය. එම කූඩාරමද ක්ෂේම භූමිය මත පිහිටි අනෙක් කූඩාරම් හා හැමතින්ම පාහේ සමාන එකකි. රස විද්‍යාවේදී භාවිතා කරනු ලබන උදුන් හා අනිකුත් අඩුම කුඩුම දැකීමේ අපේක්ෂාවෙන් කොලුවා වට පිට බැලූ මුත් ඔහු දුටු දෙයක් නැති. එහි වූවේ ගොඩ ගසා තිබූ පොත් කීපයක්, ආහාර පිසීමට ගන්නා කුඩා උදුනක් හා කිසියම් ගුප්ත සටහන් සහිත පලස් පමණි.

"වාඩි වෙන්න. අපි මොනවා හරි ටිකක් බීලා මේ උකුස්සො දෙන්නා කමු." රස විද්‍යාඥයා කීවේය.

මේ නම් තමා ඊයේ දුටු උකුස්සන් දෙදෙනාම විය යුතු යයි සැක කළද කොලුවා කිසිත් කීවේ නැත. රස

විද්‍යාඥයා ගිණි දැල් වූ අතර එසැනින් කූඩාරම ප්‍රණීත සුවඳකින් පිරී යන්නට පටන් ගැනුණි. එය හූකා වලින් නික්මෙන සුවඳට වඩා හොඳය.

"ඔබට මාව දකින්න ඕන වුණේ මොන හේතුවක් නිසාද?" කොලුවා ඇසුවේය.

"නිමිති වල බලපෑම නිසා." රස විද්‍යාඥයා පිළිතුරු දුන්නේය. "නුඹ මග එන බවත් ඒ වගේම නුඹට මගේ උදව් අවශ්‍ය බවත් සුළඟ මට කිව්වා."

"ඒත් සුළඟින් කියාපු කෙනා මම නෙවෙයිනෙ. එයා තමයි අනිත් විදේශිකයා. අර ඉංග්‍රීසිකාරයා. ඔබ පිළිබඳව විපරම් කළෙත් එයා මිස මම නෙවෙයි."

"ඔහුට මීට පළමුවෙන් කරන්න වෙනත් වැඩ තියෙනවා. ඒත් ඔහු නියම පාරට වැටිලයි ඉන්නෙ. දැනටමත් ඔහු කාන්තාරය අවබෝධ කරගන්න උත්සාහය පටන් අරන් ඉවරයි."

"එතකොට මං ගැන මොකද?"

"යම් පුද්ගලයෙක් සත්‍ය වශයෙන්ම කිසියම් දෙයක් අපේක්ෂා කරන විට මුළු විශ්වයම ඔහුට, තම සිහිනය යතාර්ථයක් බවට පත් කර ගැනීමට උදව් කරන්න පෙළ ගැහෙනවා." අර මහලු රජුගේ වදන් ප්‍රතිරාව කරමින් රස විද්‍යාඥයාත් කීය. කොලුවාට සියල්ලම වැටහුණි. තම ඉරණම කරා යන ගමනට උදව් කිරීම සඳහා මෙහි තවත් මිනිසෙකු ඉදිරිපත්ව සිටී.

"එතකොට ඔබ මේ හදන්නෙ මට උපදෙස් දෙන්නද?"

"නෑ.. නෑ.. දැන ගන්න ඕනෑ දේවල් දැනටමත් නුඹ දන්නවා. මම මේ හදන්නෙ නුඹට තම නිධානය තියෙන දිශාව පෙන්නුම් කරන්න විතරයි."

"ඒත් එහෙ ගෝත්‍රික යුද්ධයක් ඇවිලෙනවානේ." කොලුවා යළිත් කීවේය.

"කාන්තාරෙ වෙන්නෙ මොනවද කියන්න මම දන්නවා."

"දැනටමත් මට මගෙ නිධානෙ හමුවෙලයි තියෙන්නෙ. මට දූන් ඔටුවෙක් ඉන්නවා. පළිඟු සාප්පුවෙන් හම්බ කරගත්ත සල්ලි තියෙනවා. ඒ වගේම තමයි මගේ ළඟ රත්තරං කෑලි පණහකුත් තියෙනවා. මගෙ රටට ගියාම මං ගජ පෝසතෙක්."

"ඒත් ඒ කිසිම දෙයක් පිරමීඩ වලින් ලැබිච්චා නෙවෙයි." රස විද්‍යාඥයා කීවේය.

"තව මට ෆාතිමා ත් ඉන්නවා. මං උරුම කර ගත්ත හැම දේටම වඩා වටින නිධානෙ තමයි ඈ."

"හැබැයි, නුඹට ඇය උරුම වුනෙත් පිරමීඩ වලින් නෙවෙයි."

ඔවුහු නිහඬවම අනුභවය පටන් ගත්තෝය. කිසියම් බෝතලයක් ගත් රස විද්‍යාඥයා එහි වූ රත් පැ දියරයක් ළමයා ගේ බඳුනට වත් කළේය. ඒ වූ කලි කොලුවා සිය ජීවිත කාලය පුරා රස විඳි ප්‍රණීතම වයින් වර්ගයයි.

"මෙහෙ වයින් තහනම් කරල නැද්ද?" කොලුවා ඇසීය.

"විස වෙන්නෙ මිනිස්සුන්ගෙ මුවෙන් ඇතුළට යන දේවල් නෙවෙයි." එවිට රස විද්‍යාඥයා කීවේය. "මුවෙන් පිටට ගලං එන දේවලුයි."

රස විද්‍යාඥයා තරමක් බියකරු පුද්ගලයෙකු වුවද වයින් පානය කරනා විට කොලුවාට සහනයක් දැනුණි. අහර කිස නිමවූ ඉක්බිති, කූඩාරමෙන් පිටට පැමිණි දෙදෙන තරු

කැටවල දීප්තිය මලානික කරමින් අහස අරා බැබලුන සඳ සෙවණෙහි හිඳ ගත්තෝය.

"බොන්න, හොඳට විනෝද වෙන්න." කොලුවාට සතුටක් දනෙමින් පවතින බැව් දුටු රස විද්‍යාඥයා කීවේය. "හෙට උදේට යුද්දෙට යන්න ලක ලෑස්ති වෙලා ඉන්න රණකාමියෙක් වගේ අද රෑ හොඳට විවේක ගන්න. මතක තියා ගන්න, නුඹේ හදවත කොහි රැඳෙව්වත් නුඹට උරුම වූ නිධානයක් සැබැවින්ම මිහිපිට පවතින්නේය. ඉදින් මෙතෙක් ආ මඟ දිගට නුඹ උගත් දෙයට සාධාරණයක් ඉෂ්ට කළා වන්නේ එසේම නුඹ තම නිධානය සොයා යන්නේ නම් පමණය."

"හෙට නුඹේ ඔටුවා විකුණා දමා අසකු මිලට අරගන්න. ඔටුවෝ කියන්නෙ ද්‍රෝහී සත්ත්ව කොට්ඨාසයක්. පියවර දහස් ගණනක් වෙහෙස නොපෙන්වා යන උන් හදිසියේම වෙහෙසට පත්ව දණින් වැටී මිය යනවා. ඒත් අශ්වයින්ට එහෙම වෙහෙස දනෙන්නෙ ටිකින් ටික. උන් ගෙන් වැඩ ගන්න පුළුවන් තරම නුඹ හැම වෙලාවෙම දන්නවා. ඒ වගේම උන් මැරෙන්න යනකොටත් නුඹ ඒ වග දැන ගන්නවා."

*     *     *

පසුදින රාත්‍රියේදී කොලුවා අශ්වයෙකුද රැගෙන රස විද්‍යාඥයාගේ කූඩාරම වෙත ආවේය. එවිටද සූදානමින් උන් රස විද්‍යාඥයා තම ජව සම්පන්න අසු පිට නැගුණේ, උකුස්සාද වම් උරය මත තබා ගත්තේය. අනතුරුව ඔහු කොලුවා ඇමතීය. "කාන්තාරෙ ජීවය රැඳිල තියෙන්නෙ කොහෙද කියල මට පෙන්වන්න. නිධානය හොයා ගන්න

හැකියාව ලැබෙන්නෙ අන්න ඒ වගේ ජීවය පිළිබඳ සංඥා හඳුනා ගන්න පුළුවන් අයට විතරයි."

සඳ පහනින් ආලෝකමත් වූ ඔවුන්ගේ මාවත දිගේ කාන්තාරයේ වැල්ල මතින් ඔවුහු අසුන් පන්නා ගෙන යන්නට පටන් ගත්තෝය. කාන්තාරයේ ජීවිතය හොයා ගන්න මට නම් පුළුවන් වෙයිද දන්නෙ නෑ යි ඒ අතර කොලුවා කල්පනා කළේය. "මං තාමත් හොඳට කාන්තාරෙ අඳුනන්නෙ නෑ."

කොලුවාට එසේ කීමට අවශ්‍ය වුවද ඔහු රස විද්‍යාඥයාට බිය වීය. අහසේ සරමින් සිටි උකුස්සන් කොලුවාගේ නෙත ගැටුණා වූ ගල් කුළු සහිත පෙදෙසට ඔවුන් පැමිණුනද දූන් එහි වූයේ නිහැඬියාව හා සුළඟ පමණි.

"කාන්තාරෙ ජීවිතය හොයා ගන්නෙ කොහොමද කියල මම දන්නෙ නෑ." කොලුවා අන්තිමේදී කීවේය. "මෙහෙ ජීවිතේ තියෙන බව මම දන්නවා. ඒත් ඒක හොයා ගන්න ඕනෑ කොහෙන්ද කියන එක නම් මට තේරෙන්නෙ නෑ."

"ජීවියෙක් හැම විටම තවත් ජීවියෙකුට ආකර්ශනය වෙනවා." රස විද්‍යාඥයාගේ පිළිතුර වූයේ එයයි.

කොලුවා එවිට එහි තේරුම වටහා ගත්තේය. එහෙයින් වැලි හා ගල් කුළු මතින් පිම්මේ යමින් උන් අසුගේ රැහැන් ඔහු ලිහිල් කළේය. පුරා පැය භාගයක් යන තුරුම රස විද්‍යාඥයා කොලුවාට පිටු පසින් තම අසු මෙහෙයවීය. දූන් ඔවුනට ඉහලින් වූයේ දිළෙමින් පැවති පුරහඳ පමණි. ඇගේ දීප්තිමත් රැස් දහරා කාන්තාරයේ ගල් කුළු මත පතිතව පරාවර්තනය වෙමින් තිබුණි. හදිසියේම කිසියම් අදෘෂ්‍යමාන හේතුවක් නිසාවෙන් කොලුවාගේ අසුගේ ගමන බාල වෙන්නට පටන් ගැනුනි.

"මෙන්න මෙතන ජීවය තියෙනවා." කොලුවා රස විද්‍යාඥයාට කීවේය. "කාන්තාරෙ භාෂාව මං දන්නෙ නෑ. හැබැයි මගේ අශ්වයා ජීවයේ භාෂාව දන්නවා."

ඔවුන් අසු පිටින් බැස්සද රස විද්‍යාඥයා කිසිත් නොකීය. හෙමි හෙමිහිට ඉදිරියට යමින් ඔවුහු ගල් අතර පිරික්සන්නට වූවෝය. අනපේක්ෂිතව නතර වූ රස විද්‍යාඥයා එහෙමම පොළොව වෙත නැමුණි. එතන ගල් අතරින් සිදුරක් පෑදී තිබුණි. පළමුව සිය අත්ල එකී සිදුරට ඇතුල් කළ රස විද්‍යාඥයා අනතුරුව උරහිස දක්වා මුළු අතම ඊට එබුවේය. යම් කිසිවක් සිදුර තුළ චලනය වෙමින් පැවති අතර රස විද්‍යාඥයාගේ දෑස - කොලුවාට මෙවේලේ පෙනුනේ ඔහුගේ දෑස පමණි - සිය උත්සාහයට අනුව අඩවන් වී ගියේය. පෙනුනේ සිදුර තුළ වූ දෙය සමඟින් රස විද්‍යාඥයාගේ අත පොර බදන බවයි. අනතුරුව කොලුවාව තැති ගන්වන සුළු චලනයක් සමඟින් සිය අත ඉවතට ඇද ගත් රස විද්‍යාඥයා පිම්මක් පැන දෙපයින් සිට ගති. ඔහු සිටියේ සිය අතින් සර්පයෙකුගේ වල්ගය ග්‍රහණය කර ගෙනය.

සැනෙකින් කොලුවාද පැන්නේය. එහෙත් ඒ රස විද්‍යාඥයාගෙන් ඉවතටය. කාන්තාරයේ නිහැඬියාව සිය පිඹීමේ ශබ්දය මගින් තු තු කර දමමින් සර්පයා වියරුවෙන් දඟලීය. ඒ වනාහී නාගයෙකි. ඉතා සුළු මොහොතකදී මිනිසකුට මරණය උරුම කර දිය හැකි තරමේ විෂකුරු නාගයෙකි.

"බලාගෙන උගේ විෂයි." කොලුවා කෑ ගැසේය. එහෙත් සිදුර තුළට දැමූ රස විද්‍යාඥයාගේ අත මේ වන විටත් නියත වශයෙන්ම සර්පයාගේ දළ පහරට ලක්ව තිබූ නමුත් ඔහුගේ පෙනුම බෙහෙවින්ම සන්සුන්ය. "රස විද්‍යාඥයාට අවුරුදු දෙසීයක් වයසයි." ඉංග්‍රීසිකාරයා කොලුවාට කියා තිබුණි. ඔහු අනිවාර්යයෙන්ම කාන්තාරයේ

සිටින සර්පයන් සමඟ කටයුතු කරනා ආකාරය දැන සිටින්නේය.

සිය ගමන් සගයා තම අසු වෙත ගොස් කෙටි කඩුවක් ඇද ගන්නා අයුරු කොලුවා බලා සිටියේය. එහි තලයෙන් වැලි මත වෘත්තයක් ලකුණු කළ පසුව ඔහු සර්පයා ඒ මැද තැබීය. එසැනින් සර්පයා වෙතින් නිස්කාංසු ගතියක් පළ වුණි.

"විස්සෝප වෙන්න දෙයක් නෑ." රස විද්‍යාඥයා කීවේය. "එයා ඔය රවුමෙන් පිට පනින්නෙ නෑ. ඔන්න නුඹට කාන්තාරයේ ජීවිතය, ඒ කියන්නේ මට වුවමනා කළ සුබ ලකුණ හමු වුණා."

"ඇයි ඒක ඔය තරමට වැදගත් වෙන්නෙ?"

"පිරමීඩ තියෙන්නෙ කාන්තාරයෙන් වටවෙලා හින්දයි."

කොලුවාට පිරමීඩ ගැන කතා කිරීමේ වුවමනාවක් නොවී. ඔහුගේ හදවත බරවී, ගෙවුන රාත්‍රියේ සිට ඔහු සිටිනුයේ මලානිකවය. නිධානය සොයා යන ගමනේ දිගටම නිරතවීම යනු ඔහුට ෆාතිමා අත්හැරීමට සිදුවීමය.

"මම නුඹට කාන්තාරෙ හරහා යන්න මඟ පෙන්වන්නම්." රස විද්‍යාඥයා කීය.

"මට ඕනෑ සෝම්ම භූමියෙ නවතින්න." කොලුවා පිළිතුරු දුනි. "මට ෆාතිමා මුණ ගැහුණා. අනික මං ගැන කල්පනා කරනව නම් ඇය මට නිධානයටත් වඩා වටිනවා."

"ෆාතිමා, කියන්නෙ කාන්තාරෙ දූවණියක්." රස විද්‍යාඥයා එවිට කීය. "ආපහු ඒමක් තියෙන්න නම් මිනිස්සුන්ට පිටවෙලා යන්න සිද්ධ වෙන බව ඈ හොඳ හැටි දන්නවා. ඒ වගේම තමයි ඇයට දැනටමත් ඇගෙ නිධානෙ හමුවෙලා අහවරයි. නුඹයි ඇගේ නිධානෙ. දැන්

ඇගේ එකම බලාපොරොත්තුව නුඹට ඔය සොයා යන දේ හමුවේවා කියන එකයි."

"හොඳයි ඉතිං බැරි වෙලාවත් මම නවතින්න තීරණය කළොත්."

"එතකොට වෙන්නෙ මොකක්ද කියලා කියන්න මට ඉඩ දෙන්න. නුඹ ක්ෂේම භූමියේ අනුශාසකයා වේවි. බැටළුවොයි ඔටුවොයි මහ ගොඩක් ගන්න ඇති තරම් රත්තරන් නුඹ ළඟ තියෙනවා. ඉතිං නුඹ ෆාතිමාව බැඳ ගනීවි. දෙන්නගෙ සතුට තියේවි ඔන්න අවුරුද්දක්. නුඹ කාන්තාරයට ආදරය කරන්න ඉගෙන ගනීවි. නුඹට අර තල් ගස් පනස් දාහෙන් එකක් නෑර අඳුරගන්න ලැබේවි. ඒවා වැඩෙන හැටි දකින කොට ලෝකය හැම තිස්සෙම වෙනස්කම් වලට භාජනය වෙන්නෙ කොහොමද කියන එක ගැන උදාහරණ සහිතව ඉගෙන ගන්න ලැබේවි. අනික, කාන්තාරය කියන්නෙ එහෙ ඉන්න හොඳම ගුරුවරයා නිසා නුඹට දවසින් දවස වඩ වඩා හොඳින් නිමිති වටහා ගන්නත් ඉඩ ලැබේවි.

"ඒත් ඔන්න දෙවෙනි අවුරුද්ද ගෙවෙන්න ගත්තම, නුඹට ආයෙමත් නිධානෙ ගැන මතක් වෙන්න පටන් ගනීවි. නිමිති නිතරම නුඹට නිධානෙ ගැන මතක් කරන්නත් පටන් අරගෙන එතකොට නුඹ ඒවා නොසලකා අරින්නත් වෙර දරාවි. ක්ෂේම භූමියෙත් එහි ඉන්න ජනතාවගෙත් සුබ සාධනය සලසන්න නුඹ තමුන්ගෙ දැනුම ප්‍රයෝජනයට ගනීවි. නුඹ මොන දේ කළත් ඒ හැම දේම ගෝත්‍රික ප්‍රධානීන්ගේ අගය කිරීමටත් ලක් වේවි. තව නුඹේ ඔටුවොත් නුඹට බලයයි, ධනයයි උපයලා දේවි.

"ඔන්න තුන්වෙනි අවුරුද්ද එනකොට නිමිති නොනැවතීම නුඹට නිධානෙ ගැනයි, ඉරණම ගැනයි මතක් කරන්න පටන් ගනීවි. එතකොට නුඹ ක්ෂේම භූමිය පුරා

රැයක් ගානෙ එහෙ මෙහෙ ඇවිද ඇවිද ඉන්න පටන් ගනීවි. ඒක දකින කොට නුඹේ ඉරණම් ගමන නැවැත්තුවේ තමන් නේද කියන සිතුවිල්ල නිසා ෆාතිමාටත් අසතුටක් දැනෙන්න පටන් ගනීවි. හැබැයි එතකොටත් නුඹ ඇයටත් ඇය නුඹටත් ආදරය කරාවි. කාන්තාරෙ ගැහැණියක් හැම තිස්සෙම තම පිරිමියා පිළිබඳව බලාපොරොත්තුවෙන් සිටීම අනිවාර්යය දෙයක් බව දන්නා නිසාම, ඇය කොයිම වෙලාවකවත් නුඹට නවතින්නැයි වද නොකළ බවත් නුඹට මතක් වේවි. ඒක හින්දා නුඹට ඇයට දොස් පවරන්න ඉඩක් නෑ. ඉතිං එතකොට අනේ මට එදා මගෙ ගමන පිටත් වෙලා යන්න තිබුණ නේද, ෆාතිමාගේ ආදරේ ගැන වැඩිය විශ්වාසයක් තියන්න තිබුණා නේද හිත හිතා නුඹ කාන්තාර වැල්ල පුරා හැම වෙලාවෙම ඇවිදින්න පටන් ගනීවි. මොකද ක්ෂේම භූමියට නුඹව බැඳල තිබ්බ එකම හේතුව වෙන මොකවත් නෙවෙයි ආපහු එන්න නොලැබේය කියන නුඹේ බය හින්දයි. අන්න ඒ වෙන කොට නුඹේ නිධානෙ සදහටම වැලලිලා ඉවරයි කියන එක නිමිති නුඹට කියා හිටීවි."

"ඉතිං ඊටත් පස්සෙ, ඔන්න හතර වෙනි අවුරුද්ද වෙද්දි නුඹ නිමිති වලට සවන් දීම අත හැරල දාලා හින්දා ඒවා නුඹවත් අතැරලා දාවි. නොවැරදීම ඒක ගෝත්‍රික ප්‍රධානීන්ගේ ඇහැ ගැහෙනවාමයි. එතකොට ඔවුන් නුඹව අනුශාසක තනතුරින් නෙරපල දමාවි. හැබැයි ඒත් ඒ වෙන කොට නුඹ මහා වෙළඳ තොග එක්ක ඔට්ටු වෙන, ඔටුවො බර ගාණක් ඉන්න ධනවත් වෙළෙන්දෙක් වෙලා ඉදීවි. අන්තිමේදී තමුන්, තම ඉරණම ලුහුබැඳ නොගිය බවත්, ඒ වෙනකොට ඒකට හොඳටම පරක්කු වී වැඩි බවටත් දැනෙන වැටහීමෙන් පීඩා විඳිමින් නුඹ ජීවිතේ ඉතිරි කාලෙ ඔහේ ගෙවල දමාවි."

"නුඹ තේරුම් ගත යුතුම දේ තමයි ආලය කිසිම දිනෙක කෙනෙකුව තම ඉරණම ලුහුබැඳ යන ගමනෙන්

වළක්වන්නෙ නැති වග. ඔන්න යමෙක් එම ලුහු බැඳීම නවත්තනවයි කියන්නෙ, ඒකෙ තේරුම ඔහු අත් විඳින්නෙ නියම ආලය, විශ්ව භාෂාවෙන් අමතන නියම ආලය නෙවේය කියන එකයි."

මෙවිට රස විද්‍යාඥයා වැලි මත ඇඳි වෘත්තය මකා දැමූවෙන් සර්පයා ගල් කුළු අතරින් බඩ ගාගෙන ඇදුණි. කොලුවාට ඒ මොහොතේදී හැම වෙලාවේදීම මක්කම ගමන පිළිබඳව සිහින දුටු පළිඟු වෙළෙන්දා හා රස විද්‍යාඥයා සොයමින් ඉන්නා ඉංග්‍රීසිකාරයා යන දෙදෙනාම ගැන සිහිපත් වුණි. කාන්තාරයේදී තම විශ්වාසය දිනාගත් කාන්තාව පිළිබඳව ඔහු කල්පනා කළේය. අන්තිමේදී තමා ආලය කළ යුවතිය වෙත ඔහු රැගෙන ආ කාන්තාරය සිසාරා ඔහු බැල්මක් හෙළුවේය.

ඔවුහු යළි අසු පිට නැගුණ අතර ක්ෂේම භූමිය කරා ඔවුන් ආපසු ගමන් කරද්දී රස විද්‍යාඥයාට ඉදිරියෙන් යන්නට හැර පසු පසින් ගමන් කළේ කොලුවාය. ක්ෂේම භූමියේ සිට හමා ආ සුළඟ ඔවුන් වෙත එහි විවිධ හඬවල් රැගෙන එද්දී, කොලුවා උත්සාහ කළේ ඒ අතරින් ෆාතිමා ගේ කට හඬ වෙන් කර අසා ගන්නටය.

කෙසේ නමුත් එදා එම රාත්‍රියේදී, අර වෘත්තය තුළ දමනු ලැබූ සර්පයාව ඔවුන් නරඹන අතරේදී, උකුස්සා උරයේ රුවාගත් අමුත්තා කතා කර තිබුණේ ආලය හා නිධානය පිළිබඳවය. කාන්තාරයේ කාන්තාව හා ඔහුගේ ඉරණම පිළිබඳවය.

"මම ඔබත් එක්ක එනවා." කොලුවා කීවේය. එසේ කිවූ සැනින් ඔහුගේ සිතට දැනුනේ මහා සහනයකි.

"හෙට ඉර උදාවට කලින් අපි පිටත් වෙමු." රස විද්‍යාඥයාගේ එකම ප්‍රතිචාරය වූයේ එයයි.

* * *

කොලුවා නිදි වර්ජිත රාත්‍රියක් ගත කළේය. අරුණෝදයට දෙපැයක් තිබියදී නැගිටගත් ඔහු තමා සමඟ එකම කූඩාරමේ වාසය කළ කොලුවන් දෙදෙනාගෙන් එකකු අවදි කර ෆාතිමා වෙසෙන තැන තමාට පෙන්වන මෙන් ඉල්ලා සිටියේය. ඔවුහු ඇගේ කූඩාරම වෙත ළං වූ පසුව කොලුවා තම මිත්‍රයාට බැටළුවෙකු ගැනීමට සෑහෙන තරමේ රත්තරන් ප්‍රමාණයක් තෑගි කළේය.

අනතුරුව ෆාතිමා නිදා සිටි කූඩාරම තුළට ගොස් ඇයව අවදි කරවා, තමා ඇය පිළිබඳව බලාපොරොත්තුවෙන් එළියේ බලා හිඳිනා බව පවසන මෙන් කොලුවා තම මිතුරාගෙන් ඉල්ලීය. එවිටද එම තරුණ අරාබියා කොලුවා විසින් පවසන ලද පරිදි කටයුතු කළෙන් ඔහුට යළිත් වරක් තවත් බැටළුවෙකු මිලට ගැනීමට තරම් වන මුදලක් තෑගි කරනු ලැබිණි.

"දැන් ඉතිං අපි දෙන්නට තනියෙන් ඉන්න ඉඩ හරින්න." කොලුවා තරුණ අරාබියාගෙන් ඉල්ලා සිටියේය. ක්ෂේම භූමියේ මහා අනුශාසකයා හට උදව් කිරීමට ලැබීම ගැන ආඩම්බරයෙන් හා බැටලුවන් කීප දෙනෙකු මිලට ගැනීමට තරම් මුදලක් ලැබීම පිළිබඳ උද්දාමයෙන් ඇළලුන අරාබියා නිදා ගැනීම පිණිස තම කූඩාරම වෙත ආපසු ගමන් කළේය.

ෆාතිමා කූඩාරමේ දොරටුව අසලට ආවාය. ඉන්පසු ඔවුහු දෙදෙනා තල් ගස් අතරින් හෙමිහිට ඇවිද ගියෝය.

එය සම්ප්‍රදාය කඩ කිරීමක් බව ඔහු දැන සිටියද දැන් ඔහුට ඉන් කාරියක් නැති.

"මං යන්නයි යන්නෙ." ඔහු කීවේය. "ඒ වගේම මට ඕනෑ මං ආපහු එන බව ඔයාට කියන්නයි. මං ඔයාට ආදරේ...."

"කිසිම දෙයක් කියන්න එපා." ෆාතිමා බාධා කළාය. "කෙනෙකුට ආරදය කරනු ලබන්නේ ඒ තැනැත්තාට ආදරය කළ යුතු නිසා. ආදරය ගැන හේතු දැක්වීම් අවශ්‍ය නෑ."

එහෙත් කොලුවා දිගටම කියාගෙන ගියේය. "මං හීනයක් දැක්කා වගේම මට රජ කෙනෙකුත් මුණ ගැහුණා. පළිඟු බඩු විකුණපු මම කාන්තාරෙ හරහා ආවා. ඔන්න එතකොටම මේ ගෝත්‍රික යුද්දෙ පටන් ගත්ත නිසා මම රස විද්‍යාඥයෙකුව හොයාගෙන ළිඳ ළඟට ආවා. ඉතිං මම ඔයාට මේ තරම් ආදරේ කරන්නෙ මුළු විශ්වයම ඔයාව මට මුණ ගස්වන්න උදව් දෙන්න එකතු වුන නිසා."

දෙදෙනා එකිනෙකා වැළඳ ගත්තෝය. ඒ දෙදෙනාම එකිනෙකා ස්පර්ශ කළ මුල්ම අවස්ථාවයි.

"මං ආපහු එනවමයි." කොලුවා කීවේය.

"මීට කලියෙන්, මං කාන්තාරෙ දිහා බැලුවේ ආශාවෙන්." ෆාතිමා කීවාය. "දැන්, අද ඉඳල මං එහෙම කරන්නෙ හිතේ බලාපොරොත්තු රඳවානයි. මගේ තාත්තත් මේ විදිහටම එක්තරා දවසක පිටවෙලා ගිහින් ආයෙම අම්මා ළඟට ආවා. එදා ඉඳන් තාත්තා කොහේ ගියත් ආපහු ආවා."

ඉන්පසු ඔවුන'තර කිසිදු කතා බහක් නොවී. තල් ගස් අතරින් තරමක් දුර ඇවිද ගිය පසුව කොලුවා ආපසු ඇයව කුඩාරම වෙත ගෙනත් ඇරලීය.

"ඔයාගෙ තාත්තා අම්ම ළඟට ආවා වගේම මමත් ආපහු එනවාමයි." ඔහු කීය.

ෆාතිමාගේ දෑස කඳුළින් පිරෙනු මෙවිට ඔහු නෙත ගැටුණි.

"ඔයා අඬනවා නේද?"

"මං කාන්තාරෙ ගැණියෙක් තමයි." මුහුණ ඉවත හරවමින් ඈ කීවාය. "ඒත් ඒ ඔක්කොටම වඩා මාත් ගැණියෙක්."

ආපසු කුඩාරමට ගියා ෆාතිමා උදාලෝකය වැටුණ පසුව බොහෝ කලක් තිස්සේ ඇය විසින් කරනු ලබනා ගෙදර දොර වැඩ කටයුතුවල නිරත වූවාය. එහෙත් දැන් මේ හැම දේම වෙනස් වෙලාය. කොලුවා තව දුරටත් ක්ෂේම භූමිය මත නැතිවා සේම ක්ෂේම භූමියත් මේ ඊයේ වෙනතුරු පැවති අරුතින් යළිත් කිසිම දිනෙක දකින්නට ලැබෙන්නේ නැති. එසේම තව දුරටත් එය පනස් දහසක් වූ තල් ගසින් හා තුන් සියයක් වූ ළිං වලින් ගැවසී බිම නොවන්නේය. එම දවසේ සිට ක්ෂේම භූමිය යනු ඇයට, හුදෙක් හිස් බිමක් පමණක්ම වනු ඇත්තේය.

එම දිනයේ පටන් වඩා වැදගත් ස්ථානය වනු ඇත්තේ කාන්තාරයයි. හැම දිනක් පාසාම කාන්තාරය දෙස බලමින් ඇය, තම පෙම්වතා සිය නිධානය සොයා යන ගමනේදී කුමන තරුවක් අනුව ගමන් කරන්නේදැයි අනුමාන කරන්නට උත්සාහ දරනු ඇත. කාන්තාරය මැදින් හමනා සුළං ඔහුගේ මුහුණ සිප ගනු ඇතැයි ද, තමා තවමත් ජීවතුන් අතර ඉඳිනා බවද, තම නිධානය සොයා යන ධෛර්යය සම්පන්න මිනිසා උදෙසා අපේක්ෂා සහගතව බලා ඉන්නා කාන්තාවන් පරිද්දෙන් ඇයද ඔහු වෙනුවෙන් බලා ඉන්නා බව සුළඟ ඔහු සවනට කොඳුරනු ඇතැයි ද යන බලාපොරොත්තුවෙන් යුතුව ඇයට තම චුම්බනයන් සුළඟේ පා කර හැරීමට සිදුවනු ඇත්තේය. ඉදින්, මෙතැන් පටන් කාන්තාරය ඇය වෙත පිරිනමනු ඇත්තේ එකම එක දෙයක්

පමණි. එය වනාහී ඔහුගේ ආපසු පැමිණීම පිළිබඳ බලාපොරොත්තුවයි.

*　　*　　*

"මග දාල ආපු දේවල් ගැන විස්සෝප වෙන්න එපා." වැලි කතර තරණය කිරීම අරඹන මොහොතේ දී රස විද්‍යාඥයා කොලුවාට එසේ කීවේය. "මේ ලොවේ පවතින හැම දෙයක්ම විශ්වාත්මය තුළ ලියැවිලා තියෙන්නෙ. ඒ නිසා ඒවා සදාකල් පවතීවි."

"මිනිස්සු වැඩිපුරම හීන දකින්නෙ පිටත් වෙලා යන එක ගැන නෙවෙයි. ආපසු එන එක ගැනයි." කොලුවා කීවේය. ඔහු මේ වන විටත් කාන්තාරයේ ගුප්ත නිහැඬියාවට යළි හුරු වී උන්නේය.

"යමෙකුට හමුවෙන දෙයක් නිර්මල දේවලින් නිර්මාණය වෙලා තියෙන කොට එය කිසිම දවසක විනාශ වෙන්නෙ නෑ. ඒ වගේම තමයි පිට වෙලා යන ඕනම කෙනෙකුට ආපහු එන්න පුළුවන්. එහෙත්, දැනට ඔබට හමු වී ඇති දේවල් හරියට උල්කාපාතයක් ඇද වැටෙන විට ඇතිවන ක්ෂණික ආලෝක දහරාවක් මෙන් පමණක් වන නිසා ආපහු ඒමේදී ඔබට ලැබෙන්නේ ශූන්‍යත්වයක් පමණයි."

මිනිසා කතා කරමින් උන්නේ රස විද්‍යාවේ භාෂාවයි. එහෙත් ඔහු ඉන් අදහස් කරන්නේ ෆාතිමා ගැන බව කොලුවා වටහා ගති.

එහෙත් අසීරුම දෙය වූයේ අතර මඟ දමා ආ දේවල් පිළිබඳව කල්පනා නොකර සිටීමය. කාන්තාරය ඇගේ නිම් හිම් නැති ඒකාකාරීත්වය මඟින් සිහින දැකීම වෙත කොලුවාව

තල්ලු කර හැරියාය. එහෙයින් කොලුවාට තවමත්, අර තල් ගස්, ළිං මෙන්ම ඔහුගේ ආදරය උරුම කරගත් කාන්තාවගේ මුහුණ දැකීමට හැකි වුණි. එමෙන්ම තම පරීක්ෂණයන්හි නිරතව ඉන්නා ඉංග්‍රීසි කාරයාට මෙන්ම තමා ගුරුවරයෙකු බව නොදැනම ගුරුවරයෙකු බවට පත්ව ඉන්නා ඔටුවන් දක්කන්නාවද ඔහුට දැකිය හැකිය. "මේ රස විද්‍යාඥයා නම් කවම කවදාවත් හැබෑ ආදරේක පැටලිලා නැතිව ඇති." කොලුවා කල්පනා කළේය.

උකුස්සා උරයේ රඳවාගත් වනම, රස විද්‍යාඥයා ඉදිරියෙන් අසු පන්නා ගෙන ගියේය. කාන්තාරයේ භාෂාව ඉතා හොඳින් දැන සිටි මේ පක්ෂියා ඔවුන් සිය ගමන නැවතූ හැම විටම දඩයම් පිණිස ඉගිල ගියේය. පළමු දිනයේ දඩයම් කරගත් මීයෙකු සමඟින් ආපසු ආ උකුස්සා දෙවෙනි දවසේ කුරුල්ලන් දෙදෙනෙකු දඩයම් කරගෙන ආවේය.

රාත්‍රියේදී තමන්ගේ නිදා ගැනීමට අවශ්‍ය කලමනා සකසා ගත් ඉක්බිති, ඔවුහු ගිණිමැලය නිවා දැමුවෝය. කාන්තාරයේ රාත්‍රිය බෙහෙවින් ශීතල වූ අතර, පුරා හඳ පියවරින් පියවරට ඉදිරියට ගමන් කරනා විට කාන්තාරය අඳුරෙන් අඳුරට ගිලී ගියේය. මෙසේ සතියක් පුරා ඔවුන් ඉදිරියට ඇදුනද ඔවුන'තර කතාබහ වුනේ පවතින ගෝත්‍රික යුද්ධය මඟ හැරී යාම පිණිස ගත යුතු වන පූර්වෝපායන් පිළිබඳව පමණි. යුද්ධය නොනැවතී ඇදෙද්දී, සුළඟ වරින් වර රැගෙන හැමුවේ රුහිරයේ මිහිරි මත්මත් කරවන සුගන්ධයයි. යුද්ධය ඔවුන් අහල පහලම සිදුවෙමින් පැවති අතර සුළඟ කොලුවා හට නැවත නැවතත් මතක් කර සිටියේ ඔහුගේ දෙනෙතට හමු නොවන්නාවූ දේවල් පෙන්නා දීම සඳහා පෙර මඟ නිමිති නිරතුරුවම සූදානමින් ඉන්නා බවයි.

හත්වෙනි දවසේදී, වෙනදාට වඩා කලියෙන් කූඩාරම් ගසා ගැනීම පිණිස නැවතීමට රස විද්‍යාඥයා තීරණය කළේය.

උකුස්සා දඩයම් පිණිස ඉගිල ගිය පසුව රස විද්‍යාඥයා සිය ජල බඳුන් කොලුවාට පිරිනැමීය.

"නුඹ දැන් ඉන්නේ නුඹේ සංචාරයේ අවසානයට ඇවිල්ලා." රස විද්‍යාඥයා කීවේය. "ඉරණම ලුහු බැඳගෙන යන නුඹේ ගමනට මං සුබ පතනවා."

"ඒත් අපි ආපු මඟ දිගට ඔබ මට කිසි දෙයක් කියා දුන්නේ නෑ." කොලුවා කීවේය. "මං හිතා උන්නේ ඔබ දන්න දේවල් මොනව හරි අතර මඟදී මට කියා දෙයි කියලයි. ටික කලකට ඉස්සරින් මං රස විද්‍යාව ගැන ලියැවුණු පොත් පත් තියාගෙන උන්න මිනිහෙක් එක්ක කාන්තාරෙ මැදින් ගියා. ඒත් ඒ පොත් වලින් කිසිම දෙයක් ඉගෙන ගන්න මට පුළුවන් වුණේ නෑ."

"ඉගෙනීම සඳහා තියෙන්නෙ එකම එක ක්‍රමයක් විතරයි." රස විද්‍යාඥයා පිළිතුරු දුනි. "ක්‍රියාව තුළින් ඉගෙනීම! ඉගෙන ගත යුතු හැම දේම නුඹ ඔය සංචාරය තුළින් ඉගෙන ගෙන තියෙනවා. තවත් නුඹට ඉගෙනීමට ඇත්තෙ එක් දෙයක් පමණයි."

කොලුවාට ඒ කුමක් දැයි දැන ගැනීමට අවශ්‍ය වුවත් රස විද්‍යාඥයා තම උකුස්සා සොයා ගැනීමේ අරමුණින් ක්ෂිතිජය දෙස බලන්නට පටන් ගති.

"ඇයි ඔබට රස විද්‍යාඥයා කියල කියන්නෙ?"

"ඒ ඉතිං මං එහෙම කෙනෙක් හින්දනේ."

"එතකොට රත්තරං හදන්න උත්සාහ කරපු අනෙක් රස විද්‍යාඥයෝ අසමත් වුණේ, එයාලට කොතැනදී වැරදුන නිසාද?"

"ඒ ගොල්ලො හෙව්වෙ රත්තරං ගැන විතරක් වීම නිසා." කොලුවාගේ ගමන් සගයා පිළිතුරු දුන්නේය. "ඒ ගොල්ලො තමුන්ගෙ ඉරණමෙන් උරුම වුන නිධානෙ

හොයාගෙන ගියේ, ඒ ඉරණම තුළ ජීවත් වෙන්න හැබෑ උවමනාවක් නැතිවයි."

"එතකොට අර මට තවත් ඉගෙන ගන්න තියෙනවයි කිව්ව දේ මොකක්ද?" කොලුවා ඇසුවේය.

එහෙත් රස විද්‍යාඥයා ක්ෂිතිජය දෙස බලාගත් වනමය. අන්තිමේදී උකුස්සා ඔවුන්ගේ ආහාරය රැගෙන ආපසු ආවේය. මෙවිට ඔවුන් පොළොවේ වළක් හාරා ඒ තුළ ගිනි දල්වා ගත්තෙන් එහි එළිය පිටතට විහිදීම ඉන් වැලකුණි.

"සරලව කිව්වොත් මං රස විද්‍යාඥයෙක් වෙලා ඉන්නෙ මගේ ඇඟේ එහෙම දෙයක් තියෙන නිසානෙ." ආහාරය පිළියෙල කරන ගමන් ඔහු කීය. "මං විද්‍යාව ඉගෙන ගත්තෙ මගේ පියාගෙන්. පියා එයාගෙ පියාගෙන්. ඔන්න ඔය විදිහට, ලෝකය මැවීම දක්වාම පියවරෙන් පියවර පරම්පරාවෙන් පරම්පරාවට, ඒ යුගවලදී ශ්‍රේෂ්ට මැවීම පිළිබඳව මරකත මාණික්‍යයක මතුපිට ලියන්න පුළුවන් වුණා. ඒත් මිනිස්සු සුළු සුළු දේවල් ප්‍රතික්ෂේප කරන්න පටන් අරං, පත්‍රිකා ලියන්න, නිර්වචන ඉදිරිපත් කරන්න පටන් ගත්තා. ඒ වගේම එතකොට තමුන් අනිත් අයට වඩා හොඳ මාවතක් දන්නවය කියල ඔවුන්ට දැනෙන්න ගත්තා. ඒත් ඉතිං අර මරකත ඵලකය තාමත් අද පවා ජීවයෙන් පිරිලා."

"එතකොට ඔය මරකත ඵලකයෙ මොනවද ලියල තියෙන්නෙ?" කොලුවාට දැන් අවශ්‍ය වූවේ එය දැන ගැනීමටයි.

එවිට වැලි මත මොනවාදෝ අඳින්නට පටන් ගත් රස විද්‍යාඥයා මිනිත්තු පහක් ඉක්මෙන්නට පළමු තම සටහන ඇඳ නිම කළේය. රස විද්‍යාඥයා මෙසේ ඇඳීමෙහි නිරතව ඉන්නා අතරේ කොලුවා මහලු රජු ගැන හා ඔහුට

රජු හමුවූ කඩ වීදිය ගැන කල්පනා කරන්නට විය. ඔහුට දූන් දැනුනේ මේ දේවල් සිදු වූයේ වසර බොහෝ ගණනකට එපිටදී බවයි.

"මෙන්න මේක තමයි අර මරකත ඵලකය මත ලියල තියෙන්නෙ." සටහන ඇඳීම නිම කළ රස විද්‍යාඥයා කීවේය.

වැල්ල මත ලියා ඇති දෙය කියවීමට එවිට කොලුවා තැත් කළේය. "ඒවා සංකේත නේ." තරමක් දුරට බලාපොරොත්තු බිඳගත් කොලුවා කීය. "ඒවත් හරියට මං අර ඉංග්‍රීසිකාරයගේ පොත්වල දැකපු දේවල් වගේ."

"නෑ." රස විද්‍යාඥයා පිළිතුරු දුනි. "ඒවා හරියට අර උකුස්සො දෙන්නගේ පියාසැරිය වගේ. ඒක විතරක් වියුක්තව අරං අවබෝධ කරගන්න බෑ. මරකත ඵලකය කියන්නෙ විශ්වාත්මය කරා යා හැකි ඍජු මාර්ගයක්."

"ස්වභාවික ලෝකය කියන්නෙ පාරාදීසයේ ප්‍රතිරූපයක්, අනු පිටපතක් පමණයි කියන එක ඥාණවන්තයො වටහාගෙන හිටිය. මේ ලෝකයේ පැවතීම කියන්නෙ පරිපූර්ණ ලෝකයක් පවතිනවාය කියන එක ගැන සහතිකයක් පමණයි. ලෝකයේ මැවුම්කරු තමයි දෙවියන් වහන්සේ. ඒ හින්දා ඒ තුළ පේන්න තියෙන දේවල් මගින් මිනිස්සුන්ට උන්වහන්සේගේ අධ්‍යාත්මික ඉගැන්වීම් වගේම ආශ්චර්යමත් ඥාණ සම්භාරය වටහා ගන්න පුළුවනි. ක්‍රියාවෙන් ඉගෙනීම කියන එකෙන් මං අදහස් කළේ අන්න ඒකයි."

"එතකොට මාත් මරකත ඵලකය අවබෝධ කර ගන්න ඕනද?" කොලුවා ඇසීය.

"සමහර විට. නුඹ රස විද්‍යාව පිළිබඳව තියෙන විද්‍යාගාරෙක හෙම හිටියා නං, මරකත ඵලකය පිළිබඳව වටහා ගන්න තියෙන හොඳම මාර්ගය මොකක්ද කියලා

අධ්‍යයනය කරන්න මේ හොඳම කාලය වේවි. ඒත් නුඹ දැන් මේ ඉන්නෙ කාන්තාරෙක. ඒ නිසා දැන් නුඹ ඊට ඇලී ගැලී ඉන්න ඕනෑ. එතකොට කාන්තාරය නුඹට ලෝකාවබෝධය ලබා දේවි. ඇත්තෙන්ම මේ මහ පොළොව මත තියෙන්නා වූ කවරම දෙයක් වුවත් නුඹට එම අවබෝධය ලබා දේවි. ඇත්ත වශයෙන්ම නුඹ කාන්තාරෙ අවබෝධ කර ගන්නවත් උත්සාහ කළ යුතු නෑ. කළ යුතු එකම දේ මේ මහා කතරෙහි ඇති එකම එක පුංචි වැලි කැටයක් ගැන අවලෝකය කිරීම පමණයි. අන්න එවිට මේ මැවීමේ තියෙන්නා වූ මහා ආශ්චර්යයන් එකින් එක නුඹට පෙනෙන්නට පටන් ගනීවි."

"ඉතිං මං කොහොමද මේ කාන්තාරෙට ඇලී ගැලී ඉන්නෙ?"

"කන් දෙන්න නුඹේම හදවතට. එයත් විශ්වාත්මයේම කොටසක් නිසා හදවත සියලු දේ පිළිබඳව දන්නවා. ඒ වගේම තමයි කවදාම හරි දවසක නුඹේ හදවත යළි ආපහු ඒ කරා යාවි."

* * *

තවත් දින දෙකක් තිස්සේම ඔවුහු කාන්තාරය හරහා නිහඬවම ගමන් කළෝය. ඔවුන් මේ ළඟා වෙමින් ඉන්නේ අති බිහිසුණුම සටන් පැවතියාවූ ප්‍රදේශය වෙත වූ නිසාවෙන් රස විද්‍යාඥයා වඩ වඩාත් පරීක්ෂාකාරී වෙන්නට විය. මෙසේ ඉදිරියට ඇදෙද්දී කොලුවා උත්සාහ කරමින් උන්නේ තම හදවතට සවන් දීමටය.

එහෙත් එය එතරම් පහසු නැත. පෙර දී නම් හදවත නිතරම පාහේ තම කතාව පැවසීමට සූදානමින් හුන් මුත් කල් ගතවෙද්දී එය සත්‍යයෙන් තොර වුණේය. හදවත තම

දුක කියන්නට පැය ගණන් ගත කළ කාලයක්ද තිබුණි. එසේම තවත් සමහර අවස්ථාවලදී ඉර උදාව හමුවේ හදවත කොතරම් හැඟුම්බර වීද යත් කොලුවාට තම කඳුළු සඟවා ගැනීමට පවා සිදු වුණි. කොලුවා හට උරුමව ඇති නිධානය පිළිබඳව පවසනු ලැබූ අවස්ථාවේ දී හදවත වේගයෙන් ස්පන්දනය වූ අතර කොලුවා කාන්තාරයේ වූ සීමා රහිත ක්ෂිතිජය නරඹමින් ප්‍රීතියෙන් ඉපිල යද්දී, එය හෙමින් ස්පන්දනය වීය. එහෙත් කිසිම විටෙක කොලුවා හා රස විද්‍යාඥයා යන දෙදෙනාම නිහැඬියාවේ ගිලී උන් විටදී පවා ඔහුගේ හදවත ශාන්ත භාවය කරා පැමිණියේ නැත.

"මොන එහෙකටද අපි අපේම හදවතට සවන් දෙන්නෙ?" දවස අවසන ඔවුන් කඳවුරු බඳින අතරේ කොලුවා අසා සිටියේය.

"නුඹේ හදවත කොහි තිබුණද, නුඹට උරුම නිධානය එහිදී හමුවෙනු ඇති නිසා."

"ඒත් දැන් මගේ හදවත කැළඹිලා." කොලුවා කීවේය. "හදවතටත් ඊටම විශේෂ වූ සිහින තියෙනවා. එය හැඟීම් බර වෙන්න පටන් අරං. දැන් කාන්තාරෙ ඉන්න ගෑණියෙක් නිසා ප්‍රේමාතුර වෙලා හදවත මාව ප්‍රශ්න කරන්නත් පටන් අරං. ඒ වගේම මං ඇය ගැන කල්පනා කරන්න පටන් ගත්තම රාත්‍රී ගණනාවක් යන තුරාම හදවත මගේ නින්දත් වළකනවා."

"ඉතිං ඒක බොහොම හොඳ දෙයක්නේ. ඒ කියන්නේ නිතරම නුඹේ හදවත පණ ගැහෙනවාය කියන එකයි. ඒ නිසා හදවතට කියන්න තියෙන්නෙ මොනවාදැයි හොඳින් අසාගෙන ඉන්න."

එළඹුන ඊළඟ තෙදින තුළ සන්නද්ධ ගෝත්‍රිකයන් ගණනාවක් පසු කරමින් ගමන් කළ සංචාරකයෝ දෙදෙනා

තවත් එවැනිම පිරිස් ක්ෂිතිජය දෙසින් ද මතු වෙනු දුටුවෝය. එවිට කොලුවාගේ හදවත එය ගැන කතා කරන්නට පටන් ගති. විශ්වාත්මය වෙතින් අසා දැන සිටි, තම තමන්ගේම නිධානයන් පතා ගිය එහෙත් ඉන් පරාජයට පත් වූ මිනිසුන් පිළිබඳ කතා හදවත ඔහුට පවසන්නට පටන් ගති. නිධානය සොයා ගැනීමට නොහැකි වනු ඇතැයිද, නැතිනම් කාන්තාරය මත්තේ මැරී යන්නට සිදුවෙතැයි යන අදහස දමා ගසමින් වරින් වර කොලුවාට බිය ගැන්වීය. එහෙත් සමහර අවස්ථාවලදී හදවත පවසා සිටියේ තමා තෘප්තිමත්ව හිඳිනා බවයි. එනම් ඊට සමෘද්ධිය හා ප්‍රේමය හිමිව ඇති බවයි.

"මගේ හදවත මහ ද්‍රෝහියෙක්." අසුනට විවේකයක් දීම පිණිස අතර මඟ නතර වූ විටෙක කොලුවා රස විද්‍යාඥයාට කිවේය.

"එයට ඕන කමක් නෑ මාව ඉදිරියට මෙහෙයවන්න."

"ඒකෙ තේරුමක් තියෙනවා." රස විද්‍යාඥයා ඊට පිළිතුරු ලෙස කීය.

"සිහිනය ලුහු බැඳ යන මේ ගමනෙදී මෙතෙක් දුර නුඹ දිනා ඇති සියලුම දේවල් අහිමි වෙයිද කියා හදවතට බයයි."

"හොඳයි, ඒකත් එහෙම නං මොන එහෙකටද මං හදවතට කන් දෙන්නෙ?"

"ආයෙ කිසිම දවසක නුඹට එය සන්සුන්ව තියා ගන්න හැකියාවක් නොලැබෙන නිසා. නුඹ හදවත පවසන දේට කන් නොදෙන බව බොරුවට ඇඟෙව්වොත් එය හැම විටම නුඹේ ඇතුලාන්තයට වී හිඳිමින් ජීවිතය හා ලෝකය ගැන නුඹ හිතන විදිහ යළි යළිත් නුඹට සිහිපත් කරාවි."

"එතකොට හදවත මොන තරම් ද්‍රෝහි වුනත් ඊට කන් දිය යුතුය කියලද ඔය කියන්නෙ?"

"ද්‍රෝහීත්වය කියන්නෙ අනපේක්ෂිතව එල්ල වෙන පහරක්. ඉතිං නුඹ තමුන්ගෙ හදවත හොඳින් වටහා ගෙන තියේ නං කවදාවත් එය එවැනි ද්‍රෝහි කමක් නුඹට කරන්නෙ නෑ. මොකද නුඹ එහි අපේක්ෂාවන් මෙන්ම සිහිනද අවබෝධ කරගෙන ඒවාත් සමඟ ගණුදෙනු කළ යුතු ආකාරය එවිට දැනගනු ඇති නිසා."

"කිසිම දවසක නුඹට තමුන්ගෙ හදවතින් පලා යන්න ඉඩ ලැබෙන්නෙ නෑ. ඒ නිසා හදවතට කියන්න ඇති දේට කන් දෙන එකයි වඩා නුවණක්කාර. එහෙම කළාම නුඹට කවමදාවත් අනපේක්ෂිත භාවයක් ගැන බය වෙන්න දෙයක් නෑ."

මෙසේ ඔවුන් කාන්තාරය තරණය කරනා හැම පැයක් ගානේම කොලුවා සිය හදවතට සවන් දීමෙහි නිරත වුණේය. එවිට කොලුවාට හදවතේ රැවටිලි හා ප්‍රෝඩාවන් හඳුනා ගන්නට හා ඒවා එම සැටියෙන්ම භාර ගන්නට හැකි වුණි. එක් සැන්දෑවක දී හදවත ඔහු අමතා එය සතුටින් බව පැවසූ නිසාවෙන් කොලුවාගේ බිය අතුරුදන් වී ආපහු ක්ෂේම භූමිය වෙත යාමට වූ වුමනාවද අමතකව ගියේය. "මං ඔය සමහර වෙලාවට කුණු කුණු ගෑවත්...." හදවත එසේ කියා තිබුණි. "ඒ වෙන මොකුත් නිසා නෙවෙයි මමත් මිනිහෙකුගෙම හදවතක් නිසයි. අනික මිනිස්සු හැම වෙලාවෙම වගේ තමුන්ගෙ වැදගත්ම සිහින ලුහු බඳින්න බයයි. මොකද ඒවා තමුන්ට හිමි නැතිය කියල හරි, නැත්නං ඒවා ලබා ගන්න තමුන් අසමත්ය කියල හරි ඔවුන්ට දැනෙන නිසා. මිනිස්සුන්ගෙ හදවත් වන අපි ආදරය කරනු ලබන්නන් සදහටම අහිමි වීම ගැන හරි, වඩා යහපත්ව තිබිය හැකි වූ එහෙත් එහෙම නොවූ නිමේෂයන් ගැන එහෙමත් නැත්නම්,

හමුවිය යුතුව තිබූ ඒත් වැලි අතර සදාකාලයට සැඟවී තිබෙන නිධානයන් ගැන කල්පනා කළ ගමන් බියපත් වෙනවා. ඒ මෙවන් දේවල් සිදුවන විට අපිට මහ භයානක විදිහට විඳවන්න සිද්ධ වෙන නිසයි.

"විඳවන්න සිද්ද වේය කියල මගෙ හදවතට බයයි." සඳ නැති අහස දෙස බලා හිඳිනා අතර එක් රාත්‍රියකදී කොලුවා රස විද්‍යාඥයාට කීවේය.

"නුඹේ හදවතට කියා දෙන්න විඳවීම ගැන. බය වීමට වඩා දරුණු සැබෑ විඳවීමය කියන එක. ඒ වගේම සිය සිහින සොයා යන ගමනේ හැම තත්පරයක්ම දෙවියන් වහන්සේ හා සදාතනිකත්වය හමුවීමේ නිමේෂයන් වන නිසා කිසිම දවසක හදවතක් තම සිහින සොයා යන ගමනේදී විඳෙව්වෙ නැති බවත් කියන්න."

"මේ සොයා යාමේ හැම නිමේෂයක්ම දෙවියන් වහන්සේ හමුවීමක්." කොලුවා සිය හදවතට පැවසීය. "මං හැබෑවටම මගෙ නිධානය සොයා ගන්න උත්සාහ දරන කොට එළඹෙන හැම දේම ආලෝකවත් වුණා. ඒ ගෙවෙන හැම හෝරාවක්ම මට මගේ නිධානය හමුවේය කියන සිහිනයේ කොටස් වීම නිසයි. ඒ වගේම මං හැබෑවටම මගේ නිධානය සොයා ගිය මේ ගමනේදී, එඬේරෙකුට කවදාවත් ළඟා කරගන්න බැරිය කියල පෙනුණ දේවල් ලබාගන්න උත්සාහ කිරීමට මට තිබ්බ දහිරිය නොවෙන්න මට දකින්න නොලැබීමට ඉඩ තිබ්බ දේවල් පවා මං මඟ දිගටම අනාවරණය කර ගත්තා."

මෙසේ මුළු සැන්දෑ වරුවක් පුරාම ඔහුගේ හදවත සංසුන්ව පැවතුණි. එම රාත්‍රියේදී කොලුවා ගැඹුරු නින්දකට වැටුණු අතර යළි අවදි වූ විට විශ්වාත්මය වෙතින් පැමිණියා වූ දේවල් පිළිබඳව හදවත කොලුවාට කියන්නට පටන් ගත්තේය. සන්තෘෂ්ටියට පැමිණ සිටින්නා වූ සෑම මිනිසකු

තුළම දෙවියන් වහන්සේ වැඩ සිටින බව හදවත කොලුවාට තේරුම් කර දුනි. එසේම එම සන්තෘෂ්ටිය රස විද්‍යාඥයා පැවසූ පරිද්දෙන්ම කාන්තාරයේ වැලි අංශුවක් තුළින් වුවත් මතුකර ගැනීමට පිළිවන. එසේ වන්නේ ඉතා කුඩා වැලි අංශුවක් පවා මැවීමේ එක්තරා මොහොතක් නිරූපණය කරන අතර විශ්වය ඒ නිර්මාණය කිරීම උදෙසා වසර මිලියන ගණනක් වැය කර ඇති හෙයිනි. මිහිපිට ඉන්නා සෑම කෙනෙකුටම තමනටම උරුම වූ නිධානයක් ඇතැයි ඔහුගේ හදවත පැවසීය. "මිනිස්සුන්ගෙ හදවත් වන අප ඉඳහිට පමණක්, මේ නිධාන ගැන බොහෝ විස්තර මිනිස්සුන්ට කියන්නෙ තව දුරටත් මිනිස්සුන්ට ඒවා හොයා ගෙන යන්න උවමනාවක් නැති නිසයි. අපි එව්වා ගැන කියන්නෙ ළමයින්ට විතරයි. අන්තිමේදී අපි මේ ජීවිතේට තමුන්ගේම පාරේ ඉරණම වෙත යන්න ඉඩ දෙනවා. අවාසනාවකට වගේ, තමුන්ගෙ යහපතට, තම ඉරණම කරා ඒ වගේම තමුන්ගෙ චිත්ත සන්තෘෂ්ටිය කරා, පාර පාදා ගන්නෙ ඉතාම සුළු පිරිසක් විතරයි. හුඟක් මිනිස්සු ලෝකෙ දකින්නෙ බියකරු තැනක් හැටියට. ඉතිං එහෙම මිනිස්සු කල්පනා කරන්න ගත්තම ලෝකෙ ඇත්තටම බියකරු තැනක් බවට පෙරළෙනවා.

"එතකොට අපි, ඒ කියන්නෙ මිනිස්සුන්ගෙ හදවත් වන අපි වඩ වඩා මෘදු විදිහට කතා කරන්න පටන් ගන්නවා. මෙහෙම කතා කරන එක අපි කවදාවත් නතර කරන්නෙ නෑ. හැබැයි අපි මිනිස්සු අපේ වචන වලට කන් දෙන එකත් නැතිය කියල බලාපොරොත්තු වෙනවා. මොකද තමුන්ගෙ හෘද සාක්ෂියට අනුව කටයුතු කිරීම ගැන මිනිස්සු විඳවනවා දකින්න අපට අවශ්‍ය නැති නිසා."

"ඇයි එහෙමනං තමුන් ගෙ සිහින ලුහු බැඳ යන්න කියලා හදවත් මිනිස්සුන්ව පොළොඹවන්නෙ නැත්තෙ?" කොලුවා රස විද්‍යාඥයාගෙන් අසා සිටියේය.

"හදවතක් වැඩියෙන්ම විඳවන්නෙ අන්න ඒ වගේ කියවන්න සිදුවීම ගැනයි. හදවතක් කවමදාවත් විඳවන්න කැමති නෑ."

අන්න ඒ මොහොතේ සිට කොලුවා සිය හදවත වටහා ගන්නට සමත් වුණි. තමා ඇමතීම කිසිම විටක නොනවත්වන මෙන් සිය හදවතින් ඉල්ලා සිටි කොලුවා තමා සිහින වෙතින් බොහෝ දුරස්ව ඉබාගාතේ සරනා අවස්ථාවලදී යළි තමාට බල කරමින් හා අනතුරු අඟවමින් නියම පාරට තල්ලු කරන මෙන්ද හදවතින් ඉල්ලුවේය. එසේම අනතුරු අඟවනු ලබනා සෑම මොහොතකදීම එම පණිවුඩයට කන් දෙන බවටද කොලුවා සපථ කළේය.

එම රාත්‍රියේදී ඔහු මේ සියලුම දෑ රස විද්‍යාඥයාට කීවේය. එවිට කොලුවාගේ හදවත යළිත් විශ්වාත්මය කරා පැමිණ ඇති බැව් රස විද්‍යාඥයා අවබෝධ කර ගති.

"දූන් ඉතිං මම මොකද කරන්න ඕනෑ?" කොලුවා ප්‍රශ්නයක් නැගුවේය. "දිගටම පිරමීඩ වෙතටම ගමන් කරන්න." රස විද්‍යාඥයා කීවේය. "ඒ වගේම නිමිති වලටත් දිගටම කන් දෙන්න. නිධානෙ තියෙන්නෙ කොතැනද කියල පෙන්නන්න පුළුවන් තරමට තාමත් නුඹේ හදවත ශක්තිමත්."

"තවදුරටත් මට දූනගන්න ඉතිරි වෙලා තිබ්බයි කිව්වෙ ඕකද?"

"නෑ." රස විද්‍යාඥයා කීවේය. "නුඹ තවදුරටත් දූනගත යුතු දේ මේකයි. සිහිනයක් සැබෑ කරගන්න කලියෙන් විශ්වාත්මය, සිහිනයේ උරුමකරුවාව දිගින් දිගටම පරීක්ෂාවට ලක් කරනවා. එහෙම කරන්නෙ විශ්වාත්මය නරක, අයහපත් කෙනෙක් නිසා නෙවෙයි. එතකොට අපිට සිහිනය සැබෑ කර ගැනීමට අමතරව සිහිනය ලුහුබැඳ යන ගමනේදී ඉගෙන ගත් පාඩම් වල පරතෙරට යන්න හැකිවෙන

නිසයි. මෙන්න මෙතන තමයි බොහෝම මිනිස්සු තම උත්සාහය අත් හරින සන්ධිස්ථානය. අන්න ඒ අවස්ථාවට තමයි කාන්තාරෙ භාෂාවෙන් අපි 'ක්‍ෂිතිජය තුළ ගස් පෙනෙන්නට පටන් ගත් මොහොතේදී පිපාසයෙන් මිය යාම කියල කියන්නෙ.'

කොලුවාට තම රටෙහි භාවිතා වන පැරණි ප්‍රස්ථාව පිරුළක් සිහිපත් වුණි. ඉන් කියැවුණේ රාත්‍රියේ අඳුරුතම පැය එළඹෙනුයේ හරියටම අරුණෝදයට පෙරාතුව බවයි.

* * *

ඊළඟ දවසේදී අනතුර පිළිබඳව වූ පළමු පැහැදිලි සංඥාව දක්නට ලැබුණි. සන්නද්ධ ගෝත්‍රිකයෝ තිදෙනෙක් පැමිණ කොලුවා සහ රස විද්‍යාඥයා එහි කුමක් කරන්නේදැයි ප්‍රශ්න කර සිටියෝය.

"මං මගේ උකුස්සත් එක්ක දඩයමේ යනවා." රස විද්‍යාඥයා පිළිතුරු දුනි.

"අපි උඹලා ළඟ ආයුධ එහෙම හංගාගෙන ඉන්නවද කියල පරීක්ෂා කරන්නයි යන්නෙ." එක් ගෝත්‍රිකයෙක් කීවේය.

රස විද්‍යාඥයා හෙමි හෙමිහිට අසු පිටින් බසිද්දී කොලුවාද ඔහුව අනුගමනය කළේය.

"මොටද උඹ මේ සල්ලි අරං යන්නෙ." කොලුවාගේ බෑගය පරීක්ෂා කළ ගෝත්‍රිකයා ඇසීය.

"පිරමීඩ තියෙන දිහාවට යන්න මට සල්ලි ඕනෑ" ඔහු පිළිතුරු දුනි.

රස විද්‍යාඥයාගේ බෑගය පරීක්ෂා කරමින් හුන් ගෝත්‍රිකයාට එ තුළ තිබී රත් පැහැ ද්‍රාවණයක් පුරවා තිබූ

කුඩා බෝතලයක් හා කිකිළි බිත්තරයකට මඳක් විශාල වූ කහ පැහැති වීදුරු බිත්තරයක් හමු වුණි.

"මේ මොනවද?" ඔහු විචාළේය.

"ඒක තමයි දාර්ශනිකයාගේ පාෂාණය. අනික ජීවාත්මය. ඔව්වා තමයි රස විද්‍යාඥයාගේ මහා නිමැවුම්. ජීවිතාමෘතය පානය කරන කෙනෙක් නැවත කිසිම දිනෙක රෝගී වෙන්නෙ නෑ. ඔය පාෂාණයේ එක අංශුවකින් ඕනම ලෝහයක් රත්තරං බවට හරවන්න පුළුවනි."

අරාබීන් ඔහුට සිනා වෙද්දී රස විද්‍යාඥයා තනිවම සිනා වුණේය. ඔහුගේ පිළිතුර විසුළු සහගත යැයි කල්පනා කළ අරාබීහු කොලුවාට සහ රස විද්‍යාඥයාට තම කලමනා සමඟින් ඔවුන්ගේ ගමන යන්නට ඉඩ දුන්හ.

"ඔබ උමතුවෙන්ද?" යළි ගමන පටන් ගත් පසුව කොලුවා රස විද්‍යාඥයාගෙන් ඇසීය. "ඇයි ඔබ ඒ වගේ දෙයක් කළේ?"

"ජීවිතේ ඉතාම සරල පාඩමක් නුඹට කියා දෙන්න." රස විද්‍යාඥයා පිළිතුරු දුන්නේය. "නුඹ ළඟ මහා නිධානයක් තියාගෙන, ඒ ගැන අනිත් මිනිස්සුන්ට කියන කොට කලාතුරකින් කෙනෙක් තමයි ඒක පිළිගන්නෙ."

ඔවුහු දිගටම කාන්තාරය මැදින් ගමනේ යෙදුණෝය. ගෙවෙනා හැම දවසක් ගානේම කොලුවාගේ හදවත වඩ වඩා නිහඬ වීය. අතීතය හෝ අනාගතය ගැන දැන ගැනීමට තව දුරටත් වුවමනා නොකළ එය මුළුමනින්ම කාන්තාරය අවලෝකනය කිරීමට හා කොලුවා සමඟ එක්ව විශ්වාත්මය බෙදා ගැනීමට හුරුව සිටියේය. කොලුවා හා හදවත යන දෙදෙන එකිනෙකා හා මිත්‍රත්වයෙන් බැඳී සිටි හෙයින් දැන් ඉතින් කිසි කෙනෙකුටත් තවත් දුර එකිනෙකා පාවා දීමේ හැකියාවක් තිබුණේ නැති.

ඉඳින්, යම් විටකදී හදවත කොලුවාට ආමන්ත්‍රණය කළේ නම් ඒ අන් කිසිවකට නොව ඔහුව ප්‍රබෝධමත් කිරීමට හා ශක්තිය ලබා දීමට පමණි. මන්ද යත් කාන්තාරයක් තුළ දින ගණනාවක් පවතින ගුප්ත නිහැඬියාව බෙහෙවින් වෙහෙසකර වන හෙයිනි. හදවත කොලුවාට ඔහුගේ වඩාත් ප්‍රබල ගුණාංග කවරේදැයි කියා දුන්නේය. ඒ වනාහී, බැටළු රංචුව අත හැරීමට හා තම ඉරණම ලුහුබැඳ යාමේ අරමුණ කරා කැපවීමට වූ ධෛර්යයයි. පළිඟු සාප්පුව තුළ ගත කළ කාලය තුළ අත් වින්දා වූ උද්යෝගයයි.

එසේම කොලුවා ගේ අවධානය කිසි විටෙක යොමු නොවුන යමක් පිළිබඳව ද හදවත ඔහුට කීවේය. කොලුවා කිසි විටෙක වටහා නොගත් එහෙත් ඔහුගේ ජීවිතයට තර්ජනයක් එල්ල කළා වූ අනතුරු පිළිබඳව හදවත මෙහිදී කතා කළේය.

කොලුවා තමාම තුවාල කර ගනීය යන බියෙන්, එක් වතාවකදී හදවත ඉදිරිපත් වී ඔහු තම පියාගෙන් අරගත් රයිෆලය සඟවා තැබූ අවස්ථාව ගැන හදවත කීය. එසේම දැඩි සේ රෝගාතුරව කෙත් බිමක් මත ඇද වැටී වමනය දමමින් සිටි කොලුවා ඉන්පසුව ගැඹුරු නින්දකට වැටුනාවූ දවස ගැනද හදවත කතා කළේය. කොලුවා මරා දමා බැටළු රංචුව පැහැර ගැනීමට සැලසුම් කරමින් සොරුන් දෙදෙනෙකු ඔහු යන මඟ ඉදිරියේ එක් අවස්ථාවක රැක හිඳ තිබුණි. එහෙත් කොලුවා උන් සිටි තැන පසුකර නොගියෙන් ඔහු තම ගමන් මඟ වෙනස් කර ඇතැයි සිතා සොරුද එතනින් බැහැර වීමට තීරණය කර තිබුණි.

"ඔය විදිහට මිනිහෙකුගේ හදවතක් හැම වෙලාවෙම එයාට උපකාර කරනවද?" කොලුවා රස විද්‍යාඥයාගෙන් ඇසීය.

"හුඟක් වෙලාවට තමුන්ගෙ ඉරණම ජය ගන්න උත්සාහ කරන අයට තමයි හදවත උපකාර කරන්නෙ. ඒත් ළමයින්ට, බේබද්දන්ට, වැඩිහිටියන්ට පවා උපකාර කරන වෙලාවලුත් තියෙනවා."

"ඒකෙන් අදහස් කරන්නෙ මං කවදාවත් අනතුරේ වැටෙන් නෑ කියන එකද?"

"ඒකෙ තේරුම හදවත ඉටු කරන්නෙ ඊට පුළුවන් දේවල් විතරය කියන එකයි." රස විද්‍යාඥයා කීවේය.

එක් හැන්දෑවකදී ඔවුහු ගෝත්‍රිකයන්ගේ කඳවුරු බිමක් පසුකර ගියෝය. කඳවුරේ හැම කොණකම පාහේ අලංකාර ධවල පිළියෙන් සැරසුණ අරාබිහු ආයුධ සූදානම් කරගත් වනම රුකවලේ යෙදුණෝය. හූකාවන් උරමින් පසු වූ මිනිස්සු යුද බිමේ කතාන්තර එකිනෙකාට කියමින් උන්නෝය. ඉන් කිසිවෙකුත් මේ සංචාරකයන් දෙදෙනා කෙරේ අවධානයක් යොමු කළේ නැති.

"එතන ඇති අනතුරක් නෑ." ඔවුන් එම කඳවුරු බිම පසු කළ පසු කොලුවා කීවේය.

රස විද්‍යාඥයාගේ හඬෙහි වූයේ කෝපයයි. "නුඹේ හදවතට කන් දීපන්. හැබැයි කොයිම වෙලාවකවත් තමුන් ඉන්නෙ කාන්තාරේ බව අමතක කරන්න එපා. මිනිස්සු තවත් මිනිස්සු එක්ක යුද වැදිලා ඉන්න කොට විශ්වාත්මයට ඇහෙන්නෙ රණ ඝෝෂාව විතරයි. මේ ඉර යට තියෙන හැම දේකින්ම ඇතිවෙන ප්‍රතිඵල නිසා විඳවන්නෙ නැතිව ඉන්න පුළුවන්කමක් ඇති කිසිම කෙනෙක් නෑ."

"හැම දෙයකම ඒකීයත්වයක් තියෙනවා." කොලුවා එසේ කීවේය. එසේම රස විද්‍යාඥයා නිවැරදි යැයි ඔප්පු කරන්නට කාන්තාරයට වුවමනාව තිබේ යැයි පෙනෙන

විටම වාගේ සංචාරකයින් දෙදෙනා පසුපසින් අසරුවෝ දෙදෙනක් මතු වුණෝය.

"උඹලට තවත් දුර යන්න දෙන්න බෑ." ඉන් එකෙක් කීවේය. "නුඹල මේ ඉන්නෙ ගෝත්‍රිකයෝ යුද වැදිල ඉන්න පළාතක."

"මම තවත් මහ ගොඩ දුරක් යන්නෙ නෑ." අසරුවාගේ දෑස් වෙත කෙලින්ම බලමින් රස විද්‍යාඥයා පිළිතුරු දුන්නේය. මොහොතක් නිහඬව සිටීමෙන් අනතුරුව ඔවුහු කොලුවාට හා රස විද්‍යාඥයාට දිගටම යාමට ඉඩ දීමට එකඟ වූවෝය.

කොලුවා ඔවුන්ගේ වෙනස් වීම බලා සිටියේ වශී වූණාක් මෙනි. "ඔබ ඔවුන්ව යටපත් කරගත්තෙ ඔවුන් දිහා බලාපු විදිහෙනුයි." ඔහු කීය.

"නුඹේ දෑසින් නිරූපණය වෙන්නෙ ආත්මය තුළ තියෙන ශක්ති ප්‍රවාහයයි." රස විද්‍යාඥයාගේ පිළිතුර වූවේ එයයි.

"ඒක නං ඇත්ත." කොලුවා කල්පනා කළේය. කඳවුරු භූමිය තුළ අවිගත් පිරිසකට මැදිව උන් අවස්ථාවකදීද මෙවැන්නක්' දුටු බව කොලුවාට කල්පනා වුණි. එතැන දෙවැන්නෙක් වෙත අචලව දෙනෙත් යොමා හුන් පළමුවැන්නෙක් සිටි බවත් එහෙත් ඔහු උන්නේ අනෙකාට තම මුහුණ පවා නොපෙනෙන තරම් දුරකින් බවත් කොලුවා දුටුවේය. කෙසේ වෙතත් එම පළමුවැන්නා ඔවුන් දෙස බලා උන් බව නම් කොලුවාට සහතිකය.

අන්තිමේදී, ඔවුන් මුළු මහත් ක්ෂිතිජය දිගටම විහිද තිබූ කඳුකර ප්‍රදේශය තරණය කළ ඉක්බිති කතා කළ රස විද්‍යාඥයා ඔවුන් දැන් මේ ඉන්නේ පිරමීඩ වලට දින දෙකක දුරින් බව කීය.

"ඔන්න ඉතිං ඉක්මනටම අපි එකිනෙකාගෙන් වෙන් වෙන්න නං මේ යන්නෙ... " කොලුවා කීවේය. "එහෙම නං මට රස විද්‍යාව උගන්වන්න."

"දැනටමත් තුඹ රස විද්‍යාව ගැන දන්නවා. ඒකෙන් කියවෙන්නෙ විශ්වාත්මය විනිවිද ගිහින් තමුන් උදෙසා වෙන් වෙලා තියෙන්නා වූ නිධානය හාරා පාදා ගැනීම ගැනයි."

"නැහැ! ඒක නෙමෙයි මං අදහස් කළේ. මං කතා කරන්නෙ ලෝහ රන් බවට හැරවීම ගැනයි." එවිට කාන්තාරය මෙන් නිහැඬියාවක ගිලුණ රස විද්‍යාඥයා යළිත් කතා කළේ දෙදෙන ආහාර ගැනීම පිණිස නතර වූ විට පමණි.

"විශ්වය තුළ තියෙන හැම දේම අනවරත විකාශනයකට ලක් වෙනවා." ඔහු කීවේය. "ඉතිං බුද්ධිමතුන්ගේ මතයට අනුව නං රත්තරං කියල කියන්නෙ අන්තිම දක්වාම පරිණාමය වූ ලෝහය. මගෙන් ඇයි කියල විතරක් අහන්න එපා. හේතුව මං දන්නෙ නෑ. මං දන්න එකම දේ හැම වෙලාවෙම නිවැරදි වුනේ සම්ප්‍රදාය කියන එක විතරයි."

"කිසිම දවසක මිනිස්සු ප්‍රඥාවේ වදන් අවබෝධ කරගන්නෙ නෑ. ඒ නිසා රත්තරං පරිණාමයේ සංකේතයක් හැටියට නිරූපණය නොවී යුද්ධ වලට පදනමක් බවට පත්වෙනවා."

"සත්ත්වයන් කතා කරන භාෂාවන් බොහෝමයක් තියෙනවා." කොලුවා කීවේය. "ඔටුවකුගේ තප්පු ලෑම නිකම්ම නිකම තප්පු ලෑමකට වඩා දෙයක් හැටියට මට නොදැනුන කාලයක් තිබුණා. ඊළඟට ඒ කෑගැහිල්ලම මට අනතුරු අඟවන සංඥාවක් බවට පත් වුණා. ඉතිං අන්තිමේදී දැන් ඒක ආයෙමත් නිකම්ම නිකං කෑගැහිල්ලක් විතරක් වෙලා."

එහෙත් ඔහු එතනින් කතාව නැවතීය. සමහර විට රස විද්‍යාඥයා දැනටමත් මේ සියල්ල දන්නවා විය යුතුය.

"මං දන්න තියම රස විද්‍යාඥයොත් හිටියා." රස විද්‍යාඥයා දිගටම කියාගෙන ගියේය. "ඒගොල්ල තමුන්ගෙ විද්‍යාගාර ඇතුලට වැදිල දොර අගුල් දාගෙන අර රත්තරං වගේ විකාශනයක් කරන්න උත්සාහ දැරුවා. ඉතිං යමක් පරිණාමය වෙන කොට ඒ වටා තියෙන අනික් හැම දේමත් පරිණාමය වෙන බව වටහා ගත්ත නිසා ඔවුන්ට දාර්ශනිකයාගේ පාෂාණය හමු වුණා."

"තවත් අයට මේ පාෂාණය අහම්බෙන් හමු වුණා. හැබැයි එතකොටත් ලෝහ රන් බවට හරවන ශක්තිය ඔවුන් වෙත තිබුණා. අනිත් අයගෙ ආත්මයන්ට වඩා ඔවුන්ගේ ආත්මයන් ඒ සඳහා සූදානම් වෙලයි හිටියෙ. ඒත් ඔවුන් ඒක මායිං කළේ නෑ. අන්න ඒ වගේ අය දුර්ලභයි."

"එතකොට රත්තරං ගැන විතරක් කල්පනා කරපු අයත් හිටියා. හැබැයි ඒ ගොල්ල කවමදාවත් රහස වටහා ගත්තෙ නෑ. මිනිරත්, තඹ වගේම යකඩ යන මේ දේවලටත් ඉටු කරගත යුතු තම තමන්ගේ ඉරණම් තියෙන බව ඔවුන් අමතක කළා. අනික, තවත් කෙනෙකුගේ ඉරණමට ඇඟිලි ගහන කිසිම කෙනෙකු තමුන්ගෙම ඉරණම වටහා ගන්නෙ නෑ කවමදාවත්."

රස විද්‍යාඥයාගේ වදන් සාපයක් මෙන් වාතලය පුරා රැව් දුනි. පොළොවට නැමුන ඔහු එහි වූ බෙලි කටුවක් ඇහිඳ ගති.

"මේ කාන්තාරෙත් කාලෙකට ඉස්සර මුහුදක්." ඔහු කීවේය.

"මටත් ඒක පෙනුණා." කොලුවාද පිළිතුරු දුනි.

එම සිප්පි බෙල්ලා කණ ළඟට කිට්ටු කර බලන මෙන් රස විද්‍යාඥයා කොලුවාට කීවේය. ළදරු වියේදී බොහෝ වතාවක් ඔහු මෙසේ කර ඇති අතර ඒ හැම වතාවකදීම ඔහුට ඇසුණේ මහා සමුද්‍රරෙහි හඬ ගෑමයි.

"මුහුද මේ බෙලි කටුවෙන් රැකවරණය ලබාගෙන තියෙනවා. මොකද එය ඇගේ ඉරණම වූ නිසා. ඉතිං ආයෙ කවදා හරි මේ කාන්තාරෙ වතුරෙන් යට වෙන තුරාම ඇය තමුන් ගේ මේ හඬගෑම නවත්තන්නෙ නෑ."

අනතුරුව තම අසුන් පිට නැග ගත් ඔවුහු ඊජිප්තුවේ පිරමීඩ ඇති දිශාව බලා අසුන් විහිදන්නට පටන් ගත්තෝය.

* * *

කොලුවාගේ හදවතින් අනතුරක් පිළිබඳ සංඥාවක් නිකුත් වෙන විට ඉර බැස යමින් තිබුණි. විසල් වැලි කඳු වලින් ඔවුන් වටවී සිටි අතර, රස විද්‍යාඥයාටද කිසියම් දෙයක් දැනී ඇත්දැයි දැන ගැනීමේ අපේක්ෂාවෙන් කොලුවා ඔහු දෙස නෙත් හෙළීය. එහෙත් ඔහු වෙතින් දිස් වූයේ අනතුර ගැන කිසිම දෙයක් නොදන්නා බවයි. මිනිත්තු පහක් ගත වෙද්දී තමුන් ඉදිරියේ අසරුවන් දෙදෙනෙකු බලා ඉන්නා බව කොලුවා දිටීය. එහෙත් ඒ ගැන රස විද්‍යාඥයාට යමක් කීමට පෙරාතුව අසරුවෝ දෙදෙනා දහයක් බවට, එසැනින් සියයක් බවට පත් වූහ. අනතුරුව වැලි කඳු අතර හැම දෙසින්ම ඔවුහු මතු වෙන්නට පටන් ගත්හ.

ඔවුහු වනාහී නිලෙන් සැරසී හිස බැඳි තලප්පා වටා කළු වලල්ලක් දමා සිටි ගෝත්‍රිකයෝය. නිල් පැහැ මුහුණු ආවරණය තුල ඔවුන්ගේ මුහුණු සැඟවී දෑස් පමණක් පෙනෙන්නට තිබුණි.

දුර සිට වුවත් එම දෑස් ගෙන ආවේ ඔවුන්ගේ ආත්මයන් තුළ පැවතියා වූ ශක්තියයි. එසේම ඔවුන්ගේ දෑස් වලින් පළ වූවේ මරණයයි.

* * *

ඔවුන් දෙදෙන ළඟ වූ හමුදා කඳවුරක් වෙත ගෙන යන ලදී. එක් සොල්දාදුවෙක් ප්‍රධානියෙකු තම නිලධාරීන් සමඟ සාකච්ඡා පවත්වමින් සිටි කූඩාරමක් තුළට කොලුවා සහ රස විද්‍යාඥයා තල්ලු කර දැමීය.

"මුං ඔත්තුකාරයෝ." ඉන් එක් මිනිසෙක් කීවේය.

"අපි නිකම් සංචාරකයෝ විතරයි." රස විද්‍යාඥයා පිළිතුරු දුනි.

"තුන් දවසකට කලියෙන් උඹල අපේ හතුරන්ගෙ කඳවුරේ හිටි බව එලිවෙලා තියෙනවා. ඒ විතරක් නෙවෙයි උඹලා උන්ගෙ සොල්දාදුවෙක් එක්ක කතා කර කර ඉඳලත් තියෙනවා."

"මම තාරකා ගැන දන්න ඒ වගේම කාන්තාරෙ හරහා ඇවිදින නිකම් මිනිහෙක්." රස විද්‍යාඥයා කීවේය. "හට කණ්ඩායම් හරි ගෝත්‍රිකයන් ගේ කටයුතු ගැන හරි මං දන්න තොරතුරක් නෑ. මම මේ ඉන්න මගේ මිත්‍රයාගේ මඟ පෙන්වන්නා හැටියට කටයුතු කරනවා විතරයි."

"කවුද මේ උඹේ යාලුවා." ප්‍රධානියා ඇසීය.

"රස විද්‍යාඥයෙක්." රස විද්‍යාඥයා කීවේය. "එයාට ස්වභාව ධර්මයේ බලයන් පිළිබඳව වැටහෙනවා. දැන් එයාට ඕන වෙලා තියෙන්නෙ අන්න ඒ අසාමාන්‍ය බලයන් ඔබලාට පෙන්වල දෙන්නයි."

කොලුවා සන්සුන් ලෙස එහෙත් බියෙන් යුතුව ඇහුම්කන් දීගෙන සිටියේය.

"පරදේශක්කාරයෝ මෙහෙට වෙලා මොනව කරනවද?" තවත් මිනිහෙක් විමසුවේය.

"එයා ඔබේ ගෝත්‍රයට මුදල් අරං ඇවිත් තියෙනවා." කොලුවාට වචනයක් වත් කීමට ඉඩ ලැබෙන්නට පළමුව රස විද්‍යාඥයා කීවේය. අනතුරුව කොලුවාගේ බෑගය ඩැහැගත් රස විද්‍යාඥයා රන් කාසි ගෙන ප්‍රධානියා හට පිරිනැමුවේය.

වදනකුදු නොදොඩා ප්‍රධානියා ඒ පිළි ගති. ඔවුනට ආයුධ තොගයක් මිළට ගැනීටම සෑහෙන තරම් රත්තරං එහි තිබුණි.

"හොඳයි. රස විද්‍යාඥයෙක් කියන්නෙ මොකෙක්ද කියමු බලන්න." අන්තිමේදී ඔහු ඇසීය.

"රස විද්‍යාඥයා කියන්නෙ ස්වභාව ධර්මය හා ලෝකය වටහා ගන්න පුළුවන් කෙනෙකුට. ඉතිං එයාට ඕන නම් හුළං බලයෙන් මේ කඳවුර වනසල දාන්න වුනත් පුළුවනි."

එවිට මිනිස්සු සිනා වූවෝය. යුද්ධයෙන් හොඳ හැටි පත්තියම් වී සිටි ඔවුහු, සුළඟට තමන් වෙත මාරක ප්‍රහාරයක් එල්ල කළ නොහැකි බව දැන සිටියෝය. එහෙත් ඒ සමඟම තම හෘද ස්පන්දනය මඳක් වේගවත් වනුද ඔවුනට දැනුණි. කාන්තාරයේ පුත්‍රයන් වූ ඔවුහු භූතියම්කරුවනට බෙහෙවින් බිය වූවෝය.

"එයා ඒක කරනව බලන්න මට ඕනෑ." ප්‍රධානියා කීවේය.

"ඒකට එයාට තුන් දවසක් ඕනෑ." රස විද්‍යාඥයා පිළිතුරු ලෙස කීවේය. "තමන්ගෙ බල පරාක්‍රමය පෙන්නන්න

එයා විහිත් සුළඟක් බවට පත් වේවි. ඉතිං බැරි වෙලාවත් එයාට ඒක කරන්න බැරි වුණොත් ඔබේ ගෝත්‍රයේ ගෞරවය උදෙසා අපි අපේ ජීවිත පූජා කරන්න සූදානම්."

"දැනටමත් මගෙ සන්තකයේ තියෙන දෙයක් මට පිළිගන්වන්න උඹලට බැහැ." ප්‍රධානියා අහංකාර පරවශව කීය. කෙසේ වෙතත් ඔහු සංචාරකයනට තුන් දවසක් කල් දුන්නේය.

කොලුවා බියෙන් වෙවුලන්නට පටන්ගෙන සිටි මුත්, රස විද්‍යාඥයා ඔහුට කූඩාරමෙන් එළියට ඒමට උදව් කළේය.

"නුඹ බය වෙලා ඉන්න බව විතරක් මොවුන්ට පේන්න අරින්න එපා." රස විද්‍යාඥයා කීවේය. "උන් නිර්භීත මිනිස්සු. ඒ නිසා උන් බියගුල්ලන්ව නීචයන් කියල සළකනවා."

එහෙත් කොලුවාට තොල කට සොලවා ගැනීමට පවා බැරිය. ඔහුට කතා කර ගැනීමටවත් හැකි වුණේ ඔවුන් කඳවුරු බිමේ මැදින් ඇවිද ගිය පසුව පමණි. කෙසේ වෙතත් ඔවුන්ව සිරගත කිරීමේ අවශ්‍යතාවක් නොවී. අරාබීන් ඔවුනගේ අසුන් රඳවාගෙනය. මෙසේ යළිත් වරක් ලෝකය ඇගේ භාෂාවන් රැසකින් කතා කරලාය. මොහොතකට කලියෙන් කාන්තාරය නිම් හිම් නැති එමෙන්ම නිදහස් ප්‍රදේශයක්ව තිබුණද දැන් එය බිඳගෙන යා නොහැකි පවුරක් බවට පත් වෙලාය.

"මං සන්තකේට තිබ්බ හැම දොයිතුවක්ම ඔබ උන්ට දීලා දැම්මා." කොලුවා කීවේය. "අනේ මං මුළු ජීවිත කාලෙ පුරාම ඉතිරි කරගත්ත සේසතම."

"හොඳයි, නුඹට මැරෙන්න තම් සිද්ධ වෙලා තියෙන්නෙ, ඔය සම්පත් වලින් ඇති පලේ මොකක්ද?" රස

විද්‍යාඥයා උත්තර දුන්නේය. "නුඹේ සල්ලි වලින් අපේ ජීවිත තුන් දොහක් බේරේවි. හුඟ වෙලාවට නම් සල්ලිවලින් මිනිහෙකුගේ ජීවිතේ බේරෙන්නෙ නෑ."

එහෙත් කොලුවා උන්නේ ප්‍රඥාවේ වදන් වලට සවන් දීමට බැරි තරමට බියපත්වය. තමා සුළඟක් බවට පත්වෙන්නේ කෙසේ දැයි ඔහුට කිසිදු අදහසක් නැත. කොහොමටවත් ඔහු රස විද්‍යාඥයෙක් නම් නොවේ.

සොල්දාදුවෙකුට කතා කර තේ ටිකක් ඉල්ලා ගත් රස විද්‍යාඥයා ඉන් ටිකක් කොලුවාගේ අතේ මැණික් කටුව මතට වත් කළේය. එසැනින් සහනදායී හැඟීමකින් කොලුවා නැහැවී ගිය අතර රස විද්‍යාඥයා එතෙක් ඔහු අසා නොතිබූ වදන් පෙලක් මැතිරීය.

"බියගුලුකමට විතරක් යට වෙන්න එපා." අමුතු මෘදු බවක් පළ කරමින් රස විද්‍යාඥයා පැවසීය. "නුඹ එහෙම බය වුණොත් කවදාවත් නුඹට හදවතට සවන් දෙන්න බැරි වේවි."

"ඒත් මොන විදිහටද මං සුළඟක් බවට පත් වෙන්නෙ කියන එකනං මට මොන තාලෙන් වත් හිතා ගන්න බෑ."

"කෙනෙක් තම ඉරණම ජය ගන්න උත්සාහ දරනව නං ඔහු තමුන් දැනගත යුතු හැම දේම අවබෝධ කර ගන්නවා. ඉතිං යමෙකුගේ සිහිනයක් සැබෑවීම වලකිතොත් ඒ එකම එක හේතුවක් නිසා විතරයි. ඒ තමයි අසාර්ථක වේය කියන බය."

"අසාර්ථක වීමක් පිළිබඳව මගේ ඇති බයක් නෑ. කාරණේ සුළඟක් බවට පත් වෙන්නෙ කොහොමද කියල මං නොදන්නා එකයි."

"ඒත් නුඹට ඒක ඉගෙන ගන්න වෙනවා. දැන් නුඹේ ජීවිතේ රැඳිල තියෙන්නෙ ඒක මතයි."

"ඉතිං මට බැරි වුණොත්?"

"එතකොට නුඹට ඉරණම හොයාගෙන යන ගමනෙ අතර මඟදී මිය යන්න සිද්ධ වේවි. හැබැයි තමුන්ගෙ ඉරණම කියන්නෙ මොකක්ද කියලවත් නොදන්න දශ ලක්ෂ ගණනක් මිනිස්සු වගේ මැරෙනවට වඩා මේක දාහෙන් සම්පතයි."

"හැබැයි විස්සෝප වෙන්න එපා." රස විද්‍යාඥයා දිගටම කියාගෙන ගියේය. "සාමාන්‍යයෙන් මිනිස්සුන්ට, තම ජීවිත ගැන වඩ වඩා දැනුවත් වෙන්න මඟ පෙන්වන්නෙ මරණ භය කියන එකයි."

* * *

පළමු දවස ගෙවුණේය. ළඟ පාතම දරුණු යුද්ධයක් ඇවිලෙමින් තිබුනෙන් තුවාලකරුවන් ගණනාවක් කඳවුරු බිම කරා රැගෙන එන ලදී. මිය ගියවුන් ගේ හිස් තැන් අනිකුත් අය විසින් පුරවමින් ජීවිතය ඉදිරියට ඇදී ගියේය. 'මරණයෙන් කිසිම දෙයක් වෙනස් වෙන්නෙ නෑ' යි කොලුවා ඒ අතර කල්පනා කළේය.

"නුඹට මැරෙන්න තිබුණේ තව පහුවෙලයි." එක් සොල්දාදුවෙක් තම සටන් සගයකුගේ සිරුර හා කතා කරමින් පසු වුණේය. "උඹට මැරෙන්න තිබ්බෙ සාමය ප්‍රකාශ කළාට පස්සෙයි. ඒත් දැන් මොන ක්‍රමෙන් හරි උඹට මැරෙන්න සිද්ධ වෙලා."

දවස නිමාවේදී කොලුවා, දඩයම් පිණිස සිය උකුස්සාද කැටුව කාන්තාරයට ගොස් සිටි රස විද්‍යාඥයා සොයා ගියේය.

"සුළඟක් වෙන්නෙ කොහොමද කියන එක ගැන නාමත් මට කිසිම අදහසක් නැනෙ." කොලුවා යළිත් කීවේය.

"මං කිව්වෙ මොනවද කියල ආයෙත් මතක් කර ගන්න. ලෝකය කියන්නෙ දෙවියන් වහන්සේගේ දෘෂ්‍යමාන ස්වරූපය. රස විද්‍යාවෙන් කෙරෙන දේ තමයි ද්‍රව්‍යමය තලයන් සමඟ සම්බන්ධ වනු පිණිස අධ්‍යාත්මික පූර්ණත්වය රැගෙන එන එක."

"ඔබ ඔය මොකද කරන්නෙ?"

"මගේ උකුස්සට කන්න දෙනවනේ"

"බැරි වෙලා හරි මට සුළඟක් වෙන්න බැරි වුණොත් අපිට මැරෙන්නයි වෙන්නෙ." කොලුවා කීවේය. "එහෙව් එකේ මොනවටද ඔය උකුස්සව නඩත්තු කරන්නෙ?"

"මැරෙන එකම කෙනා තුඹයි." රස විද්‍යාඥයා කීවේය. "සුළඟක් වෙන්නෙ කොහොමද්දයි කියල මම නං දූනටමත් දූනගෙනයි ඉන්නෙ."

* * *

දෙවැනි දවසේදී කොලුවා කඳවුර අසල වූ කඳු ගැටයක් මතට නැඟ ගත්තේය. තමාව සුළඟක් බවට පත් කිරීමට හැකියාවක් ඇති හූනියම් කාරයා ගැන අසා සිටි සෙබලුනට ඔහු අසලටවත් යාමට අවශ්‍ය නොවූයෙන් ඔවුහු කොලුවාට රිසි පරිදි යාමට ඉඩ හැරියෝය. අනෙක් අතට මේ කාන්තාරය යනු තරණය කළ නොහැකි බිමයි.

දෙවැනි දවසේ මුළු සැඳෑ වරුවම කොලුවා කළේ කඳු ගැටය මත වාඩි වී කාන්තාරය දෙස බලා හිඳිමින් තම හදවතට දිගින් දිගටම සවන් දීමයි. එසේ හුන් කොලුවා කාන්තාරයට තම බිය වැටහෙන බව දූන ගත්තේය.

ඔවුන් දෙදෙනාම එවිට කතා කළේ එකම භාෂාවයි.

* * *

තෙවෙනි දවසේදී ප්‍රධානියා තම නිලධාරීන් හමු වූවේය. එම රැස්වීමට රස විද්‍යාඥයාටද ඇරයුම් කළ ඔහු මෙසේ කීයඃ

"තමන්ට සුළඟක් වෙන්න පුළුවන් ය කියපු අර කොල්ලව බලන්න යමු."

රස විද්‍යාඥයා එකඟ වුණේය.

කලින් දා සවස තමා රැඳී හුන් කඳු ගැටය මතට කොලුවා එම පිරිස කැන්දාගෙන ගියේය. එහිදී ඔහු සියලුම දෙනාගෙන් එහි බිම වාඩිවෙන මෙන් ඉල්ලා සිටියේය.

"හැබැයි මේ වැඩේට තරමක් වෙලා යයි." කොලුවා අනතුරුව කීය.

"අපිට කලබලයක් නෑ." ප්‍රධානියා පිළිතුරු දුන්නේය. "මොකද අපි කාන්තාරෙ මිනිස්සු."

එවිට කොලුවා ක්ෂිතිජය වෙත නෙත් හෙලුවේය. දුරින් කඳු පෙළ පිහිටා තිබුණේය. කිසිදු ආකාරයක ගැලවීමක් නැතිවා සේ පෙනුනු එහි, ජීවිතය විසින් ඉල්ලා සිටි කඳු, වැලි කඳු හා ගහ කොළද තිබුණි. මාස ගණනක් පුරා ඇවිද ගිය මුත් ඉන් සුළු කොටසක් පමණක් දැක ගන්නට ලැබුණු විසල් කාන්තාරය ඔහු වටකොට ගෙන සිටියේය. කෙසේ වෙතත් කොලුවා දැන කියාගත් මේ සුළු කොටස තුළ ඔහුට ඉංග්‍රීසිකාරයෙක්, තවලම්, ගෝත්‍රික යුද්ධ මෙන්ම තල්ගස් පණස් දහසක් හා ළිං තුන් සියයකින් සැදි ක්ෂේම භූමියද හමු වී තිබුණේය.

"මොනවද අද නුඹට ඕන කරල තියෙන්නෙ?" කාන්තාරය කොලුවාගෙන් ඇසීය. "ඇති පදම් වෙලා නුඹ ඒයේ මං දිහා බලා උන්නෙ නැද්ද?"

"ඔබ කොතන හරි මං ආදරය කරන කෙනාව රඳවන් ඉන්නවා." කොලුවා එවිට කීවේය. "ඉතිං ඔබ දිහා බලා ඉන්නවා කියන්නෙ මං ඈ දිහා බලා ඉන්නවා කියන එකයි. මට ඇය ළඟට ආපහු යන්න ඕනෑ. ඉතිං ඒකට මට ඔබේ උපකාරය ඕනෑ. මට සුළඟක් බවට පත්වෙන්න පුළුවන් වෙන්නෙ එතකොටයි."

"ආදරේ කියන්නෙ කොහොම දෙයක්ද?" කාන්තාරය ප්‍රශ්න කළේය.

"ආදරය කියන්නෙ ඔබ මතින් සරනා උකුස්සාගේ පියාසැරියටයි. මොකද උකුස්සට හැම වෙලාවෙම දඩයම් සමඟින් ආපහු එන්න ඉඩ හදල දෙන ඔබ, ඌට හරිත වර්ණ කෙතක් වගේ. ඌ ඔබේ ගල් කඳු වැලිපර වගේම කඳු පංතීන් ගැන දන්නවා. ඒ වගේම ඔබත් ඌට ත්‍යාගශීලීත්වය දක්වනවා."

"ඒත් උකුස්සා උගේ තුඩගින් මාව, මගෙන් ටික ටික අරගෙන යනවා." කාන්තාරය කීවේය. "අවුරුදු ගාණක් තිස්සෙ ළඟ තියෙන වතුර ස්වල්පය දෙමින් මං උගෙ දඩයම පෝෂණය කර රැක බලා ගන්නවා. ඊළඟට මම ඌට දඩයම තියෙන තැන පෙන්නලා දෙනවා. ඉතිං උගේ දඩයම මගේ සිරුර මතදී සම්පූර්ණ වෙනවා දැකල මං සතුටු වෙන කොටම උකුස්සා ආකාසෙන් පාත් වෙලා මා විසින් මවනු ලැබූ දේ ඩැහැගෙන යනවා."

"හැබැයි, ඔබ මේ සියල්ලටම පළමුවෙන් දඩයමක් නිර්මාණය කරන්නෙ ඒ නිසාම තමයි." කොලුවා පිළිතුරු දුනි. "උකුස්සව පෝෂණය කරන්න. ඉතිං එතකොට උකුස්සා

මිනිස්සුන්ව පෝෂණය කරනවා. ඊළඟට මිනිසා ඔබේ වැල්ල, ඒ කියන්නෙ යළිත් වතාවක් අර උකුසු දඩයම බිහිවෙන බිම පෝෂණය කරනවා. ඔන්න ඔය විදිහට තමයි මේ ලෝකෙ පවතින්නෙ."

"එතකොට ආදරේ කියන්නෙ ඕකටද?"

"ඔව්. ඒ තමයි ආදරේ. ඒකෙන් තමයි දඩයමෙන් උකුස්සා උකුස්සාගෙන් මිනිසා, ඒ වගේම මිනිසාගෙන් ආයෙත් කාන්තාරය පෝෂණය කෙරෙන්නෙ. ආදරයෙන් තමයි ලෝහ රන් බවට පත්වෙලා ආයෙත් ඒ රත්තරං මහ පොළොවට පැමිණෙන්නෙ."

"ඔබ ඔය කියන්නෙ මොනවද කියල මට නම් තේරෙන්නෙ නෑ." කාන්තාරය ඒ අසා සිට කීවේය.

"කොහොම වුණත්, ඔබේ ඔය නිම් හිම් නැති වැලි තලාවේ කොතන හරි තැනක මාව බලාපොරොත්තුවෙන් ඉන්න කාන්තාවක් ඉන්නවා කියන එකවත් ඔබට තේරුම් ගන්න පුළුවන්නෙ. අන්න ඒ නිසා තමයි මට මාව සුළඟක් බවට හරවා ගන්න අවශ්‍ය වෙලා තියෙන්නෙ."

සුළු මොහොතක් යනතුරු කාන්තාරය ඔහුට පිළිතුරු දුන්නේ නැති.

අනතුරුව කාන්තාරය කොලුවා ඇමතීය. "මං මගේ වැල්ල ඔබට සුළං හමන්න උපකාර කරවන්න දෙන්නම්. ඒත් මට තනියෙම කරන්න පුළුවන් දෙයක් නෑ. ඔබට සිද්ධ වෙනවා සුළඟේ උපකාරය ඉල්ලා හිටින්න."

මඳ සුළඟක් හමන්නට පටන් ගති. කොලුවාට මඳ දුරක් එහායින් නැවතී බලා සිටි ගෝත්‍රිකයෝ කොලුවාට නොවැටහෙන භාෂාවකින් එකිනෙකා හා කතා බහ කරන්නට පටන් ගත්හ.

රස විද්‍යාඥයා වෙතින් මඳ සිනාවක් පළ වුණි.

හමා ආ සුළඟ කොලුවා වෙත පැමිණ ඔහුගේ මුහුණ ස්පර්ශ කළේය. සැම දෙයක්ම පාහේ දන්නා සුළඟ කොලුවා හා කාන්තාරය අතර වූ කතා බහද දැන සිටියේය. ජන්ම ලාභය ලැබූ තැනක් නොමැතිව, එසේ මියෙන්නටද තැනක් නොමැතිව සුළඟ ඔහේ ලොව පුරා හමා ගියේය.

"අනේ මට පිහිට වෙන්න." කොලුවා අයැද සිටියේය. "එක දවසක් දා ඔබ මා වෙත මං ආදරය කරනා ගෑණු ළමයාගේ හඬ අරං ආවා."

"කාන්තාරෙයි සුළඟෙයි භාෂාව ඔබට කියා දුන්නෙ කවුද?"

"මගේ හදවත." කොලුවා පිළිතුරු දුන්නේය.

සුළඟට බොහෝ නම් තිබුණි. සමුද්‍රේ සිට නැගෙනහිර බලා තෙතමනය රැගෙන ගිය හෙයින් මේ කොටසේදී එය හඳුන්වනු ලැබුවේ 'සිරොකෝ' යන නමිනි. ඉතින් කොලුවා පැමිණි අර දුරු රටේදී නම් මෙය හඳුන්වනු ලබන්නේ ලැවෙන්ටර් සුළඟ කියාය. ඒ සමඟින් කාන්තාරයේ වැලි හා මරක්කලයන් ගේ රණ කෙළි වල හඬ රැගෙන එතැයි එහි විසූවන් විශ්වාස කළ හෙයිනි. සමහර විට කොලුවාගේ බැටළුවන් ජීවත් වූ තණ බිම් වලට ඔබ්බෙන් වූ ස්ථානයන් හි විසූ මිනිසුන් කල්පනා කළේ මේ සුළඟ එන්නේ අන්දාලුසියාවේ සිට කියාය. එහෙත් සත්‍ය නම් සුළඟ කොහේ සිට හෝ නොපැමිණි සේ ම කොහේවත් නොගිය බවයි. සුළඟ කාන්තාරයටද වඩා බලවත් වන්නේ එහෙයිනි. මතු යම් දවසක යම් කිසිවෙකු විසින් මේ කතර මත ගහකොළ සිටුවා බැටළුවන් පවා ඇති කරනු ලැබිය හැකි වුවද කිසිම දිනෙක ඔවුන් සුළඟ පාලනය කිරීමට නම් සමත් වෙනු නැත්තේමය.

"ඔබට බෑ සුළඟක් වෙන්න." සුළඟ කීවේය. "අපි සම්පූර්ණයෙන්ම එකිනෙකාගෙන් වෙනස් දෙකොටසක්."

"ඒත් ඒක ඇත්ත නෙවෙයි." කොලුවා කීය. "මගේ සංචාර වලදී මම රසවිද්‍යාඥයාගෙන් ඉගෙන ගත්තා සුළඟ, කාන්තාර, මුහුදු, තාරකා වගේම විශ්වය තුළ මැවිලා තියෙන හැම දේම මා තුළ පවතිනවයි කියල. අපි හැමෝම මවනු ලැබ තියෙන්නේ එකම මැවුම්කාර හස්තයකින්. ඒ වගේම අපි කාගෙත් ආත්මය එකක්. මට ඕනෑ ඔබ වගේ වෙන්න. මගෙ නිධානෙ වහගෙන ඉන්න වැල්ල පිඹල දෙන්න. ඒ වගේම මගේ ආදරය දිනාගත් කාන්තාවගේ හඬ ලෝකය පුරා අරං යන්න."

"පහු ගිය දවසක ඔබ රසවිද්‍යාඥයා එක්ක කතා කළ දේවල් මට ඇහුණා." සුළඟ කීවේය. "එයා කිව්වෙ හැම දේකටම ඊටම විශේෂ වුන ඉරණමක් තියෙනවා කියලයි. ඒත් මිනිස්සුන්ට නම් කවදාවත් බෑ සුළඟක් වෙන්න."

"එක මිනිත්තු කීපෙකට විතරක් සුළඟක් වෙන හැටි මට කියා දෙන්න." කොලුවා ඇවිටිලි කළේය. "එතකොට ඔයාටයි මටයි පුළුවනි මිනිස්සුන්ගෙයි සුළඟෙයි සීමා රහිත හැකියාවන් ගැන කතාබහ කරන්න."

සුළඟේ කුතුහලය ඇවිස්සුණි. මෙවැන්නක් මීට පෙර කිසිම දිනෙක හෝ සිදුව තිබුණේ නැති. ඔහුට මේ දේවල් පිළිබඳව සාකච්ඡා කිරීමට ඇවැසි වුන මුත් මිනිසෙකුව සුළඟක් බවට හරවන හැටි නම් දැන සිටියේ නැති. එහෙත් සුළඟක් දන්නා දේවල් මොන තරම් දැයි බලනු මැනවි. එය කාන්තාර නිර්මාණය කරයි. නැව් ගිල්වා දමයි. මුළු වනාන්තර පිටින් පෙරලා දමයි. සංගීතයෙන් හා අමුතු සද්ද බද්දෙයෙන් පිරි නගර හරහා හමා යයි. ඔහු මෙතෙක් සිතා උන්නේ සුළඟ වන තමාට සීමා නැතැයි කියාය. ඒත් දැන් මෙහි

ඉන්නා කොල්ලෙක් සුළඟට කළ හැකි දේවල් තවත් තිබෙනා බව කියයි.

"මෙන්න මේ දේට තමයි අපි ආදරයයි කියන්නෙ." තමා ඉල්ලා සිටි දෙය ලබා දීමට සුළඟ ආසක්ත බව දුටු කොලුවා කීවේය. "ආදරය ලැබෙන කොට ඔබට පුළුවනි ඕනම මැවීමක් කරන්න. ඒ වගේම ආදරය උරුම වෙනකොට වෙන්නෙ මොකක්ද කියන එක වටහා ගන්න කොහෙත්ම අවශ්‍ය නෑ. මොකද හැම දේම ඔබ තුළ සිදුවෙන නිසා. ඒ වගේ වෙලාවලට මිනිස්සුන්ට සුළඟක් බවට පවා පත් වෙන්න පුළුවනි. හැබැයි සුළඟෙන් උපකාර ලැබෙන තරමට."

ස්වභාවයෙන්ම අභිමානවත් ජීවියෙකු වූ සුළඟ කොලුවා කියමින් උන් දෙයින් ඇවිස්සුණි. එහෙයින්, සුළඟ වඩා වැඩි වේගයෙන්, කාන්තාරයේ වැලි කැට විසුරුවා ලමින් හමන්නට පටන් ගති. එහෙත් අන්තිමේදී ඊට දැන ගන්නට ලැබුණේ මුළු ලොව වටා ගමනේ යෙදුනද මිනිසකුව සුළඟක් බවට හැරවීමට තමා නොදන්නා බවයි. එසේම සුළඟ ආදරය පිළිබඳවත් හාංකවිසියක් තරම් දැන උන්නේ ද නැති.

"ඔන්න මං ලෝකෙ වටේ රවුම් ගහන නොයෙක් වෙලාවලදී දැකල තියෙනවා මිනිස්සු ස්වර්ගය දිහා බලාගෙන ආදරය ගැන කතා කරනවා." තම සීමාවන් දැන ගැනීමට ලැබීම නිසා කේන්තියෙන් පුපුරමින් සුළඟ කීය. "මං හිතන්නෙ ස්වර්ගයෙන් ඕක ගැන අහන එක වඩා හොඳයි."

"හොඳයි, එහෙම නම් මට ඒකටවත් උදව් කරන්න." කොලුවා කීවේය. "සූර්යයා බොඳ වෙලා යන තරමේ බලවත් වැලි කුණාටුවකින් මෙතන වහල දාන්න. එතකොට දෑස් අන්ධ කර නොගෙන මට පුළුවනි ස්වර්ගය දිහා බලන්න."

එවිට සුළඟ මුළු වෙර යොදා හමන්නට පටන් ගත්තෙන් අහස වැල්ලෙන් පිරුණි. සූර්යයා ද රත් පැහැ තැටියක් බවට පෙරලුණි.

දූන් කඳවුරු බිමේ කිසිම දෙයක් දකින්නට නොහැකිය. එහෙත් කාන්තාරයේ මිනිස්සු මෙම සුළඟට හොඳින් හුරු පුරුදුව සිටියෝය. සමුදුරු කුණාටුවකටත් වඩා අන්ත දරුණු හෙයින් ඔවුහු එයට කීවේ 'සිමම්' කියාය. ඔවුනගේ අසුන්ද කෑගාන්නට පටන් ගත් අතර ඔවුන් සතුව තිබූ සියලුම ආයුධ වැලි වලින් පිරුණි.

කඳු මුදුනේ උන් අණ දෙන්නන් ගෙන් එකකු ප්‍රධානියා වෙත හැරුණේය. "මං හිතන්නේ අපි මේක මෙතනින් අහවර කරල දාන එක හොඳයි."

"නෑ, මට ඕනෑ අල්ලා දෙවියන් වහන්සේගේ ශ්‍රේෂ්ටත්වය දකින්න." ප්‍රධානියා ගරු සරු නැතිව කීවේය. "මිනිහෙක් තමුන්ම සුළඟක් බවට පත්වෙන්නෙ කොහොමද කියල මට බලන්න ඕනෑ."

එසේම ඔහු ඒ අතරම, මේ වේලාවේදී බියපත්ව කතා කළ දෙදෙනා පිළිබඳව ද සිහි තබා ගත්තේය. මේ සුළඟ නතර වූ වහාම ඔහු මෙම දෙදෙනාව සිය නිලතල වලින් පහ කරනු ඇත. ඒ කාන්තාරයේ පුත්‍රයන් බිය නොහඳුනන්නන් විය යුතු නිසාවෙනි.

"සුළඟ තමයි මට ඔබ ආදරය ගැන දන්නවය කියල කිව්වෙ." කොලුවා සූර්යයාට පැවසීය. "ඉතිං ඔබ ආදරය ගැන දන්නව නං අනිවාර්යයෙන්ම විශ්වාත්මය ගැනත් දූනං ඉන්නම ඕනෑ. මොකද එය හැදිල තියෙන්නෙ ආලයෙන් නිසා."

"මට මේ ඉන්න තැන ඉඳලා..." ඉර කතා කරන්නට පටන් ගත්තේය. "මට පුළුවනි විශ්වාත්මය දකින්න. එයා

මගෙත් එක්ක අදහස් හුවමාරු කර ගන්නවා. ඉතිං අපි දෙන්නම එකතු වෙලා ගස් වැල් වලට වැඩෙන්නයි, බැටළුවන්ට ආවරණයක් හොයා ගන්නයි ඉඩ හදල දෙනවා. මං ඉන්න මෙතන ඉඳල- මං ඉන්නෙ මහ පොළොවට හුඟාක් දුරින්- මං ඉගෙන ගත්තා ආලය කරන්නෙ කොහොමද කියන එක. ඒ වගේම මං දන්නවා බැරි වෙලාවත් මම මේ ඉන්න තැන ඉඳලා චුට්ටක් හරි පහලට ආවොත් හැම දේම මිය යාවි. ඒ විතරක් නෙවෙයි, විශ්වාත්මයක් තව දුරටත් පවතින එකක් නැති වේවි. ඒ හන්දා අපි එකිනෙකා වටහා ගන්නවා. අනික් අතට අපි දෙන්නට දෙන්නා අවශ්‍යයි. මං එයාට ජීවිතය හා උණුසුම ලබා දෙන කොට එයා මට ජීවත්වීම සඳහා අරුතක් සපයනවා."

"අන්න ඒ කියන්නෙ ඔබ ආදරය ගැන දන්නවා." කොලුවා පැවසීය.

"මෙ මහා විශ්වය වටා යන නිමක් නැති චාරිකාවේදී අපි එකිනෙකා සමඟ බොහෝ දුර කතා බස් කර ඇති නිසා මං විශ්වාත්මය ගැන හොඳට දන්නවා. එයා මට කියල තියෙනවා, එයා මූණ දීල ඉන්න බරපතල ප්‍රශ්න ගැන. හැම දෙයකම ඒකීයත්වයක් තියෙනවාය කියන සත්‍යය මේ තාක් අවබෝධ කරගෙන තියෙන්නෙ ඛණිජ හා එළවලු යන මේ දෙකොටස පමණක්ය කියන එක. යකඩ තඹ වගේ වෙන්න හරි තඹ රත්තරං වගේ වෙන්නත් අවශ්‍යතාවක් නෑ. මෙ හැම දේම අසහාය ජීවියෙකු වශයෙන් තමුන්ගේ නිශ්චිත කාර්යය ඉටු කරනවා වගේම, බැරි වෙලාවත් මේ හැම දේම ලියූ මැවුම්කාර හස්තය සිය මැවීමේ ක්‍රියාදාමයේ පස්වෙනි දවසෙ නැවතුණා නං හෙම හැම දේම සාමය පිළිබඳ තූර්ය වාදනයක් වේවි."

"හැබැයි ඒත් හයවෙනි දවසකුත් තිබුණා." සූර්යයා දිගටම කියාගෙන ගියේය.

"හැම දෙයක්ම දුර ඉඳල නිරීක්ෂණය කරන නිසා ඔබ ඥාණවන්තයි." කොලුවා කීවේය. "හැබැයි ඒත් ඔබ ආදරය ගැන දන්නෙ නෑ. බැරි වෙලාවත් හයවෙනි දවසක් නොතිබ්බ නං හෙම මිනිසා කියා සත්ත්වයෙකු මේ මිහිපිට නැති වේවි. තඹ නිකම් තඹ විතරක් වේවි. මිනිරන් නිකම්ම නිකම් මිනිරන් වේවි. හැම දේටම ඊට විශේෂ වූ ඉරණමක් තියෙන බව සත්‍යයක්. ඒ වගේම කවදාහරි දවසක එම ඉරණම ජය ගනු ලබාවි. ඒ නිසා, යම් දවසක විශ්වාත්මය කියන දේ එකම එක තනි ද්‍රව්‍යයක් බවට පත් වෙනතුරු හැම දෙයකටම සිද්ධ වෙනවා පවතිනවට වඩා හොඳ තත්ත්වයට පරිවර්තනය වෙන්න. අලුත් ඉරණමක් උදාකර ගන්න."

ඒ පිළිබඳව කල්පනා කළ සූර්යයා වඩා දීප්තිමත්ව බබලන්නට තීරණය කළේය. මෙම සංවාදයේ මිහිර විඳිමින් සිටි සුළඟද වඩා වැඩි ජවයකින් හමන්නට පටන් ගත්තෙන් සූර්යාලෝකයට කොලුවාගේ දෑස් අන්ධ වීම ඉන් වැලකුණි.

"ඔන්න ඔය නිසා තමයි රස විද්‍යාව පවතින්නේ." කොලුවා කතා කළේය. "ඒ නිසා හැම කෙනෙකුම තමුන්ට උරුම නිධානය හොයාගෙන යාවි. ඇත්තටම සොයා ගනීවි. ඊට පස්සෙ එතෙක් ගත කළ ජීවිතයට වඩා හොඳ ජීවිතයක් ගත කරන්න ඔවුනට අවශ්‍යතාවක් ඇති වේවි. තවදුරටත් ලෝකයට මිනිරන් අවශ්‍ය නොවන්නා වූ දිනය එනතෙක් එය තම භූමිකාව ඉටු කරාවි. ඊට පස්සේ එයට රන් බවට හැරෙන්න සිද්ධ වේවි."

"රස විද්‍යාඥයෝ කරන්නෙ අන්න ඒ දේ තමයි. පවතින තත්ත්වයට වඩා හොඳ තත්ත්වයකට ළං වෙන්න අපි උත්සාහ දරන කොට අප වටේ තියෙන හැම දේමත්

වඩා යහපත් බවට හැරේවි කියන එකයි ඔවුන් අපට පෙන්වලා දෙන්නෙ."

"හොඳයි. ඇයි නුඹ කිව්වෙ මං ආදරේ අඳුරන්නෙ නැතිය කියලා?" සූර්යයා කොලුවාගෙන් විමසා සිටියේය.

"ආදරේ කියන්නෙ කාන්තාරයක් වගේ සදා නොවෙනස්ව ඉඳීමවත්, සුළඟ හමනවා වගේ ලෝකෙ වටේ රවුම් ගහන එකවත් නොවෙන නිසයි. ඒ වගේම ආදරේ කියන්නෙ ඔය දූන් මේ කරන්නා වගේ දුරින් ඉඳන් බලා ඉන්න එකටත් නොවෙයි. ආදරය තමයි විශ්වාත්මය වර්ධනය කරන, පරිවර්තනය කරන මහා බලවේගය. පළමු වතාවට මං ඒට ළං වුන වෙලාවෙ විශ්වාත්මය සර්ව සම්පූර්ණයි කියලා මං කල්පනා කළා. ඒත් පස්සෙන් පහු වෙනකොට එයත් මැවීමේ අනික් ස්වභාවයන් වගේම බවත්, එයටම විශේෂිත වූ වද විදීම් හා අරගලයන් පවතින බවත් මට වැටහුණා. වෙන කවුරුවත් නෙමෙයි අපි තමයි විශ්වාත්මය පෝෂණය කරන්නෙ. ඒ වගේම තමයි අපි මේ ජීවත් වෙන ලෝකය හොඳ අතට හැරෙනවද නරක අතට හැරෙනවද කියන එක තීරණය වෙන්නෙ, අපි වඩා හොඳ වෙනවද නැත්නම් නරක් වෙනවද කියන එක මතයි. අන්න එතනින් තමයි ආදරයේ මහා බලය උපදින්නෙ. මොකද ආදරෙන් බැඳෙන හැම විටම අපි පවතිනවට වඩා හොඳ තත්ත්වෙකට පත්වෙන්න මහත් සේ උත්සාහ දරන නිසා."

"මොනවද එතකොට මගෙන් නුඹට ඕන කරන්නෙ?" සූර්යයා ඇසීය.

"මට සුළඟක් බවට පත්වෙන්න ඔබේ උපකාරය ඕනෑ." කොලුවා පිළිතුරු දුන්නේය.

"ස්වභාව ධර්මය මාව සලකන්නේ ලෝකෙ ඉන්න ඥාණවන්තම ජීවියා හැටියටයි." සූර්යයා කීය. "ඒත් ඔබට

සුළඟක් බවට හරවන්නෙ කොහොමද කියන එක නම් මං දන්නේ නෑ."

"එතකොට මං කාගෙන්ද මේ ගැන අසා දැන ගන්නෙ?"

සූර්යයා මොහොතක් කල්පනාවේ යෙදුණේය. වඩ වඩාත් ළංව මේ සංවාදය අසා සිටි සුළඟට ඒ මොහොතේදී වුවමනා වූවේ සූර්යයාගේ ඥාණයටද සීමාවක් තියෙන බව ලොව හැම අස්සක් මුල්ලක් නෑර පතුරුවා හැරීමටය. විශ්ව භාෂාව කතා කරනා මේ කොලුවා හා ගණුදෙණු කිරීමට සූර්යයාට නොහැකි වී ඇත්තේ ඔහුගේ මේ සීමාවන් නිසාය.

"එහෙනම් හැම දේම ලියූ මැවුම්කාර හස්තයට කතා කරල බලන්න." සූර්යයා අවසනදී කීවේය.

සතුටින් කෑ ගෑ සුළඟ පෙරටත් වඩා වේගයෙන් හමන්නට පටන් ගති. බැමි බිඳී කූඩාරම් ඉගිල ගිය අතර බැඳ සිටි සතුන්ගේ ද රැහැන් බිඳුණි. කඳු ගැටය මත උන් මිනිස්සු සුළඟේ ගසාගෙන යාමෙන් වැලකීම පිණිස තදින් එකිනෙකා බදා ගත්තෝය.

කොලුවා මේ අතරේ සියලුම දේ ලියූ මැවුම්කාර හස්තය වෙත යොමු වුණේය. ඒසේ හැරෙද්දී, මුළු මහත් විශ්වයම නිහඬ වූ බව දැනුනෙන් ඔහු කතා කිරීමට තීරණය කළේය.

එවිට ප්‍රේමය පිළිබඳ හැඟීම් දහරාවක් සිත තුළින් ගලා ආවෙන් කොලුවා යාඥා කිරීමට පටන් ගත්තේය. අයැදුම් වලින් තොර එම යාඥාව මීට පෙර කිසිම දිනෙක ඔහු විසින් නොකරන ලද තාලේ එකක් වූවේ ඊට වදන් හෝ ආයාචනා හෝ කිසිවක් ඇතුළත් නොවූ හෙයිනි. නව තණ බිම් සොයා ගැනීමට හැකි වීම පිළිබඳව බැටළුවන්ට තුති පිදීමක් ඔහුගේ යාඥාවට ඇතුළත් නොවිණි. එසේම

එයින්, කොලුවාට තවත් වැඩියෙන් පළිඟු විකිණීමට ඉඩ ලැබේද කියා ඇසුවේ හෝ අතර මඟදී හමුවුන කාන්තාව තමා උදෙසා දිගටම බලා ඉන්නට පොළොඹවන්නැයි කියා ඉල්ලුවේ හෝ නැති. එසේම තමා මෙන්ම කාන්තාරය, සුළඟ මෙන්ම සූර්යයාද අර හස්තයෙන් ලියනු ලැබ ඇති දේ වටහා ගැනීමට තැත් දරනා බවද එසේම තම තමන්ගේ මං ලකුණු අනුගමනය කරන්නට, තනි මරකත මාණික්‍යයක ලියනු ලැබ ඇති දේ අවබෝධ කර ගන්නට තැත් දරනා බවද ඔහු එවිට අවබෝධ කර ගත්තේය. එසේම, අභ්‍යාවකාශයේ හා මහ පොළොව මත බොහෝ නිමිති විසිර ඇති බවද ඒවායේ දර්ශනය වීමත් සමඟ බැඳුණා වූ කිසිදු හේතුවක් හෝ වැදගත්කමක් නොමැති බවද ඒ සියල්ලටමත් වඩා කාන්තාරය, සුළඟ, සූර්යයා සහ මිනිස්සු යන මේ කවරෙකතුත් තමාව මවනු ලැබ ඇත්තේ කුමන හේතුවක් නිසාදැයි නොදන්නා බවද මේ අතර වාරයේදී කොලුවාට වැටහී ගියේය. එසේම මැවුම්කාර හස්තයට මේ සියලු දේ සඳහාම හේතුවක් ඇත්තේය. එසේම ප්‍රාතිහාර්යය පැමට, සමුදුරු කාන්තාර බවට පත් කරන්නට හෝ මිනිසෙක් සුළඟක් බවට පත් කරන්නට හැකියාවක් ඇත්තේද ඊට, ඊටම පමණකිය. ඒ අන් කිසිවක් නිසා නොව, සය දිනක් පුරා සිදු වූ විශ්වය මැවීමේ ක්‍රියාවලිය මහා කර්තව්‍යයක් බවට පත් කිරීමට හේතු වූවේ දෙවියන් වහන්සේ ගේ කැමැත්තය යන්න මැවුම්කාර හස්තය විසින් අවබෝධ කරගෙන තිබූ නිසාය.

මෙසේ විශ්වාත්මය කරා එළඹුන කොලුවා අන්තිමේදී වටහා ගත්තේ විශ්වාත්මය යනු දේවාත්මයේම කොටසක් බවය. එසේම දෙවියන් වහන්සේගේ ආත්මය යනු අන් කිසිවක් නොව තම ආත්මය බවද ඔහු වටහා ගත්තේය.

එහෙයින් ඔහුට එනම් මේ කොලුවාටද ප්‍රාතිහාර්යය පෑමේ හැකියාවක් ඇත්තේය.

* * *

ඊට පෙර කිසිම දිනෙක නොහැමූ අයුරින් 'සිමම්' සුළඟ ඒ දවස පුරාම හමා ගියේය. ඉන්පසු පරම්පරා ගණනාවක් යන තුරුම ආරබි ජාතිකයෝ, කාන්තාරයේ සිටියා වූ බලවත්ම ප්‍රධානියාට අභියෝග කරමින් හමුදා කඳවුරක් මුළුමනින්ම සුන්නද්දූලි කර දැමූ ප්‍රචණ්ඩ සුළඟක් බවට තමාව පරිවර්තනය කරගත් කොලුවා පිළිබඳව පුරාවෘත්තය යළි යළිත් සිහිපත් කළෝය.

අන්තිමේදී 'සිමම්' සුළගේ වේගය අඩු වෙන්නට පටන් ගත් පසුව සැම දෙනාම පාහේ කොලුවා සිටි ස්ථානයට නෙත් හෙලුවෝය. එහෙත්, තව දුරටත් ඔහු එහි සිටියේ නැති. ඒ වෙනුවට ඔහු කඳවුරට ඈතින් මුළුමනින්ම පාහේ වැල්ලෙන් වැසී ගොස් සිටි මුර භටයෙකු අසලින් සිටගෙන බලා සිටියේය.

කොලුවා විසින් කරන ලද මේ 'හූනියම' ගැන මිනිසුන් බොහෝ බියපත්ව උන්නද මිනිස්සු දෙදෙනෙකු පමණක් එහි සිනා මුවින් පසු වූවෝය. සකලාංග සම්පූර්ණ ශ්‍රාවකයා හමුවීම නිසා රස විද්‍යාඥයාද, එකී ශ්‍රාවකයා විසින් දෙවියන් වහන්සේගේ කීර්තිය අවබෝධ කර ගනු ලැබීම නිසා ගෝත්‍රික ප්‍රධානියාද මෙසේ සතුටට පත්ව සිටියෝය.

ඊළඟ දවසේදී, කොලුවාට හා රස විද්‍යාඥයාට සමු දුන් ජෙනරාල්වරයා, ඔවුන් කැමති වනතාක් දුරට ආරක්ෂාව සැපයීම පිණිස භේවා බල ඇණියක් ද ලබා දුන්නේය.

*    *    *

ඔවුහු මුළු දවස පුරාම ගමන් කළෝය. සැන්දෑව ගෙවී යද්දී ඔවුහු ඊජිප්තුවේ පිහිටි පැරණි කොප්ටික් ආශ්‍රමයක් කරා ළඟා වීමට සමත් වූවෝය. එහිදී අසු පිටින් බට රස විද්‍යාඥයා හේවා බල ඇණියට ආපසු ඔවුන්ගේ කඳවුර කරා ආපසු යා හැකි යයි කියා සිටියේය.

"ඔන්න දැන් මෙතන ඉඳල, ඔබට යන්න වෙන්නෙ තනියෙන්." රස විද්‍යාඥයා කීවේය. "දැන් ඔබ ඉන්නෙ පිරමීඩ වලට පැය තුනක ගමන් දුරක් මෙපිටින්."

"ඔබට ස්තුතියි." කොලුවා එවිට කීවේය. "ඔබ මට විශ්ව භාෂාව ඉගැන්නුවා."

"නෑ. මං ඔබ දැනටමත් දැන සිටි දෙයක් මතු කර දුන්නා පමණයි."

රස විද්‍යාඥයා ආශ්‍රමයේ දොරට තට්ටු කළේය. කළු ඇඳුමින් සැරසී සිටි පූජකයෙක් ගේට්ටුව වෙත පැමිණියේය. කොප්ටික් භාෂාවෙන් ඔවුහු මිනිත්තු කිහිපයක් කතා කළ ඉක්බිති රස විද්‍යාඥයා ළමයාට එහි ඇතුල් වෙන මෙන් පවසා සිටියේය.

"මං ඔහුගෙන් ඇහුවේ ඔවුන්ගේ කුස්සිය ටික වේලාවකට පාවිච්චි කරන්න මට ඉඩ දෙන්න පුළුවන්ද කියලයි." රස විද්‍යාඥයා සිනාසුණේය.

අනතුරුව ඔවුහු ආශ්‍රමය පිටුපසට වන්නට පිහිටා තිබූ මුළුතැන් ගෙය වෙත ගියෝය. රස විද්‍යාඥයා එහි ගිණි දල්වද්දී, පූජකවරයා මිනිරන් ටිකක් එහි ගෙනා අතර රස

විද්‍යාඥයා එය යකඩ තාච්චියක් මත තැබීය. තාච්චිය මත වූ මිනිරන් උණුව දියරයක් පත් වෙද්දී රස විද්‍යාඥයා අර කහ පැහැති අමුතු බිත්තරය සිය පසුම්බියෙන් පිටතට ගත්තේය. අනතුරුව කෙස් ගහක් තරම් වන සිහින් රිදී ප්‍රමාණයක් ඉන් සූරා ගත් හෙතෙම එය ඉටි වල දවටා මිනිරන් උණුව තිබූ තාච්චියට එය එක් කළේය.

තාච්චියේ වූ මිශ්‍රණය රත් පැහැයකට හැරී අනතුරුව මුළු මනින්ම ලේ පැහැ ගැන්වුණි. එවිට තාච්චිය ලිපෙන් බා ගත් රස විද්‍යාඥයා එය නිවෙන්නට පසෙකින් තැබීය. මෙසේ කරනා අතරතුරේදී ඔහු පූජකයා සමඟින් ගෝත්‍රික යුද්ධය පිළිබඳ කතා බහක පැටලුණේය.

"මං හිතන්නේ ඒක හුඟ කාලයක් ඇදිල යාවි කියලයි." ඔහු පූජකයාට කීවේය.

ඉන් පූජකයා කැළඹුණි. තවලම් දූනටමත් බොහෝ කලක් තිස්සේ ගීසා හි නතර වී මේ යුද්ධය නතර වෙන තුරු බලා සිටියි. "කොහොම වුනත් දෙවියන් වහන්සේගේ කැමැත්ත ඉටු වේවි." අනතුරුව පූජකයා කීය.

"හරියට හරි." එවිට රස විද්‍යාඥයා පිළිතුරු දුන්නේය.

තාච්චිය නිවුණු පසුව එයට එබී බැලූ කොලුවා හා පූජකයා යන දෙදෙනාම විශ්මයෙන් ඇළලී ගියෝය. එහි වූ මිනිරන්, තාච්චියේ හැඩයටම වියලී ගොස් තිබූ මුත් තව දුරටත් එහි වූයේ මිනිරන් නොවේ. රත්තරන්ය.

"කවදාහරි මාත් මේක කරන්න ඉගෙන ගනීද?" කොලුවා ඇසීය.

"මේක මගේ ඉරණම. නුඹේ නෙවෙයි." රස විද්‍යාඥයා පිළිතුරු දුන්නේය. "ඒත් මට ඕන කළේ මේක් කළ හැකි දෙයක්ය කියා නුඹට පෙන්නන්න විතරයි."

ඔවුහු ආශ්‍රමයේ දොරටුව වෙත ආවෝය. එහිදී, රස විද්‍යාඥයා තාච්චියෙන් බා ගත් වෘත්තාකාර රන් තැටිය කැබලි හතරකට කැඩීය.

"මේක ඔබට." ඉන් එක් කොටසක් පූජකයා වෙත දිගු කරමින් ඔහු කීවේය. "වන්දනා නඩ වලට දක්වන ත්‍යාගශීලීත්වය වෙනුවෙන්."

"ඒත් මේ ගෙවීම මගෙ තෑගිවන්තකම ඉක්මවල යනවනේ." පූජකයාගේ ප්‍රතිචාරය වූයේ එයයි.

"ඔය කතාව හෙම ආයෙත් කියන්න එපා. බැරිවෙලාවත් ජීවිතය අහගෙන හිටියොත් ඊළඟ වතාවේදී ඔබට අඩුවෙන් දේවි."

රස විද්‍යාඥයා ඊළඟට කොලුවා වෙත හැරුණි. "මේක නුඹට. අර ජෙනරාල්ට දීපුවට පිරිමැහෙන්න."

තමාට ලැබුණ කොටසේ වටිනාකමද ඔහු විසින් ජනරාල්ට දෙන ලද ප්‍රමාණයට වඩා බොහෝ වැඩි යැයි කියවෙන්නට ගිය මුත් කොලුවා වහා නිහඬ වූයේ රස විද්‍යාඥයා පූජකයාට කී දේ ඔහුටද ඇසී තිබූ හෙයිනි.

"ඔන්න, මේක මට." එක් කොටසක් තමාට වෙන්කර ගනිමින් රස විද්‍යාඥයා කීවේය. "මොකද මට ආයෙත් අර ගෝත්‍රික යුද්ධය තියෙන කාන්තාරෙට ආපහු යන්න තියෙන නිසා."

ඉතිරි වූ සිව්වෙනි කොටසද ගත් ඔහු එය පූජකයාට දුන්නේය.

"මේකත් මේ කොල්ලාට. කවදා හරි දවසක එයාට ඕන වුණොත් ගන්න."

"ඒත් මං මේ යන්නෙ මගෙ නිධානෙ හොයාගෙන." කොලුවා කීවේය. "දැන් මං ඒකට හොඳටම ළං වෙලයි ඉන්නෙ."

"නුඹ ඒක පාදා ගන්න බව මට සහතිකයි." රස විද්‍යාඥයා කීය.

"එහෙනං ඇයි මේ?"

"ඒ දැනටමත් නුඹ දෙපාරක් නුඹේ ඉතිරි කිරීම අහිමි කරගෙන තියෙන නිසා. එක වතාවක් ගෝත්‍රික ප්‍රධානියාට. ඊළඟ වතාවෙදි ජෙනරාල්ට. මම නාකි මිත්‍යා මත අදහන අරාබියෙක්. ඒ වගේම මං අපේ ප්‍රස්ථාව පිරුළු විශ්වාස කරන කෙනෙක්. අර කතාවක් තියෙන්නෙ වරක් සිදු වූ කිසිවක් යළිත් එලෙසින් සිදු නොවෙයි කියල. හැබැයි දෙවරක් සිදු වුන හැම දෙයක්ම නියත වශයෙන්ම තෙවෙනි වතාවටත් සිද්ධ වෙනවමයි."

අනතුරුව ඔවුහු අසු පිට නැග ගත්තෝය.

* * *

"හීන ගැන කතාවක් මම නුඹට කියා දෙන්න ඕනෑ." රස විද්‍යාඥයා කීවේය.

එවිට කොලුවා තම අසු ඔහුගේ අසුට තවත් ළං කර ගත්තේය.

"ටිබේරියස් කියන අධිරාජ්‍යයාගේ කාලෙ පුරාණ රෝම දේශයේ ජීවත් වුණා එක හොඳ මිනිහෙක්, පුත්තු දෙන්නෙක් එක්ක. ඉන් එක පුතෙක් හිටියෙ හමුදාවේ. ඉතිං ඒ පුතාව අධිරාජ්‍යයේ ඉතාම ඈත පළාතකට යවනු ලැබුවා. කවියෙකු වුණ අනිත් පුතා තම කවි වලින් මුළු රෝමයම සතුටු සාගරයක ගිල්වල දැම්මා."

"ඔන්න එක රාත්‍රියක මේ තාත්තා හීනයක් දැක්කා. හීනෙත් එයා ඉදිරියේ පෙනී හිටපු සුර දූතිකාවක් කිව්වා

එයාගේ පුතුන් ගෙන් එක් අයෙකු ගේ වචන මුළු ලෝකයේම මිනිසුන් විසින් ඉගෙන ගනු ලැබ මතු පරම්පරාවල් පවා යළි යළිත් මෙනෙහි කරාවිය කියල. ජීවිතය බෙහෙවින් ත්‍යාගශීලී වීම නිසාත් ඕනෑම පියෙකු අසන්නට ආඩම්බර වෙන තරම් දෙයක් දැනගන්න ලැබුණ නිසාත් ඒ තාත්තා අවදි වුණේ කෘතඥතා පිරුණු හදවතින්, ඒ වගේම කෑ ගාගෙන."

"ඊට ටික දවසකට පස්සෙ අශ්ව කරත්තෙකට යට වෙන්න ගිය දරුවෙකු බේර ගන්න ගිය අවස්ථාවක අර තාත්තා මිය ගියා. ඉතිං තමුන්ගෙ මුළු ජීවිතේම සාධාරණ, නිවැරදි ආකාරයට ගෙවාපු නිසා මේ තාත්තා කෙලින්ම ගියේ ස්වර්ගයට. අන්න එහෙදි එයාට අර හීනෙන් පෙනුන සුර දූතිකාව මුණ ගැහුණා.

"ඔබ හැමදාමත් යහපත් මිනිහෙක් වෙලා හිටියා." සුර දූතිකාව එහෙම කිව්වා. "ජීවිතේ බොහොම දයාබර විදිහට ගෙවපු ඔබ මැරුණෙත් ගෞරවණීය තාලෙටයි. ඒ නිසා දැන් මට පුළුවනි ඔබට කැමති වරයක් පිරිනමන්න."

"කවදත් මට ජීවිතේ කාරුණික වුණා." එතකොට එයා එහෙම කිව්වා. "ඉතිං ඔබ මා හමුවේ පෙනී හිටපු වෙලාවේ මට දැනුනෙ මගෙ මුළු මහත් ශ්‍රමයටම තෑගි ලැබුණයි කියලයි. මොකද මගේ පුතා ගෙ කවි මතු උපදින පරම්පරාවල් මිනිසුන් පවා කියවාවි කියල හිතුන නිසා. මටය කියල නං කිසිම දෙයක් අවශ්‍ය නෑ. ඒත් කුඩා කාලේ පටන් ආදරයෙන් රැක බලාගෙන, වැඩෙනකොට, දැන උගත් කෙනෙක් වුන දරුවෙකුගේ කීර්තිය පිළිබඳ ඕනම පියෙක් ආඩම්බර වෙනවා. සමහර විට අනාගත කාලෙදි මං මගෙ දරුවාගෙ වචන අහ දැන ගන්න සතුටු වේවි."

"එතකොට සුර දූතිකාව එයාගෙ උරයට අත තිබ්බා. එසැනින් ඔවුන් දෙදෙනා ඉදිරියේ අනාගතය දිග හැරුණා.

ඒකෙදි ඔවුන් දෙදෙනා හිටියෙ අමුතුම භාෂාවක් කතා කරපු මිනිස්සු දාස් ගාණක් වට වෙලා හිටපු විශාල බිමක් මැද."

"ඒක දැකපු මිනිහා සතුටින් වැලපෙන්න වුණා.

"මං දැනන් හිටියා මගේ පුතාගේ කවි අමරණීයයි කියලා.' කඳුළු අතරින් ඔහු සුර දූතිකාවට කිව්වා. කරුණාකරල මට කියා දෙනවද මේ මිනිස්සු කියවන්නෙ මගෙ පුතාගෙ කවි වලින් කෝකද කියලා.'

"එතකොට මිනිහට ලංවුණ සුර දූතිකාව බොහොම මිත්‍ර තාලෙට එයාව ළඟ තිබුණ බංකුවක් වෙත එක්කරගෙන ගිහින් දෙන්නම එතන ඉඳ ගත්තා."

"කවියෙක් වෙලා හිටපු ඔබේ පුතාගේ කවි මුළු රෝම අධිරාජ්‍යය පුරාම හොඳටම ප්‍රසිද්ධ වෙලා තිබුණා. සුර දූතිකාව කිව්වා. හැමෝම ඒවා රස වින්දා. ඒවට ආදරය කළා. ඒත් ටිබේරියස් ගේ පාලන කාලය ඉවර වුණ ගමන් ඒවා අමතක වෙලා ගියා. දැන් මේ මොහොතේ ඔබ අහන්නෙ හමුදා සේවයේ උන්න ඔබේ පුතාගේ වචනයි.

"ඒ පාර මිනිහා මහා පුදුමයෙන් සුර දූතිකාව දිහා බැලුවා.

"බොහොම දුර බැහැර සේවයට ගිය ඔබේ පුතා සේනාධිනායක කෙනෙක් වුණා. එක හැන්දෑවක ඔහුගේ එක සේවකයෙක් ලෙඩින් වැටිලා මැරෙන්න යනව වගේ පෙනුණා. මිනිස්සුන්ගේ ලෙඩ සුව කරන්න පුළුවන් රබ්බි කෙනෙක් ගැන අහන්න ලැබිලා ඔබේ පුතා අසු පිටින් ඔහුව හොයාගෙන දින ගණනක් පුරා ඇවිද්දා. අතරමඟදී ඔහු දැන ගත්තා තමුන් මේ හොයාන යන්නෙ දෙවියන් වහන්සේගේ පුත්‍රයාය කියන එක. මෙහෙම යද්දී අර රබ්බිවරයා විසින් සුවකරන ලද මිනිස්සු මුණ ගැසුණාම ඔවුන් එම රබ්බිවරයාගේ ඉගැන්වීම් ඔහුට කියා දුන්නා. අන්න එතකොට තමුන් රෝම සේනාධිනායකයෙක්ය කියන

එකත් නොතකා ඔහු ඔවුන්ගේ ආගමට හැරුණා. ඊට ටික දවසකට පස්සෙ ඔහු එතෙක් සොයා ඇවිද්ද පුද්ගලයා හිටපු තැනට ලඟා වුණා.

"කෙලින්ම ඔහු ළඟට ගිය ඔබේ පුතා තමුන්ගේ සේවකයෙක් හොඳටම අසනීප වෙලා ඉන්නා බව කිව්වා. එතකොට රබ්බිවරයාත් ලෙඩා හිටපු සේනාධිනායකයගෙ ගෙදරට එන්න සූදානම් වුණා. ඒත් දැන් භක්තිමත් ශ්‍රාවකයෙක් වෙලා හිටපු සේනාධිනායකයා, රබ්බිවරයා දිහා බලපු ගමන්ම දැනගත්තා තමන් මේ ඉන්නෙ දෙවියන් වහන්සේගේ පුත්‍රයා හමුවේය කියලා."

"එතකොට ඔබේ පුතා කිව්වේ මෙන්න මේකයි. සුර දූතිකාව අර තාත්තට කිව්වා. මේවා තමයි ඔබේ පුතා එතැනදී රබ්බිවරයාට කියපු වචන. ඒ වගේම ඒ වචන නම් ආයෙ කවදාවත් අමතක වෙලා ගියේ නෑ."

"මගේ දෙවි පියාණනි, මගේ වහල යටට පැමිණෙන්නැයි ඔබතුමා කැඳවීමට තරම් මම නුසුදුස්සෙක්මි. එහෙත් කරුණාවෙන් එකම එක වදනක් පවසනු මැනවී. එසැනින් මගේ සේවකයා සුවපත් වෙනු ඇත්තේය."

රසවිද්‍යාඥයා මෙහිදී මෙසේ කීවේය: "එයා කරපු දේ නෙවෙයි වැදගත්. මහ පොළොව මත ඉන්නා හැම මිනිහෙකුම ලෝක ඉතිහාසය තුළ ප්‍රධාන භූමිකාවක් ඉටු කරනවා. ඒත් සාමාන්‍යයෙන් ඔහු ඒ කුමක්දැයි කියා දැන ගන්නේ නම් නෑ."

කොලුවා සිනාසුණේය. ජීවිතය පිළිබඳව වන ප්‍රශ්න එඬේරෙකුට මේ තරම් වැදගත් වේය කියා නම් ඔහු කිසිම දිනෙක සිහිනෙනුදු සිතා තිබුණේ නැති.

"ආයුබෝවන්." රස විද්‍යාඥයා ළමයාට සමු දුන්නේය.

"ආයුබෝවන්" කොලුවාද ඔහුගෙන් සමු ගත්තේය.

* * *

තම හදවතට පැවසීමට ඇත්තේ කුමක් දැයි බොහෝ උනන්දුවෙන් සවන් දෙමින් කොලුවා තවත් පැය ගණනාවක් පුරා කාන්තාරය මැදින් හුදකලාව අසු පන්නාගෙන ගියේය. ඔහුට උරුම නිධානය සැඟවී ඇත්තේ කොතනදැයි කියා පවසනු ඇත්තේ ඔහුගේ හදවතයි.

"ඔබේ නිධානය කොහිද ඔබේ හදවතත් එහිම තිබෙනු ඇත්තේය." රස විද්‍යාඥයා ඔහුට එසේ කියා තිබුණේය.

එහෙත් දැන් ඔහුගේ හදවත පවසමින් උන්නේ වෙනත් දේවල්ය. එය ආඩම්බරයෙන් පැවසුවේ දෙවතාවකදී දුටු සිහිනයක් ලුහුබැඳ යාම සඳහා බැටළු රංචුව අතැර දමා පැමිණි එඬේරෙකු පිළිබඳ කතාවයි. තම යුගයේ විසූ මිනිසුන් හමු වෙමින් දුර බැහැර භූමි ප්‍රදේශයන් හෝ රූමත් ළඳුන් සොයා යමින් උන්නා වූ බොහෝ මිනිසුන් හා ඔවුනගේ ඉරණම පිළිබඳ කතාවයි. සංචාරකයන්, සොයා ගැනීම්, පොත් පත් හා වෙනස්වීම් පිළිබඳ කතාවයි.

ඔහු යළිත් තව වැලි පරයක් තරණය කරන්නට සැරසෙන විටම, හදවත ඔහු අමතා මෙසේ කෙඳිරුවේය. "

"ඔබ වෙත කඳුළු ගෙන එන්නා වූ ස්ථානය ගැන ප්‍රවේශම් වන්න. මා ඉන්නේ අන්න එතැනයි. එසේම ඔබේ නිධානයද තිබෙන්නේ එතැනයි."

කොලුවා හෙමිහිට වැලි කන්ද නගින්නට පටන් ගත්තේය. තරු පිරි අහස අරා යළිත් වරක් සඳ මෝදු වුණාය. මේ වන විට ඔහු ක්ෂේම භූමියෙන් පිටව අවුත් මසක් ඉක්ම

ගොසිනි. රළ පෙරළෙන සමුද්‍රක අයුරක් මවා පාමින් සඳ එළිය වැලි කඳු අතර සෙවනැලි සිතුවම් කළාය. ඒ දුටු කොලුවාට සිහිපත් වූයේ කාන්තාරය මැද පසු ගාත් වලින් හිටගෙන දඟලන්නට ගත් අශ්වයා පිට නැග හුන් රස විද්‍යාඥයා තමාට හමු වූ මොහොත ගැනය. ඉදින්, මේ අතරේ සඳ කාන්තාරේ නිහැඬියාව මත, එසේම නිධානයක් උදෙසා වන මිනිසකුගේ චාරිකාවක් මත සිය කිරණ විහිදා ලූවාය.

අන්තිමේදී කඳු ගැටය මුදුනට ළඟා වූ විට දුටු දෙයින් කොලුවාගේ හදවත ඉපිල ගියේය. එහි සිට බලන ඔහු දුටුවේ සඳ එළියේ ප්‍රභාවෙන් හා කාන්තාරයේ දීප්තියෙන් නැහැවී, ඉදිරියේ නැගී සිටියා වූ අභිමානවත්, මහානුභාව සම්පන්න ඊජිප්තු පිරමීඩයන්ගේ දර්ශනයයි.

එසැනින් දනින් වැටුන කොලුවා වැලපෙන්නට පටන් ගත්තේය. තම ඉරණම විශ්වාස කිරීමට පෙළඹවීම ගැන, රජකු, වෙළෙන්දෙකු, ඉංග්‍රීසිකාරයෙකු, රස විද්‍යාඥයෙකු හමුවෙනු පිණිස තමා ඉදිරියටම මෙහෙයවීම ගැන ඔහු ඒ මොහොතේ දී දෙවියන් වහන්සේට තුති පිදීය. ඒ සියල්ලටත් වඩා සැබෑ ආදරය කිසි විටෙකත් මිනිසකුව සිය ඉරණම සොයා යන ගමනින් වලකන්නේ නැති බව කියා දුන්නා වූ කාන්තාරයේ ස්ත්‍රියක මුණ ගැසීම පිළිබඳව ඔහු උන්වහන්සේට තුති පිදුවේය.

ඉදින්, දූන් අවැසි නම් ඔහුට නැවත ක්ෂේම භූමිය වෙත යන්නට, ෆාතිමා වෙත ගොස් එඬේරෙකු මෙන් සරල ජීවිතයක් අරඹන්නට පිළිවන. මේ සියල්ලටම පසුව, විශ්ව භාෂාව ඉතා හොඳින් දූන සිටියේ වී නුමුදු එසේම මිනිරන් රත්තරන් බවට හැරවීමේ ශිල්පයද දූන සිටියේ වී නමුදු රස විද්‍යාඥයා ජීවිතය ගෙන යාම සඳහා ආපසු කාන්තාරය වෙත ගොසින්ය. තම ශිල්පය හෝ විද්‍යාව වෙතත් කිසි

කෙනෙකුට හෝ කියා දීමට ඔහුට අවශ්‍යතාවක් නැත. මෙහිදී තම ඉරණම සොයා ගිය මේ ගමනේදී දැන ගැනීමට අවශ්‍යව තිබුණා වූ සියල්ල දැන උගත් බවත් සිහින දුටු සියල්ලම අත් විඳි බවත් කොලුවා තමාටම කියා ගත්තේය.

එහෙත් තම නිධානය සොයා ගැනීමේ අවසාන අවදියට එළඹ සිටින මේ මොහොතේදී ඔහුට සිහිපත් වූවේ, කිසිම ව්‍යාපෘතියක් එහි අරමුණ ජය ගන්න තුරාවට සම්පූර්ණත්වයට පත් නොවන බවයි. එම කල්පනාවෙන් යුතුව තමා වටා විහිද ඇති වැලි තලය මත නෙත් යොමු කළ කොලුවා තම කඳුළු පොලොව මත පතිත වූ තැන ස්කැරට් කුරුමිණියෙකු වැල්ල සාරමින් ඉන්නා බව දුටුවේය. කාන්තාරය තුළ ගෙවූ මේ කාලය තුළදී කොලුවා, මෙම ස්කැරට් කුරුමිණියන් ඊජිප්තුව තුළ දේව සංකේතයක් සේ සලකනු ලබන බැව් දැනගෙන සිටියේය.

"මෙන්න තවත් නිමිත්තක්." කොලුවා වහාම වැලි කන්ද සාරන්නට පටන් ගති. එසේ කරන විට ඔහුට සිහිපත් වූවේ වරක්, පළිඟු වෙළෙන්දා විසින් පවසන ලද්දා වූ දෙයකි. තමන්ට අවැසි නම් සිය ගෙවත්තේ වුව පිරමීඩයක් සාදාගත හැකිය. එහෙත් කොලුවාට දැන් නම් පෙනුණේ, ඉතිරි මුළු ජීවිත කාලයම ගලක් මත ගලක් තබමින් වෙර දැරුවද තමාට එසේ කළ නොහැකි බවය.

මුළු රැය පුරාමත් වෙහෙසී තමා තෝරා ගත් ස්ථානය දිගටම සාරාගෙන ගියද ඔහුට ලැබුණ දෙයක් නොමැත. ගෙවී ගියා වූ ශත වර්ෂ ගණනක් වූ කාලයේ බරින් තමා මිරිකෙනු කොලුවාට දැනුණි. එහෙත් නැවතුනේ ඔහු නම් නොවේ. ඔහුගේ දෑතින් හාරන ලද වලට යළි යළිත් වැලි වලින් දමා ගසමින් විටින් විට හමා ගියා වූ සුළඟ හා ඔට්ටු වෙමින් කොලුවා දිගින් දිගටම වල හෑරීමේ සටන ගෙන ගියේය. දෑත් සීරී, වෙහෙසට පත් වුනද ඔහු තවමත් සිය

හදවතට සවන් දී ගත්වනම වැඩ කරගෙන ගියේය. එය ඔහුට කියා සිටියේ සිය කඳුළු වැටුණා වූ තැන නොනැවතී හාරන ලෙසය.

මෙසේ හැරීමේදී හමු වූ ගල් කුට්ටි තම දෑතින් ඉවතට ඇදීමට වෙර දරද්දී ඔහුට ළං ළංව එන පියවර හඬවල් ඇසෙන්නට පටන් ගති. අඳුරු ඡායාවන් කිහිපයක් ඔහු වෙත ළං වුණි. සඳ එළියට පිටුපා පැමිණි ඔවුන්ගේ මුහුණු හෝ දෑස් කොලුවාට දකින්නට ලැබුණේ නැති.

"මොනවද උඹ ඔතන කරන්නෙ?" ඉන් එක් ඡායාවක් ප්‍රශ්න කළේය.

බියෙන් තැති ගැනී ගිය හෙයින් කොලුවා වදනකුදු නොදෙඩීය. තම නිධානය සොයාගෙන සිටි ඔහු දූන් ඉතින් මොනවා නම් සිදු වේදැයි බියපත් වුණේය.

"අපි ගෝත්‍රික යුද්ධෙන් අනාථ වෙච්ච මිනිස්සු. දූන් අපිට ඕනෑ සල්ලි." තවත් ඡායාවක් පැවසුවේය. "මොනවද උඹ ඔතන හංගන්නෙ?"

"මං මොනවත් හංගනව නෙවෙයි." කොලුවා පිළිතුරු දුන්නේය.

එහෙත් කොලුවා වෙත කඩා පැන්න එකෙකු ඔහුව එතැනින් ඉවතට ඇද දැම්මේය. මේ අතරේ කොලුවාගේ මළු අවුස්සමින් උන් වෙනත් එකෙකු විසින් රන් කැබැල්ල සොයා ගන්නා ලදී.

"මෙන්න මූ ළඟ රත්තරං තියෙනවා." ඔහු කෑ ගැසුවේය.

මෙවිටම කොලුවාව ඇද දැමූ අරාබියාගේ මුහුණ මත සඳ එළිය පතිතව දිදුලූ බැවින් කොලුවා එසැණින් ඒ මුහුණේ වූ මරණයේ සංඥාව ඇඳින ගත්තේය.

"සමහර වෙලාවට මූ තවත් රත්තරං මෙතන වළ දාලා ඇති."

ඉන්පසුව ඔවුහු කොලුවා ලවා බලයෙන් බිම සැරුවද හමුවුන දෙයක් නැති. එහෙයින් ඉර උදාව වන විට මිනිස්සු ඔහුට ගුටි බැට දෙන්නට පටන් ගත්හ. ඉන් කොලුවාගේ මුළු ගතම සීරී, ලෙයින් නෑවී, ඇඳි වත කැබලි වලට ඉරී ගියෙන්, දූන් ඉතින් නම් මරණය අත ළඟ යැයි ඔහුට දැනෙන්නට වී.

"මැරෙන්න නං නියම වෙලා තියෙන්නෙ. ඒ වගේ වෙලාවට නුඹට සල්ලිවලින් ඇති පලේ මොකක්ද? සල්ලි වලින් කෙනෙකුගේ පණ බේරෙන්නෙ එහෙමත් වෙලාවක තමයි." රස විද්‍යාඥයා එසේ කියා තිබුණි. අන්තිමේදී කොලුවා මිනිසුනට කෑ ගැහුවේය. "මං මේ හාරන්නෙ නිධානයක් පාදා ගන්නයි." මෙසේ මුව පිපිරී, ලෙයින් පිරී තිබුණද, ඊජිප්තුවේ පිරමීඩ අසල වළලා ඇති නිධානයක් පිළිබඳව තමා දූනටමත් දෙවරක් සිහිනෙන් දූක ඇති බැව් කොලුවා තම වධකයනට කියා සිටියේය.

මෙවිට රංචුවේ නායකයා, සේ පෙනුණ මිනිසා අනික් අය ඇමතීය. "ඔන්න ඕකව අතෑරලා දාපල්ලා. ඕකා ළඟ ඇති කෙංගෙඩියක් නෑ. නිච්චියටම උෟ මේ රත්තරං කැල්ල හොරකම් කරල වෙන්නෝනෑ."

සිහි විසඥ වීමට ඔන්න මෙන්න කියා සිටි කොලුවා එහෙමම වැල්ල මත ඇද වැටුණි. නායකයා ඔහුව සොලවමින් කතා කළේය.

"ඔන්න බං අපි නම් යන්න යනවා."

එහෙත් පිටව යාමට මත්තෙන් යළිත් එතැනට පැමිණි ඔහු කොලුවාට කතා කළේය. "බය වෙන්නෙපා. උඹ මැරෙන්නෙ නෑ. ජීවිතේ බේරේවි. ඒ වගේම එතකොට මිනිහෙක් කවමදාවත් ඔය තරම් මොට්ට මෝලෙක් වෙන්න හොඳ නෑ කියන එකත් උඹ පාඩමකට ඉගෙන ගනීවි. දූනට

අවුරුදු දෙකකට කලියෙන්, හරියටම මෙතැනදී මමත් එකම හීනෙ ආයෙමත් දැක්කා. මගෙ හීනෙං කිව්වේ ස්පාඤ්ඤයේ ඈත කෙත් යායක් හොයාගෙන ගිහින්, එඬේරු තමුන්ගේ බැටළුවො එක්ක නිදාගන්න එන ගරා වැටුණු පල්ලියක් හොයා ගන්න කියලයි. ඒ හීනෙදි ගරා වැටුන නටඹුන් අතරේ පූජාසනය තිබ්බ තැන සිකමෝර් පඳුරු වැවිල තිබ්බ. ඒ වගේම මට හීනෙං කිව්වා අර සිකමෝර් පඳුරු වල මුල් තියෙන තැන පොළොව හෑරුවොත් සැඟවුන නිධානයක් හම්බු වේවි කියලත්. ඒත් මම නං කවමදාවත් ඔය ආයෙ ආයෙ පේන හීනයක් මත්තෙ වැටිල මේ මහ කාන්තාරයක් ගෙවාන යන්න තරම් මෝඩ වුණේ නෑ."

අනතුරුව ඔවුහු යන්නට ගියෝය.

වැනි වැනී නැගිට ගත් කොලුවා යළිත් වරක් පිරමීඩ දෙස බලා සිටින්නට විය. ඔහුට පෙනුණේ ඒවා හසරැළි නගනා බවයි. එහෙයින් ඔහුද පෙරළා සිනාසුණි. දැන් ඔහුගේ හදවත තිබුණේ ප්‍රීතියෙන් ඉපිල යමිනි.

ඒ මක් නිසාදැයි කිවහොත් දැන් ඔහු තමාට උරුම නිධානය තිබෙන්නේ කොහේදැයි මනාව අවබෝධ කරගෙන සිටි හෙයිනි.

අඳුර වැටෙන්නට පටන් ගන්නා විටම කොලුවා එම අතහැර දැමුන පල්ලිය වෙත ළඟා වුණේය. පූජාසනය පැවති තැන එවිටද සිකමෝර් පඳුරු තිබූ අතරම අඩක් වැනසුන වහලය තුළින් තවමත් අහසේ තාරකා දිස් වුණි. තම බැටළු රංචුව සමඟින් එහි නැවතී සිටි කාලය පිළිබඳව කොලුවාට යළිත් එම මොහොතේදී සිහිපත් විය. අර නිධානය නොවන්නට... එය බොහෝ සාමකාමී රාත්‍රියක් වී.

දැන් ඔහු යළි එහි සේන්දු වී ඉන්නේ බැටළු රංචුවක් සමඟින් නම් නොවේ. සවලක් අතැතිවය.

කොලුවා බොහෝ වෙලාවක් එහි වාඩි වී අහස දෙස බලා උන්නේය. අනතුරුව තම ඔලොගුවෙන් වයින් බෝතලයක් ගත් ඔහු ඉන් ටිකක් පානය කළේය. එවිට ඔහුට සිහිපත් වූවේ රස විද්‍යාඥයා සමඟින් කාන්තාරය මැද හිඳගෙන දෙදෙනා එක්ව වයින් පානය කරමින් අහසේ දිළි තාරකා නැරඹූවා වූ අතීත රාත්‍රියයි. තම පය ගැටුන විවිධ මං මාවත් ගැන සිහිපත් කළ කොලුවා දෙවියන් වහන්සේ විසින් තමා හට හිමි නිධානය පෙන්වා දීම සඳහා භාවිතා කරන ලද අමුතු ක්‍රියාමාර්ගය ගැනද කල්පනා කළේය. ඉදින් යම් හෙයකින් ඔහු මෙම නැවත නැවත දුටු සිහිනයේ

වැදගත්කම වටහා නොගන්නට අර අභිකුණ්ටික කාන්තාව, රජ, චෞරයා හෝ මේ කිසිවෙකුත් හමු නොවෙන්නට තිබුණි. හොඳයි... එය නම් මහා දිග ලැයිස්තුවකි. මොනවා වුනත් යා යුතු මාර්ගය නිමිති වලින් සලකුණු කර තිබුනනේ. ඒ හන්දා මට වරදින්න නම් කොහොමටවත් ඉඩක් තිබ්බේ නෑ. ඔහු තමාටම කියා ගත්තේය.

අනතුරුව නින්දට වැටුන ඔහු යළි අවදි වෙද්දී හිරු මුදුන් වී තිබුණි. නැගිටගත් කොලුවා සිකමෝර් පඳුරු වල මුල් අසලින් පොළොව හාරන්නට පටන් ගත්තේය.

"ආ... නුඹ හූනියම්කාර නාකියා." කොලුවා අහස දෙස හැරී කෑ ගැසීය. "නුඹ මුළු කතාවම හොඳටම දන්නවා. මට ආපහු මේ පල්ලියට එන්න ඉඩ ලැබෙන විදිහට නුඹ රත්තරං කෑල්ලක් පවා අර ආශ්‍රමයේ තියල ආවා. වැරහැලි එල්ලාගෙන ආපහු ආපු මාව දැක්කම අර පූජකයත් හිනා වුණා. ඉතිං මාව ඒකෙන් ගලවාගන්න නුඹට පුළුවන්කමක් තිබ්බේ නැද්ද?"

"නෑ." සුළඟේ දැවටී ආ හඬකින් පිළිතුරු නිකුත්වෙනු ඔහුට ඇසුණි. "මං ඒ ගැන නුඹට කිව්වා නම් හෙම කවදාවත් නුඹ පිරමිඩ දැක බලාගන්නෙ නෑ. ඒවා හරිම ලස්සන දේවල්. හොඳයි නැද්ද?"

මඳ සිනා පෑ කොලුවා දිගටම හෑරීමේ නිරත විය. පැය භාගයක් ගත වෙද්දී ඔහුගේ සවල කිසියම් ඝණ දෙයක ගැටුනේය. පැයක් පමණ ගතවෙද්දී ඔහු සිටගෙන උන්නේ ස්පාඤ්ඤ රන්කාසි පිරවූ පෙට්ටගමක් අභිමුවෙහිය. එහි බොහෝ වටිනා ගල් වර්ගද, රතු හා සුදු පිහාටු වලින් අලංකාර කරන ලද රනින් නිමවූ මුහුණු ආවරණයක් ද, රන් හා මැණික් එබ්බ වූ ශිලා ප්‍රතිමාවක්ද තිබුණේය. ඒ වනාහී බොහෝ කලකට ඉහත දී මතකයෙන් ඈත් වී ගිය, එසේම

විජයග්‍රහණයේ උරුම කරුවන් හට තම දරු පරපුරට පැවසීමට අමතකව ගියා වූ, යුද්ධයකදී අත්පත් කරගන්නා ලද වස්තු සම්භාරයකි.

කොලුවා සිය ඔළොගුවෙන් උරිම් හා තම්මිම් එළියට අර ගත්තේය. ඔහු එහි බලය උරගා බලා තිබුණේ මීට කලින් එකම එක වරක්, එනම් ගෙවී ගියාවූ එක් උදෑසනක, වෙළඳ පොළක් මැද සිටි අවස්ථාවේදී පමණි. ඔහුගේ ජීවිතයට මෙන්ම, ඔහුගේ මාවත දිගටම වෙනත් පෙර නිමිති ඇති පදම් හමුවී තිබුණේය.

ඔහු උරිම් හා තම්මිම් ද වස්තුව තිබූ පෙට්ටගම තුළ තැන්පත් කළේය. යළිත් කිසිම කිසි දිනෙක ඔහුට දකින්නට නොලැබෙන්නා වූ මහලු රජු පිළිබඳව මතක වස්තුවක් වන හෙයින් ඒවාද දූන් ඔහුගේ ජීවිතයේම කොටස් බවට පත්ව ඇත්තේය.

ජීවිතය සැබැවින්ම, තම උරුමය ලුහුබැඳ යන්නවුන් හට ත්‍යාගශීලී වන්නේ යැයි කියා කොලුවා කල්පනා කළේය. එහෙත් ඒ සමඟින්ම යළිත් පොරොන්දු වූ පරිදිම අත්පත් කරගත් වස්තුවෙන් දහයෙන් පංගුවක් අර අභිකුණ්ඩීක ගැහැණියට දීම සඳහා තමා ආපසු ටාරිෆාවට යා යුතු බවද ඔහුට සිහිපත් වුණි. "මේ අභිකුණ්ඩීකයෝ නම් හරි කදිම ජාතියක්නෙ." ඔහු කල්පනා කළේය. ඔවුන් ලොව වටේ මේ තරම් කරක් ගසන්නේ මේ නිසා විය යුතුය.

සුළඟ නැවතත් හමන්නට පටන් ගත්තේය. ඒ වනාහී ලැවෙන්ටරයයි. එනම් අප්‍රිකාවේ සිට හමා ආවා වූ සුළඟයි. එහෙත් ඉන් රැගෙන ආවේ කාන්තාරයේ සුගන්ධය හෝ මරක්කල ආක්‍රමණයක අනතුර නම් නොවේ. සුළඟ ඒ වෙනුවට තමුන් සමඟින් කැන්දාගෙන ආවේ ඔහු හොඳින්

දැන සිටි විලවුන් සුවඳක හා උණුසුම් හාදුවක - ඔහුගේ දෙතොල් මත ලැඟුම් ගන්නා තෙක් බොහෝ ඈත සිට හෙමි හෙමින් හමා ආ හාදුවක - පහසයි.

කොලුවා මඳ සිනා පෑවේය. ඇය එබන්දක් කළ ප්‍රථම අවස්ථාව එයයි.

"මං නුඹ හොයාන එනවා ෆාතිමා!" අනතුරුව ඔහු කීවේය.